

**1880** **1980**

# මාණික්කාවත

ප්‍රබන්ධ කතාව

## මහින්ද ප්‍රසාද් මස්ඉඹුල



ඒ සුළං ධාරාවෝ සියල්ල විඳදරාගෙන
සෙනෙහසින් වැඩ වාසය කළහ

# මාණික්කාවත

## (ප්‍රබන්ධ කතාව)

"මිනිස් සංහතියට ප්‍රාණය සැපයූ
ස්වකීය සෙනෙහෙ ධාරාවන්
හුස්මෙන් හුස්මට පිවිස
හැඟීම් හා මුහු ව
සසර පුරා කළ අරගලය
නොනිම් වෙහෙස මහන්සිය,
තැවුල් සන්තාප ගහන එකක් ම විය...

එසේ වුව ද
එය උදාර වූ
ජීව රහස් පිරි සුළං පොටකින්
සදාකල්හි ම වෙළී පැවතිණි..."

කර්තෘගේ වෙනත් නිර්මාණ

කාව්‍ය සංග්‍රහ

හිරුත් හිම පියල්ලක (2010)
- විශිෂ්ටතම කාව්‍ය සංග්‍රහය රාජ්‍ය සාහිත්‍ය සම්මානය
- ප්‍රතිභාපූර්ණ කුසලතාව වෙනුවෙන් ගොඩගේ සාහිත්‍ය සම්මානය

ඇහි පියන් අහැරිලා (2012)
- විශිෂ්ටතම කාව්‍ය සංග්‍රහය විදෙ‍ෝදය සාහිත්‍ය සම්මානය

රූපවාහිනී තිර රචනා

පිනි වැස්ස (ප්‍රාසංගික)
අහසින් වැටුණු ගැහැනියක් (ප්‍රාසංගික)
සෙනෙහෙ අරණ (ඒකාංකික)

නවකතා

සෙංකොට්ටං
-විශිෂ්ටතම නවකතාව (2012)
-රාජ්‍ය සාහිත්‍ය සම්මාන
-ගොඩගේ සාහිත්‍ය සම්මාන
-විදෙ‍ෝදය සාහිත්‍ය සම්මාන
-ස්වර්ණ පුස්තක අවසන් වටය සඳහා නිර්දේශිත

# මාණික්කාවත

(ප්‍රබන්ධ කතාව)

මහින්ද ප්‍රසාද් මස්ඉඹුල




www.santhawaprakashana.com
facebook - santhawa prakashana

## මාණික්කාවත

පළමුවන මුද්‍රණය - 2015 අගෝස්තු
දෙවන මුද්‍රණය - 2015 සැප්තැම්බර්
තුන්වන මුද්‍රණය - 2015 සැප්තැම්බර්
සිව්වන මුද්‍රණය - 2016 පෙබරවාරි
පස්වන මුද්‍රණය - 2016 අප්‍රේල්
හයවන මුද්‍රණය - 2016 ජූලි





ISBN 978-955-0980-23-9

භාෂා සංස්කරණය
ළහිරු කරුණාරත්න

විශේෂ ප්‍රණාමය
ජයත් පියදසුන්

අක්ෂර සංයෝජනය
නිමල්කා ඉඳුනිල් හේමන්ත

පරිගණක පිටු සැකසුම
නිශී Creations
0718028311

කතුවර ඡායාරූපය
සංඛ සම්මාන පෙරේරා

පිටුවැසුම් නිමැවුම - නඳුන් යසිත දසනායක

මාණික්කාවත නිර්මාණාත්මක අක්ෂර
ඩොමිනික් චන්ද්‍රසාලි

මුද්‍රණය - I.C. Print Care - 0777 380 159

ප්‍රකාශනය
සන්ථව ප්‍රකාශන
68A/116,
ඉසුරු මාවත,
ගම්පහ පාර,
යක්කල.
0113476740, 0773527337
www.santhawaprakashana.com
facebook-santhawaprakashana


සංසාර කන්නය පුරාවට
මහ පොළෝ කය මෙල්ල කොට සීරුවට
අඳ දිවි පැතුම් වපුරා වැහි ලද,
දරු-මුනුපුරන් සරි අස්වනු
මඳ සිනා සහිත ව
ඔසවාගෙන ගොස්
සිටු මැඳුරු දොරකඩ තබා
ආපසු ගෙදර එන ගමනේ
කවුරුත් නැති හරියක දී
පිට වුණු
ඒ සැම සුසුමක් උදෙසා ම
හිස නමා හමයි මේ සුළං

හිස නමා හිඳියි මේ අකුරු



# එකමත්

## 1

දිනයක හිරු උදා වෙද්දී සුළඟ වැඩි කලබලයකින් තොර ව ඒ අවට සැරිසරමින් තිබිණි. එදින සිදු වූ ඉතා මත් ම වැදගත් දේ වන්නේ කලාතුරකින් වත් මිනිස් පහසක් නොලත් ඒ ගන කළු වන බිමේ තෝරාගත් තැනකට තවත් එක් අපූරු මිනිස් ජීවියෙකු විසින් සිය පළමුවන උදලු පහර එල්ල කරනු ලැබීම ය.

මැතින් වූ මොර ගහට බඹ කිහිපයක් පහළින් තිබුණු තුඹසකට හිස ඔබා වේයන් උරමින් උන් කබැල්ලෑවා වහා හිස ඔසවා ඒ නුහුරු සද්දය නිසා ම තුඹසෙන් මිදී යාබද කැකිල්ල ගොල්ලට වැදී නොසෙල්වී සිටියේ ය. පහළ දොළ සීමාවේ ගමන් කරමින් උන්, ලොකු පූසෙකුටත් වඩා තරමක් විශාල කොළ දිවියා ද විමසිලිමත් විය. උගේ මූලික වුවමනාව වූ ආහාර පිළිබඳ කල්පනාවෙන් ම ඌ මහ ඉඹුල් ගස දෙසට වැදී නොපෙනී ගියේ ය. ඒ ගත වූ මාසේ පෝය දිනෙන් පසු අහස වෙනස් වී මීට දින කිහිපයකට පෙර පළමු වැසි පොළොවට පතිත වී වනාන්තරය සන්තෝෂ වන සමය යි.

මහා සබරගමු කඳු තීරයේ ඉහළින් පිහිටි සිංහරාජ වැසි වනාන්තරය හේතුවෙන් පොළොව තෙත් වී පෙඟී යන අතර, ගව් ගානක් දුර පහළ පෙදෙසට වන්නට බෑවුම වියළී ගොස්, ඈත දියබඩ ගම් පත්තුව දෙසට විහිදී තුනී වී යයි. සබරගමු කඳු සවිමත් කළ පරිවාර කඳු පන්තීන් වූ බුළුතොට, ඉත්තෑ, නෑදොළ, ගොන්ගල, පන්විල් කඳු නිසංසල ව නැගී හිඳ පහළ අටකළං කෝරලය කරා විහිද ගිය බිම්වලට තේජස සපයයි. මේ සියල්ලන් එක් වී මවන තෙත් ගතිය සන්තෝෂයෙන් ඉපිලී යළි උපත ලබන්නේ 'උල්පත්' නම් වූ සීහිලැති නමින් ය. මහ පොළොවේ තැන තැන මතු වූ එවන් උල්පත් සිය දහස් ගණනක් දිය දහර වෙමින් ධනවත් වෙමින් බෑවුම් සොයසොයා පල්ලම් බසින්නේ ගහකොළවලටත් උදාර වූ මහ පොළෝ හදවතටත් අප්‍රමාණ සෙනෙහසක් විය-හියදම් කරමිනි. එවන් සීහිලක වැඩෙන වැලක පැටි පසුරක් උස් ගස් අතු බාහුවක දෑවටී කෙමෙන් ඉහළට ගොඩවන්නේ ඉදිරි ජීවිතය සතුටෙන් යුතු ව ගත කිරීමට නිසි මඟ සොයාගැනීමේ ආඩම්බරය පෙරදැරි ව ය.

මේ කෙටිහාමි නම් වූ පුංචි සිරුරක් ඇති තරුණ මිනිසා එවන් අපූරු නුහුරු බිම් තීරයක සිය ජීවිතය ඇරඹීමට තීරණය

සුබ වේලාව යි. ඔහුගේ නන්නාඳුනන කර, පළමු වන පියවර තබන ඒ 'පිච්චි' ඔහු අසල හිඳී. ඉමක්-කොනක් ගැහැනිය වූ දාහත් වයසැති අවිනිශ්චිත බව පමණ නොපෙනෙන කළු වනාන්තරය පුරා පවතින බලාපොරොත්තුව වී තිබේ. ඔවුහු ක් ඔවුන්ගේ අනාගතයේ එක ම පටන් සූදානම් ව දෙදෙන මෙදින මේ කාරිය සඳහා ඊ කළුවරේ සිටියහ.

පෙදෙස වසාගත් කැලි කැපෙන ගන කළුවර රාත්‍රී කාලයේ වන සුදු එළිය පිවිස මෙසේ පළමු වන හිරු සිහින් ව තුනී කරමින් අලුයම පොළොවේ පතිත වෙද්දී නමෝවිත්තියෙන් රැස් කළඳ ගස්කොළන් මතින් හිරු වැඳපුදාගත් තරුණයා වනය අරක් ගත් සියලු දෙවිදේවතාවුන් වහන්සේලා සේ ම සුමන සමන් දෙවියන් වහන්සේ ද බුදු හාමුදුරුවන් වහන්සේගේ ශ්‍රී පාද ස්පර්ශයෙන් පවිත්‍ර වූ සිරීපාද කන්ද ද මිය පරලොව ගිය තමාගේ අප්පුච්චාණන් වූ කලවානේ හීතලහාමි ද අතරමග දී අහම්බෙන් මෙන් හමු වී තමන්ට ජිවත් වීමට වුවමනා වචන ටිකක් කියා පිරිත් නූල් ද අත්වල ගැටගැසූ කොට්ටිඹුල්වල සිල්වතා ද සිහිපත් කරමින් පළමු උදලු පහර මහ පොළොව වෙත එල්ල කරන්නට ප්‍රථම වෙලං මිට ගැසූ සිය සෙනෙහැති උදැල්ලට ද දෝත එක්කොට වැන්දේ ය. පිච්චි ද දෑත් එක් කොට හිරු වැඳ-පුදාගත්තා ය. ඉන් පසු හෝරා හතරක පහක පමණ කාලයක් ඔවුහු කරබාගෙන ම එක දිගට වැඩ කළහ.

හරවාගත් දිය පහළින් ගලා යන දිය දහරේ ඉහළ තැනකින් අත්තකින් එතැනට වතුර ලබාගෙන තිබිණි. ඔවුන් මේ භූමියට ආ දා පටන් එක ම ළඟ ම හිතවතා වූ මේ දිය දහර මෙවේලේ ද මේ අගනා කාර්යය සඳහා මහත් සේ අත්-උදව් සැපයුවේ ය. ඔවුන්ට තිබුණේ එක් උදැල්ලක් නිසා බර වැඩ ප්‍රමාණය සිදු වූයේ කෙටිහාමි අතින් ය. පිච්චි නම් ලාබාල ගැහැනිය දෝතින් කළ හැකි දේ කළා ය. ඇ රෙද්ද කෙටි කර හැඳ උන් අතර, තිබුණු එක ම හැට්ටය කර කඩාහැලෙන එකකි. ඒ තුළින් පිරිමියාට සිය ඇඟ පෙනෙන්නට නොදී හිඳීමට ඈ වගබලාගන්නා බව පෙනිණි. එහෙත් පිරිමියාට එහි වගක් තිබුණේ නැත. ඇය සැට්ට කර වරින් වර සැකසූ නිසා ඒ වටා ද මඩ තැවරී තිබුණේ ය. ඇයගේ නළලට සහ නාසය මතුපිටට දාඩිය දමා තිබිණි. අතින් මඩ තවරා නියර මට්ටම් කළ කාර්යය නිසා වෙහෙසට පත් ව



ඇති අහිංසක සුදුමැලි මුහුණ රත් පැහැ ගැන්වෙන්නට පටන්ගත් යාමය වන විට ඔවුන් ඉතා ශක්තිමත් නියරකින් වට වූ හොඳ මඩ පිරුණු ලියැද්දක් තනා නිම කර තිබිණි. බොහෝ මහන්සි වී හෝරා ගණනාවක් වුව වතුර උගුරක් නොබී එක දිගට වැඩ කිරීමේ ජවය කෙටිහාමි සතු ව තිබුණේ ය. මෙවේලේ ජවයට හිතේ ධෛර්යය ද එක් වී තිබිණ.

මෙහි පැමිණි පළමු වන වැසි දිනයේ කොස් ගසේ බෙනය යට දී තම වම් බාහුව පත්තෑයෙකු කෑමේ වේදනාවත් දැන් ඔහුට දැනෙන්නේ නැත. ඔවුන්ට දැන් අප්‍රමාණ ව සන්තෝෂ වෙමින් කාලය ගෙවීමට හේතුවක් ඇති වෙමින් පවතී. කෙටිහාමි ලියැද්ද දෙස බලා මුල් වරට තම ගැහැනියගේ මුහුණට සිනාවක් හෙළුවේ ය. සිනා සීමට බෙහෙවින් ම බියක් සේ ම අකැමැත්තක් ද දක්වූ ඇයට ද එවේලේ සිනා නොවී හිඳීමට පුළුවන්කමක් තිබුණේ නැත. ඇගේ වම් තනට යටින් සහ දකුණු ගෙලත් උරහිසත් අතර තිබූ ඒ කරුමක්කාර අප්‍රියජනක සැළුම් තුවාල දැන් සුව වී තිබේ. ගැහැනියගේ මුහුණේ තමා කිසි දා නොදුටු සිනාවක් දැකීම ඊළඟ පියවර වෙත ඔහු යුහුසුලු කිරීමට හේතු විය. කෙටිහාමි අසල කොස් ගස් බෙනයට තල් අතු කීපයක් හේත්තු කර තැනූ සිය කුඩා පැල වෙත ආවේ ය. එහි යාන්තමට දෙදෙනෙකුට දිගැරී නිදාගැනීමට තරම් වත් ඉඩක් නො වේ. මිදුලේ දල්වන ලද දර කොටන් කීපයකින් දුම් දමයි. වර්ෂාවෙන් දිය වැටී මැලය නිවී යෑම වැළැක්වීමට තල් අතු ආවරණයක් ඊට ඉහළින් යොදා තිබේ. ඒවා ගිනි රස්නයට හැකිළී ගොස් ය. රාත්‍රියේ මදුරුවන් ඒම වැළැක්වීමට දල්වන ලද කැප්පෙටියා අතුවල ඉතිරි වුණු කෝටු ගිනිමැලය වටා විසිරී තිබුණෙන් කෙටිහාමි තම කකුලෙන් ඒවා මැලයට කිට්ටු කළේ ය.

වාසස්ථානය තුළ අවම අඩුම-කුඩුම කිහිපයක් හැරෙන්නට වැඩි යමක් නොතිබිණි. මුල්ලක හේත්තු කර තිබූ තල් කොළවලින් වියන ලද පැදුර ඔවුන්ගේ සයනය විය. අයිනක ගල් ගෙඩි තුනක් තබා තනන ලද ළිපක මැටි වළඳකි. එය රවුමට කැපූ කොළපතකින් වසා තිබේ. වතුර පුරවන ලද කොළපත් ගොටුවක් අසල ලී කරුවක එල්ලා තිබේ. කෙටිහාමි ඉන් වතුර උගුරු කීපයක් බී, රැවුලත් කටත් පිසදාමින් පැළ තුළට රිංගුවේ ය. පැදුර හකුළා හේත්තු කර තිබුණු තැන මුල්ලේ

වූ හබරල කොළ ඉරුවකින් ඔතන ලද පැසක් අතට ගත් කෙටිහාමි දෝතින් ම එය රැගෙන ලියැද්ද අසලට එන්නට විය. ඒ වන විට පිච්චි ඇගේ දෑතින් ම ඉතා අපූරුවට ලියැද්දේ මඩ එක් මට්ටමකට සකසා, ලියැද්දට වතුර වැටෙන ඉහළ වක්කඩයේ සිට වතුර පිට වන පහළ වක්කඩ දක්වා ඇළපළුවක් ද කපා තිබිණි. ඒ ඔස්සේ ගලා යන වතුර පහළ නියරේ වක්කඩයෙන් නික්මී ගියේ හරි පිළිවෙළකට තාලයක් කියමින් වාගේ ය. කෙටිහාමිට ආසා හිතුණේ ය.

"හරි පංකාදුයි නෙ බොලං!"

ඒ අතර පිච්චි තමන්ගේ රෙදි කොනේ දවටාගෙන හුන් යමක් කෙටිහාමි වෙත දිගු කළා ය. ඒ කිකිළි බිත්තරයක් තරම් වූ ළා රත්වන් පාට වටකුරු ගලකි. එය තෙල් ගෑවාක් මෙන් ලිස්සනසුලු ය. එය අතට ගත් කෙටිහාමි "හහ්... දුං ගලක්..." යි කියා පසෙකට විසි කර දමා තමා අත වූ අගනා වස්තුව දෝතින් බිම තබා එය දිගහරින්නට විය. පිච්චි ද ආසාවෙන් එතැන බිම ඉඳගත්තා ය. කොළපොත් පටියකින් ගැටගසා තිබූ ඒ පැස තුළ වූයේ කිරි පාට මොටෙයියන් ඇද තිබුණු වී අහුරකි. ඒ දකිත් ම ඔවුන්ගේ මුහුණු දීප්තිමත් වූයේ ජීවත් වීමට අවශ්‍ය තරම් බලාපොරොත්තුවක් මේ මහඟු සම්පත තුළ සැඟවී ඇති බව දැනුණු නිසා ය. මේ ඔවුන් කොළොන්න කෝරලයෙන් මෙහි පැමිණෙන විට ගෙන ආ ඉතා මත් ම අල්ප වූ අඩුම-කුඩුම අතර තිබුණු වටිනා ම වස්තුව වූ මඩතවාලු වී අහුර යි. මේ වීයෙන් උපත ලබන ගොයම් පැළ බොහෝ නියඟයන්ටත්, බොහෝ ගංවතුර උවදුරු ආදියටත් මුහුණ දෙමින් නිර්භය ව වැඩෙන බව කෙටිහාමි දැන උන්නේ ය.

දුර-බැහැර ගෙවාගෙන පරිස්සම් කරගෙන ආ මේ වස්තුව මෙහි විත් වරු එක හමාරක් පමණ කොළපත් ගොට්ටක ලූ වතුරේ දමා තිබූ අතර ඉතිරි වරු එක හමාර මෙසේ වැපිරීමට සුදුසු වන පරිදි මුල් අදින තෙක් හබරල කොළ ඉරුවකින් ඔතා ගැටගසා ගෙමුල්ලේ තබා තිබුණේ ය. දැන් එය සිදු ව තිබේ. වී ඇටවලින් එළියට පැමිණි කිරි පැහැති මුල්, පිරිත් නූල් බැන්ද කල ගැටය ළඟ ඉතිරි වන නූල් කැලි වාගේ ම ය. ඒවායින් නික්මුණේ සිහින් පල් ගඳක් වුව ද ඔවුන්ගේ සිත් පුරා පිරී ගියේ නැවුම් ම නැවුම් සුවඳක මිහිරියාවකි. කෙටිහාමි මුලින් ම මේ අගනා වස්තුවට වැඳ-නමස්කාර කළේ ය. පිච්චි ද එසේ ම කළා ය. ඉන් අනතුරු ව ඔවුන් නැඟී සිටි අතර තරුණයා ඒ පැළ



වී අහුර ලියද්ද පුරා සම සේ විසිර යන ලෙස ඉස්සේ ය. කිරි පැහැති පිරිත් නූල් මොටැයියන් සහිත ඒ වී ඇට පිරී ඉතිරෙන සෙනෙහසකින් ජන්මගත ඥාතීත්වයෙන් යුක්ත වූ මහ පොළෝ මවු ළය බදා වැළඳ ගත්තේ ය.

* * *

ඒ කාරියෙන් පසු ද තවත් හෝරා දෙක-තුනක් ඔවුහු සිය කුඹුර අසල ම ගැවසුණහ. මේ මොහොතේ සිට ම ලියැද්ද ආරක්ෂා කර ගත යුතු ය. එසේ නොවුණ හොත් ගිරවුන්, කොබෙයියන්, පරෙවියන් පමණක් නො ව, කුහුඹුවන් වැනි සතුන් ද වී ඇට කා විනාශ කර දමන්නට පුළුවන් ය. සතුන්ට කොටසක් වෙන් කිරීම කළ හැකි ය. ඒත් මේ එයට වෙලාව නො වේ. ඒ අතර හරි අපූරු දෙයක් සිදු විය. එනම් කිරි කොකුන් යුවළක් මඩ ලියැද්දට පැමිණ පණුවන් සෙවීම ය.

"හරි ම අපූරුයි...! අලුත් කුඹුරට කොක්කු ඇවිත්. කුඹුරක් කෙටුවම - වැපුරුවම කොක්කු ඉන්න උවමනායි තමයි..."

කෙටිහාමි සන්තෝෂ විය. ඔහු ඒ සන්තෝෂය පිට ම ඊළඟට දුටු දෙයින් පුදුම වී පිච්චි ඇමතුවේ ය.

"මේං බලාපල්ලාකො කොරන වැඩක හැටි...!"

පිච්චි ද පුදුම වී, නියර අසල කෙටිහාමි ඇනතබාගෙන උන් තැන බිම බැලුවා ය. පැළ වී ඇටයක් කර තබාගත් කුහුඹුවෙකු ලියද්දෙන් ගොඩ වී ගමන් ගනී. ඒ පසුපස තවත් උන්ගේ පවුලේ ම කුහුඹු පෙළකි. පිච්චි යම් ප්‍රතිචාරයක් නොපෙන්නා, කෙටිහාමිගේ ඊළඟ ප්‍රතිචාරය තෙක් බිය වී බලා උන්නා ය. කෙටිහාමි සිනා සුණේ ය.

"ඕං බලාපල්ලා අස්වැන්න කර තියාගෙන යන අපූරුව...! ඕකට ඉතින් එපා කීහැකැ...? කුඹුරකින් කොයිතරමං නං උදවිය බඩ පුරෝගන්නව ද...? කාරි නෑ... මේ උන්ගෙත් මහ පොළොව නොවැ..."

පිච්චිගේ මුහුණේ ද බැරෑරුම්කම මැකී, යම් පැහැපත් සේයාවක්

මැව් තිබිණි. කෙටිහාමි නැගිටිමින් කතා කළේ ය.

"උඹලා ගිහිල්ලා අර ඉතුරු කොස් ඇට ටික තම්බාපල්ලා... මං තව ඩිංගිත්තක් මෙතන ඉඳලා එන්නං..."

ඇය නියරෙන් ගොඩ වන්නට වූ අතර, කෙටිහාමි යළි ඇය අමතා මීට ස්වල්ප වේලාවකට පෙර අසල බිම දැමූ පිච්චි විසින් දුන් වටකුරු ගල අහුලා ඇය අත තැබුවේ ය.

"මේං මේකත් ගෙනිහිල්ලා අර වේවැල් පෙට්ටියේ දා තියහල්ලා..."

* * *

ඒ මහා ඝන කළු වන වියනට රාත්‍රිය එළඹී තිබේ. කළුවර වැටෙන තුරු ම කෙටිහාමි සහ පිච්චි සිටියේ සිය ලියැද්ද අසල ය. එහෙත් කළුවර දැඩි වී සීතල තියුණු වත් ම ඔවුහු පැල තුළට විත් ගිනිමැලය අසල ගුලි වූ හ. රාත්‍රී ඝන කළු පාට පාළුව හරහා නොකඩවා ඇසුණේ ලියැද්දේ වක්කඩයෙන් වතුර ගලන පිරිපුන් හඬ යි. ඒ හඬ ඔස්සේ ලියැද්ද ජීවමාන ව තමන් අසල වැඩ හිඳින්නා සේ ඔවුන්ගේ සිත්වලට දැනුණි.

ආලෝකය ලබාගැනීම සඳහා වේලාසන ළිග්ගල මත දැල්වූ කැකුණ මද නිවී ගොස් ය. ඒවා නිවී යන විට දැනුණු කැකුණ තෙල් සුවඳ යටපත් කරගෙන දැන් දැනෙන්නේ මිදුලේ ගිනිමැලය මතට දැමූ කැප්පෙටියා කොළවල දුං ගඳ යි. මැදියම් රාත්‍රිය විය යුතු ය. කණාමැදිරියෝ සිය දහස් ගණනක් වන අරණ පුරා ඒ මේ අත පියාඹමින් දැල්වෙමින්, නිවෙමින් හිඳිති. උහු ලියද්ද අවට පෙදෙස ද අලංකාර කරති. වරෙක උහු රොත්ත ම කතා වී වාගේ එක සැරේ නිවී යති; යළි මොහොතකින් දැල්වෙති. කෙටිහාමි ඉන්නේ රාත්‍රිය පිළිබඳ බොහෝ විමසිල්ලේ ය. රාත්‍රියෙන් සිත යන්තම් හෝ නිදහස් කරගෙන ඔහු මොහොතකට හෝ දෑස් පියාගන්නේ එළි වෙන්නට ළං වී ඇතැයි සිතට නැඟුණු විටෙක පමණි.

පුළං තින්දට වැටුණු පමණින් වනාන්තරයේ රාත්‍රිය සම්පූර්ණයෙන් ම නිසොල්මන් වන්නේ නැත. ලොව කොහේ හෝ ඈත පෙදෙසකට



වසිනවා විය යුතු ය. දුර බැහැරින් අහස ගොරවන හඬක් ඇසේ. දහවල වනයේ සැඟවී ඉන්නා බොහෝ සත්තු රාත්‍රියට වනාන්තරය උන්ගේ රජදහන කරගනිති. ඉඳහිට කොටියෙකුගේ වැනි ගෙරවුමක් කැකිල්ල ගාල දෙසින් ඇසේ. තමා හා පිච්චි වනයේ මේ ස්ථානයට විත් ගත කළ දෙවන දිනයේ නම් එළි වන්නට හෝරාවක් ගත වන තුරුත් උලමා කෑගැවේ ය. පුංචි ම පළගැටියන්ගේත්, ගොන්හැරයන්ගේත් ලතෝනිය පිරිතක් මෙන් සමාන්තර ව දිගට ම ඇසේ. එක් වර උස් ව නැඟුණු සාවෙකු වැනි කුඩා සතෙකුගේ 'චිරුරුරුරුස්ස්.....' හඬින් මොහොතකට අනිත් සතුන්ගේ හඬ නතර විය. ඉක්බිති ඒ හඬ ක්‍රමයෙන් සිහින් වී අප්‍රාණික වී නිහඬ වී යනු ඇසිණ. ඒ හඬ ඇසෙත් ම කෙටිහාමි වහා සිය වප්පිහිය අතට ගත්තේ ය. කුඩා සතෙකු බලවත් කැලෑ කොටියෙකුගේ හෝ පිඹුරෙකුගේ ගොදුරට හසුවුණා විය යුතු ය. හඬ ඇසුණේ දොළ අද්දර ඉඹුල් ගස අසල ලඳු තීරයෙනි. වනය මොහොතකට නිශ්ශබ්ද වූ කල දැන් ඔහුට ඇසෙන්නේ තමා ළඟින් ඇලවී නිදන ගැහැනිය හුස්ම ගන්නා හඬ යි. ඔහු ඊට කන් දුන්නේ ය.

කෙටිහාමි සෙමෙන් නැඟී සිට මිදුලේ ගිනිමැලයෙන් ගිනි පෙණෙල්ලක් ගෙන ගැහැනිය වටාත්, පැල අවටත් විපරම් කර බැලුවේ ය. ඔහු හෝරාවකට වරක් වත් එසේ කරයි. මාපිලුන්, කරවලුන්, දිවි මකුළුවන්, ගෝනුස්සන් වැනි විස සත්තු මේ බිමේ එමට සිටිති.

යළි කෙටිහාමිට ඇසෙන්නේ පිච්චි හුස්ම ගන්නා සිහින් හඬ යි. ඇය මහත් බයාදු ගති ඇති එකියකි; එසේ ම අන්ත අසාධාරණකම් වලට මුහුණ දුන් ගැහැනියකි. එහෙත් තමාට ජීවත් වීමේ අප්‍රමාණ සවිශක්තිය දී ඇත්තේ මේ නිහඬ ගැහැනිය යි. මේ දින කිහිපය තුළ ම ඇය ද මහන්සි නොබලා තමා හා කරට කර වැඩ කළා ය. වනාන්තර ජීවිතය කෙතරම් අවිනිශ්චිත වුව ද ඇයට ඒ පිළිබඳව වගක්වත් තිබුණේ නැත. වපුරන ලද ලියද්ද දෙස බලා ඈ තනිවම සිනාසුණා ය. රාත්‍රියේ නින්දේ දී වරින් වර ඇය යමකට බිය වී ගැස්සී කෑගසාගෙන අවදි වේ. එවිට කෙටිහාමි ඈ අමතා, ඇය අස්වසා යළි නින්ද සලසා දෙයි.

"හා හා පිච්චියේ, නිදාගං. මේ මං ඉන්නව නේ ළඟ ම... පිරිත් නූල් අතේ තියෙනවා නේ. හා හා... ඉතිපිසෝ ගාථාව මතකෙට අරං ආයේ නිදාගං... හා හා නිදාගං මයෙ අම්මා..."

එසේ ඈ අස්වැසූ කෙටිහාමි තරමක් හඬනඟා ඉතිපිසෝ ගාථාව කියන්නට විය. ඇය යළි නින්දේ ය. රාත්‍රිය නිසොල්මන් ය. කෙටිහාමිට කල්පනා කරන්නට දේවල් ඕනෑ තරම් තිබේ. මෙයට රාත්‍රී නවයකට හෝ දහයකට හෝ පමණ පෙර තමා හා පිච්චි මහ වන මූකලාන මැදින් දුර ගෙවාගෙන කොලොන්නා කෝරලයේ සිට අටකළං කෝරලය වෙත එන ගමනේ ගොඩකවෙල රජ මහා විහාරය ළඟ දී තමාගේත් පිච්චිගේත් අත්වල පිරිත් නූල් ගැටගැසූ 'කොට්ටිඹුල්වල සිල්වතා' නම් වූ තැම්පත් වැඩිහිටි මිනිසා පිළිබඳ ව සිතීම සිතට පුණ්‍ය කර්මයක් සේ හැඟුණෙන් ඔහු ඒ පිළිබඳ සිතන්නට පටන් ගත්තේ ය.

තමා හා පිච්චි තමන්ට හිමි වූ අල්ප වූ අඩුම-කුඩුම ටික ඔසවාගෙන පනාමුර - කිතලබොක්ක පසු කර වන බෑවුම ගෙවා කුඹුරුගමුව හරහා පල්ලෙබැද්ද ඉසව්වට පැමිණි කල හමු වූ කරත්ත පාර එක් පැත්තක් ඉර නැඟෙන දෙසට ද අනෙක් පැත්ත ඉර බසින දෙසට ද විහිදී තිබුණු එකකි. ඔවුන් එමඟට පිවිස ඒ අතට යම් ද මේ අතට යම් ද කියා සිතද්දී ඇසුණේ තුන් සරණේ කවි ගැයුමකි. දහ පහළොස් දෙනෙකුගෙන් යුතු නඩයක් තුන් සරණ කියමින් සිරීපාදෙ කරුණා කරන්නට යන වන්දනා ගමනකි.

"සමන් දෙවිඳු මත්තට මුදු    වන්නේ
පත්මෙ වඩින්නට පිහිට    ලැබෙන්නේ..."
"වඩින්න යන මේ    නඩේට
සුමන සමන් දෙවි    පිහිටයි..."

නඩය එසේ ගයමින් මාර්ගයේ බස්නාහිර දෙසට හැල්මේ ගමන් කරන්නට වූ අතර, නඩේගුරා යෑ යි සිතිය හැකි වයස්ගත පුද්ගලයා තමා සහ පිච්චි දෙස බලා දක්වූ කරුණාබර සිනාව හේතුවෙන් ඔවුහු ද නඩය සමඟ වැටී ඒ මඟ ගමන් කරන්නට වූ හ. පිච්චි මුල දී පස්ස ගැසුවේ නඩයේ සිටි සියලු දෙනා පිරිමින් වූ නිසා විය යුතු ය. ඒ නිසා ම මුල් හරිය ගමන් කිරීමේ දී කෙටිහාමි පිච්චිගේ අතින් අල්ලා කැඳවාගෙන ගියේ ය. පිරිස සුදු සරොම් සහ උඩු කය බැනියම් හැඳ සිටි අතර, හත්-අට දෙනෙක් හිසේ ජටා බැඳගෙන උන්හ. සෑම කෙනෙක් ම පාහේ රෙදි උරයක් කරේ එල්ලාගෙන සිටියහ. නඩේගුරා යැයි සිතිය හැකි වයසක මිනිසා හැරමිටියක් ද අතේ දරා ගමන් කළ අතර, හේ සෙසු මිනිසුන්ට



වඩා කඩිසරකමක් පෙන්නුවේ ය. ඔහු උඩුකයට හැඳ සිටියේ නැත. හැරමිටියක්, රෙදි උරයක් සහ පුංචි ලබු කැටයක් අත දරා සිටියේ ය. හෝරාවක් පමණ ගත වන විට රජ මහා විහාරයක් දක්වා හැල්මේ පැමිණි නඩය විහාරය වැඳ-පුදාගනිද්දී කෙටිහාමි සහ පිච්චි දෙදෙන ද ඔවුන්ට එක් වූ හ.

"හා හා ඉඳගනිල්ලා... ඉඳගනිල්ලා..."

නායක මහල්ලාගේ විධානය අනුව වන්දනා පිරිස පොල් අතු බණ මඩුවේ ගොම ගා සකසන ලද පිළ දිගට වාඩි වූ හ.

"උඹලත් වාඩි වෙයල්ලා ළමයිනේ..."

මහල්ලා එසේ කීවේ කෙටිහාමිට සහ පිච්චිට ය. ඒ අනුව ඔවුහු ද පිළේ අයිනක් බලා වාඩි වූ හ. නඩයේ උන් මැදිවියේ මිනිසෙකු අතින් පිරිසට ගම්මිරිස් මුසු අග්ගලා ලැබුණේ ය. ඔවුන් කරබාගෙන අග්ගලා කන්නට වූ අතර රජ මහා විහාරයට යාබද පාර අයිනේ තිබූ පිංතාලිය අසලට නඩේ නායක මහල්ලා යතු දුටුවෙන් පිච්චි දෙස බැලූ කෙටිහාමි නැඟී සිටියේ ය. ඒ අනුව පිච්චි ද නැගිට්ටා ය. වයසක උපාසක මහතා අත වූ පුංචි ලබු කැටයට පිංතාලියෙන් දිය පුරවා ගන්නා තුරු අසලට වී බලාගෙන උන් කෙටිහාමි ඉතා යටහත් ව ඔහු අමතන්නට විය.

"අවසරයි... ගමනෙදි මේ උත්තමයා කීප වරක් ම හිතයිසිව අපි දිහා බැලුවා... ඒ වාගේ ම වන්දනා නඩේට ගුරු හරුකම් දීගෙන එන රගෙන් අපට වැටහුණා හරි බලගතු උත්තමයෙක් ය කියලා. වචනයක් කතා කොරන්න අවසර යි ද අපිට?"

වයසක මිනිසා තම ලොඹු කට පෙන්නා සිනා සී කතා කරන්නට විය.

"මං මේ පත්මෙ කරුණා කරන්න යන තුන්සිය දාහතර වැනි වතාව... මේ ගෙවෙන්නෙ වරුස එකදාස් අටසිය අසූනමේ. මං ඉස්සිස්සෙල්ලා ම පද්මෙ කරුණා කොරන්න ගිහින් තියෙන්නෙ අටසීයෙ වරුසෙ මුල, අතදරුවා සන්දියෙ. හෙහ්... හෙහ්... "

ඔහු එසේ කියා සිනා සුණු කල කෙටිහාමි තමා අත වූ කුඩා උරය බිම තබා ඔහුට වැඳ-නමස්කාර කළේ ය. ඒ අනුව පිච්චි ද තමා අත

වූ වේවැල් පෙට්ටිය බිම තබා වයසක මිනිසාට වැන්දා ය.

"සුමන සමන් දෙයියාමුදුරුවන්නෙ පිහිට යි උඹලට...! අලුත එක්කාසු වෙච්චි ඉලංදාරියෙකුයි, බවලතියෙකුයි වෙන්නෑ? පංකාදු යි බොලන්නේ, පංකාදු යි! පත්මෙ කරුණා කරන්න හිතූ එක පංකාදු යි..."

කෙටිහාමි අසරණ ලෙස පිච්චි දෙස ද බලා, සිතේ සිර කරගෙන උන් දේ කියන්නට විය.

"මං හිතේ මහා බරකින් පහුවෙන මිනිහෙක් පිංවන්ත උත්තමයෝ. පිං සිද්දවෙයි අපේ කතාව අහං ඉන්න. ගමනේ පොරමාදයක් නැත්නං මං මේ කියන දේ අහගෙන ඉඳලා, මටයි මේ ගෑනිටයි ජීවත් වෙන්න හැකි වචන ටිකක් කියලා යන්න හොඳයි..."

"පොරමාදයක් නැහැ බොලව්... පොරමාදයක් නැහැ... ආයේ අහවල් කාරියකට පොරමාද වෙන්න ද? අපි අද රාත්තිරි පැල්මඬුල්ල ගල්පොත්තාවල විහාරෙ නෙ නවාතැන්. නඩේ ඉන්නෙ දඬු කෝඩුකාරයෝ ඉතරයි. මූං මේ රත්කරවුවේ හේන් කොටන කාංඩයක්. බවලත්තු, කිරි කෝඩුකාරයෝ මේ මුරේ නෑ. සමහර මුරවලට මෙහෙම ද? එක නඩේ දෙ-තුන් සීය. සමන් දෙයියාමුදුරුවන්නෙ පිහිටෙං කුරා කුඹියෙකුගෙන් තරම හිරිහැරයක් නෑ ඕං..."

මහල්ලා සිය ජීවන අත්දැකීම් ගැන කතා කරන්නේ බොහෝ උද්‍යෝගයකින් බව පෙනේ. කෙටිහාමි ද මේ කතාබහට ඉතා කැමැති බව පෙන්වීමට හිස නමා එය අනුමත කළේ ය. මේ අලුත් තරුණ යුවළ ඉන්නා නුහුරු තත්ත්වයෙන් උන් මුදාගැනීමට දෝ මහල්ලා කතා කරන්නට වූයේ කලක සිට දන්නා-හඳුනන සමීපතමයෙකු පරිද්දෙන් ය.

"එක ම එක දාක ඕං යංකිසි ආරෝවක් සිද්ද වුණා. පත්මේ කරුණා කරන්න ගිය එක නඩේක උන්නා රබ්බඩ හාමි කියලා දඬු කෙ-ඩු ගැටයෙක්. රබ්බඩ හාමි නෙමෙයි ඒකා පුබ්බඩ හාමි! කරුණා කිරිල්ල පටන්ගත්තු තැන ඉඳං ම මට මේකගේ කල්කිරියාව ඇල්ලුවේ නෑ. මේකා පලාබද්දල දී කොහෙ දෝ ගුබ්බෑයමකට රිංගලා රහමෙර බීලා. ලිහිණිහෙළටත් කරුණා කළැයි කියමුකෝ. ලිහිණි හෙළේ දී නඩේ අපි කවුරුත් නතර වෙලා ලිහිණි අක්කට කතාබහ කරලා කාරිය නොවැ



කරුණා කොරන්නේ. අපි 'ලිහිණි අක්කේ...' කියලා කිව්වම ලිහිණි අක්කා එහා කන්දේ ඉඳං 'ඕ...' කියන වග උඹලා දන්නව නේ. නඩේ සේරම උං 'ලිහිණි අක්කේ... ලිහිණි අක්කෙ' කියලා කතා කොළා. තව නඩ දහදොළහකුත් එතන උන්නා. මේ නැහැදිච්චි එකා කෑගැවෙ නැද්ද... 'දහදූරාවියේ'... කියලා!"

කෙටිහාමිට "දෙයියාමුදුරුවනේ...!" යි කියවිණ. පිච්චි කම්මුලේ අත ගසාගත්තා ය.

"අන්තිමට මොකෑ උණේ...? එතැන් ඉඳලා මේකාට වමනෙයි, බඩ එළියයි යන්න පටං ගත්තු-එක නතර උණේ ගමටත් ඇවිත් තුන් දොහක් ගත උණාට පස්සේ. ගෙදර ගෙනාවෙ මළකඳ. වැලිගෙපොළ මහාල්ලි වෙදරාල නොහිටින්න ඒකා වැළලූ තැන්වල ගසුත් පැළ වෙලා ඕං... එහෙම තමයි බොලං. මේ සමන් දෙවි හාමුරුවන්නෙ අඩවියේ කොතැන කොයි කල කොහොම විසුවත්, අපි කට පරිස්සං කොරාන වසන්න ඕනා..."

ඔවුන් කතාවෙන් කතාවෙන් පැරණි බෝධිය දෙසට ගමන් කර තිබිණි. ඒ හරියේ කවුරුත් සිටියේ නැත.

"හා දූං ඉතිං කියහංකෝ ඉලංදාරියෝ, උඹලට තියෙන ආරෝව..."

කෙටිහාමි කතා කරන්නට වන්නේ අමුණ කැඩුවාක් මෙනි.

"පිං පිරුණ සිල්වන්ත උත්තමයෝ... මඩුවන්වෙල රටේ මහත්තයා අපට තීන්දුවක් දුන්න කොළොන්නා කෝරලෙං තොලොංචි වෙලා අටකළං කෝරලේට ගොහිං ජීවත් වෙයල්ලා කියලා. අපි මේ ඒ එන ගමන."

"හැබෑ ද? මං උන්නා මේ පද්මෙ කරුණා කොරන්න යනවැයි කියලා. හ්ම්. ඒ ඇත්තන්ගේ උදහසට ලක් වෙන්න උඹලා අහවල් කාරියක් ද කොළේ...?"

කෙටිහාමි පිච්චි දෙස බැලූ කල අපහසුවෙන් බිම බැලූ පිච්චි යළි කෙටිහාමි දෙස බලා මහල්ලා දෙස බැලුවේ ඉතිරි ටිකත් කියන්නැයි කියා නොකියා කියන්නා සේ ය. කතාව කියන තුරු මහල්ලා කරබාගෙන හිඳී.

"මගේ ගම දිග්ගම්පොත කෝරලේ නැටුංගල. පරංගි උණ හැදිලා

මට උන්නු එක ම කෙනා වෙච්චි මගේ අප්පුච්චා හීතලහාමි මිය පරලොව වැඩියා. මං එහෙං කොළොන්නා කෝරලේට ආවේ රටේ මහත්තයාගේ දෙවෙනි කසාදෙ වෙච්චි කලවානේ කුමාරිහාමිගේ මලයංඩි, කලවානේ පුංචි බංඩාරත් එක්කලා. ඒ පනාමුරේ අලි ගාලේ කටයුතු කොරන්න. අපි දෙසීයකට වඩා වැඩි කාංඩයක් ආවා එහෙ ඉදං. ඒ එන ගමනෙදි පුංචි බංඩාර අපට කිව්වා කාංඩේ ගවුරවේ ආරක්සා කොරගන්න කොළොන්නා කෝරලේ අඩු කුලේ බවලත්තු එක්ක හාදකං හෙම පවත්වන්න එපාය කියලා. මයෙ නං එහෙම උවමනාවක් තිබුණෙ නෑ. නිංදගංකාරයොත් මහ හුඟක් අපි එක්කලා අලි ගාලේ වැඩ කොළා. ඒ සේරම කාංඩවලට බෙදලයි උන්නේ. අලි එළවන උන්නේ කාංඩේ. මයේ නං කිසි ම මං කටයුතු කොළේ අලි එළවන උන්නේ කාංඩේ. මයේ නං කිසි ම මනාපයක් තිවුණේ නෑ ඒ සද්දන්තයො කුලප්පු කොරලා උංගෙ දහස නැති කොරලා දාලා කොරාපු ඒ පවුකාර කටයුත්තට."

මහල්ලා නිහඬ ව ම හිස වනන ගමන් බුලත් විටක් කන්නට පටන් ගත්තේ ය. ජීවිතය ගැන, ලෝකය ගැන දැනුම්-තේරුම් ඇති මේ වැදගත් මිනිසාට සියල්ල කියනවා හැරෙන්නට තමන්ට වෙන හව්හරණක් නැත. කෙටිහාමි තව අඩියක් මහල්ලාට ළං විය.

"අපි නතර වෙලා උන්නු වාඩිය කිට්ටුව ම යි මයේ මේ ගෑනි පිච්චිගෙ ගේ තිබුණෙත්. මේකිගෙ අප්පුච්චා-කිරෙන්දරා, හකුරු වැඩ කොළේ. උංදෑ අලි ගාලේ ගිනිමැලකාරයින්ගෙ ගොඩෙත් වැඩ කොළා. මේකි බෙරණ නැකතේ උපං, කාලකණ්ණි, වගතුවක් නැති එකියක් ය කියලා, හැන්දෑවට රා බීලා ඒ මිනිහා මේකිට තඩිබානවා මං හැමදා ම දැක්කා."

පිච්චි බිම බලාගෙන ම සිය දැතින් හැට්ට උරහිස් පිසලන්නට විය. මහල්ලාට ඒ කතාව අසා 'හොස්' ගා හිනා ගියේ ය.

"පුහ්... අපේ ඔය හික්කඩුවේ සුමංගල නායක හාමුදුරුවන් වහන්සේ උපන් නැකතත් කාලකණ්ණි එකක් ය කියලා වේලාපත්කඩේ බලාපු ඇත්තො කීවාලු නේ... පුහ්... හැහ්... හැහ්..."

කෙටිහාමිටත් පිච්චිටත් සිහින් සතුටකි. කෙටිහාමි යළි කතාවේ ඉතිරි හරිය කියන්නට විය.

"ඒක තේන්නං... මං දුටුවා මේකි තුන්තිස් පැයේ මාංසි වෙලා



වැඩ කොරන හැටි. ආලවන්තකොමක් නැතත් මං බොහොම දුරිං ඉඳං බලාගෙන ඉඳලා තියනවා ඒ දිහා. අලිගාලේ කටයුතු කොරන කාංඩෙට දවල් කෑම බෙදන බවලත්තු අතරේ මේකිත් උන්නා. දවසක් මා අතේ තිබුණු කුරක්කං පතට මඩු කොකු වෑංජනේ බෙදන ගමං මේකිගෙ අත වෙවුලලා වෑංජන ඩිංගිත්තක් මගේ දණිස්සට වැටුණා. ආං ඒ වෙලේ තමයි මං ටිකක් විසේස දැහිං මූණ දිහා බැලුවේ. ආලවන්තකොමක් තිබුණා නං ඕං ඔච්චර ම යි."

ඔහු එසේ කියද්දී පිච්චි මහා ලජ්ජාවකින් බිම බලා අතෙහි වූ වේවැල් පෙට්ටියේ කොනක් නියපොත්තෙන් ගලවන්නට හදන ගමන් හොරෙන් මෙන් මහල්ලා දෙස බැලුවා ය. මහල්ලා ඉතා සාමාන්‍ය ලෙස ඇහුම්කන් දීගෙන ම ඉණේ වූ බුලත් මඩිස්සලයෙන් දෙමට පොත්තක් ගෙන කටේ දාගත්තේ ය. මේ නිහැඬියාව තමන්ගේ වාසනාව මැ යි සිතූ කෙටිහාමි කතාවේ ඉතිරි ටිකත් කියන්නට විය.

"ඔය වලවුවෙ කටයුතු හොයා බලන්න උන්නු ඥාති අප්පො කෙනෙක් මේකිගේ අප්පුච්චාට ගිනි වතුර පොවලා, මූදු මාළුත් එක්කලා බඩපුරා කන්න බත් කොළපතක් දීලා, අප්පුච්චා අත ම පයිංඩයක් එවලා තිබුණා රාත්තිරි ඒ අප්පොගේ නවාතැන් වාඩියට මේකි එවන්න ය කියලා. මට රාත්තිරි ඇහැරුණේ මේකිගෙ අම්මා වෙච්චි සලිඳු ගෑනිගෙ කෑගෑමට. ඒ ගෑනි වැලහින්නියක් වගේ ළතෝනි දෙනවා. පස්සෙන් පහු කිරෙන්දරා හුළු අත්තක් පත්තු කොරාන මේකිත් ඈන්න යනවා මං දැක්කා බඩ ඉරිඟු ගස් අස්සෙන්. මං උන්නේ මිදූලේ රත් කෙහෙල් පඳුර මුල. හුළු අතු එළියට මං දුටුවා මේකිගෙ මූණෙ කඳුළු දිලිහෙනවත්..."

ඔහුට කතාව හිර විය. පිච්චි වෙතින් හීනි ඉකියක් ඇසිණි. ඈ පහත් වී රෙද්දේ කොනකින් ඇස් දෙකත් නැහැයත් පිසගත්තා ය. මහල්ලා සියල්ල තේරුම් ගනිමින් හිස වනමින් අසල ගසේ සෙලවෙන බෝ දලු දෙස බලාගෙන සිටියේ ය. කෙටිහාමිට කීමට තව දේ ඇති බව ඔහු දනී.

"මේ සිල්වන්ත උත්තමය ම කියන්නකෝ ඒ වෙලාවේ මිනිහෙක්ට මොනව නං හිතෙන්න ඇද්ද කියලා. මං ඉවසුවා; හැකි තරං ඉවසුවා. කාරිය ඉවර උණාම හෝරාවකට දෙහෙකට පස්සේ මේකි අඬාගෙන දුවගෙන ආවේ මගේ පා මුලට. ආං ඒකෙන් ඒ අප්පොලා හිතුවා

මෙකියි මායි අතරෙ බොහොම තදේට ලියලාපු ආලවන්තකොමක් තියනවා ය කියල. ඒ අප්පොට වැඩිපුර ම කේන්ති ගිහිල්ලා තිබුණේ..." කෙටිහාමි වටපිට බලා සිහින් හඬින් කියයි. "...ඒ කාරිය කෙරෙන වෙලාවෙ මෙකි මළකඳක් වාගේ හිටි-එකට ය කියලා පස්සේ එළි වෙන අතේ කිරෙන්දරාට බණිද්දී ඒ අප්පොගෙ කටින් ම කියවුණා. මෙකිට නොසෑහෙන්න වද දීලා. මේ හපාපු පාරවල්."

ඔහුගේ ඇස්වලට කඳුළු උනා තිබේ. ඔහු පිච්චිගේ කන අසල සහ ගෙලෙහි වූ අලුත් සැපුම් තුවාල කැළැල් මහල්ලාට පෙන්වී ය. පිච්චි ඒවා සඟවාගැනීමට තැත් දැරී ය.

"පස්සෙන් පහු ඒ ඇත්තො ම කතාවක් පතුරවලා තිබුණා මේ තදේට ලියලාපු ආලවන්තකොම හිංදා අපෙන් අලිගාලේ රාජකාරි කටයුතු මඟෑරෙනවා ය කියලා. අපිව ගෙන්නුවා නඩුකාර ගෙට. ඇහිල්ලක්-බැලිල්ලක් නෑ. දුන්නු තීංදුව තමා මේ. යංකිසි ආරෝවක් උනොත් රඹුක්පොත රටේ මහත්තයාට කියන්න ය කිව්වා. ඕං ඕකයි අපේ කතාව. අද පාංදරියෙන් අපි පිටත් වෙලා එන කොට මේකිගෙ මවු සලිඳු ගෑනි රෑ කළුවරේ ම අඬාකියාගෙන දුවගෙන ඇවිත් මඟ දී දීපු ඕං ඔය වේවැල් පෙට්ටියෙ තියන අමතර රෙදි කෑල්ලයි, වළඳයි, හාල් සේරු දෙහෙකුයි, දිය ලුණු මිටයි... මයෙ මේ උරේ තියෙන උදලු තලෙයි, මඩනවාලු වී අහුරයි, ගින්දර පෙට්ටියයි මේ වප්පිහියයි ඇඳි වස්තර දෙකයි විතරයි අපට තියෙන්නේ පිංවන්ත උත්තමයෝ..."

ඒ දිග කතාව කරබාගෙනම ඇහුම්කන් දීගෙන උන් ලෝකය පිළිබඳ බොහෝ කාරණා දන්නා මහල්ලා කතා කරන්නට විය.

"මනුස්ස ජීවිතේ හැටි සුබාවෙ ඔහොම තමයි ඉලංදාරියෝ. ඒත් උඹ ගැන මට හරි සංතෝසයි බොල. උඹ කටයුතු කොරලා තියෙන්නේ බොහොම හොඳ, වැදගත්, හැදිච්ච පිරිමියෙක් ගානට. බවලතියක් කියන්නේ කෙළිබඩුවක් නො වෙයි. එහෙං පරදේසක්කාරයෝ, මෙහෙං අපේ ම බලපුළුවන්කාරයෝ අපේ ගැවුල්ලමයි විනාස කොරනවා. උඹ ඉවසූ එක හොඳ යි. උඹට හැකි යි මේ බවලතී බලා-කියාගන්න. ඒක තමයි පිරිමියෙකුගෙ වගකීම. හැමතැන ම බැලුව ම කලකිරීම තමයි ළමයිනේ...උඹලා හිතනවා ඇති තුන්සිය දාහතර වතාවක් පත්මෙ කරුණා කළා ය කිවුව ම මං ඉන්නෙ මහ විසාල සන්තෝසයකින් කියලා. නෑ. මං ඉන්නෙත් කලකිරීමෙන්. ඒ ඇයි? අපේ මේ බුද්ද සෑසනේ ගැන කල්පනා කොරද්දී. ඔය රට කෙළවර මහ මූදු ගැට්ටට වෙන්න තියෙනව-ායි කියන ගංකරවල ආගංකාරයෝ බෝ වෙලා අපිට කොරන නොසංඩාල අරියාදුකං ගැන උඹලා දන්නෑ. දන්නවනං උඹලගෙ ඇඟේ හීගඩු පිපේවි. පහුණු දාක අපේ බුද්ද සෑසනේ ආරක්සා කොරන කොළඹ රටේ උන්නාන්සෙලා කාංඩයක් පිරිකර පන්සියයක් වඩම්මාන පෙරහැරක ගමං ගද්දි කවුදෝ නොසංඩාලයෙක් නැහැදිච්ච කතාවක් පතුරෝලා මේ පෙරහැරේ කුරුසියකට තියලා ඇණ ගහලා වඳුරෙකුත් අරං යනවාය කියලා. මේකට කුලප්පු උණු ආගංකාරයෝ අර පුණ්‍ය කර්මෙ විනාස කොරලා නැතිබංගස්තාන කොරලා දාලා. පිරිකර වඩම්මපු කරත්තවල උන්නු හරකුන්ට පවා තුවාල සිද්ද කොරලා. කොළඹ රට ම එක දෙව්ලාවක් ලු... හැබැයි දැං ඔය ඒරොප්පෙන් ආ රැවුළ වවා ගත්තු සුදු මහත්තේක් අපේ ධර්මපාල කියලා තරුණ පහේ ගැටෙක් එක්කලා එක්කාසු වෙලා බුද්ධ සෑසනේ රැකබලාගන්න දත කනව ය කියලා සීතාවකින් ආ නඩයක් කතා උණා..."

ඔහු මඳක් කල්පනා කර කතාව යළි මාතෘකාව වෙත හරවයි.

"මේ අටකළං කෝරලේ උඹලට කොහෙ ද ජීවත් වෙන්න බැරි? දත මැදලා විසික්ක කොරන බෝඹු කෝටුවත් හායි ගාලා පැළවෙන සරුසාර පොළොව බොලව්. හරියට විපරං කොරලා බැලුවොත් මේ බැදිවල එළිබහින්න තැනක් නෑ, බේත් අවුසද පැළෑටි. හතර අතේ ගලන හීතල උල්පත් වතුර. උඹලට තියෙන ඔය අඩුම-කුඩුම ටික මදි ද තීක්කිලව්වෙ ජීවිතේ පටංගන්න? උඹලට වරදින්නෙ නෑ බොලව්. හිතට යම්කිසි බයක් සැකක් වගේ දැනුණොත් උඹලා ඉතිං ඉතිපිසෝ ගාතාව කාරිය දන්නව නෙ...?"

කෙටිහාමි සහ පිච්චි ගෞරවයෙන් යුතු ව හිස වැනූ හ.

"එහෙමයි..."

"හ්ම්... ඒ සෑහෙයි... මෙතැනින් තව ඩිංගිත්තක් ඉතර උඩහට යද්දි මහ වන බූටෑව. ඒ හැටි දුර යන්න උවමනා නෑ. උඹල දෙන්නයෙම හිත හා කියන තැනක් බලලා තල් අතු දෙකක් හරි හේත්තු කොරල පැල-ක් අටවාගනිල්ලා. උඹ කැලේ පෙරළන්න පුළුවන් මිනිහෙක් කියලා පේනවා ඉලංදාරියෝ. මේ කාලෙ යසයි උඹලට මහ පොළොවේ යං යං දේ වගා කොරන්න. කොට්ටිඹුල්වල සිල්වතා කියන්නේ මට යි. මං වෙසෙන්නෙ කඳවෙල් පත්තුවෙ කොට්ටිඹුල්වල විහාරෙ ළඟ ම

යි. උඹලත් යංදාක එහෙ වරෙල්ලා..."

කෙටිහාමි සහ පිච්චි මූණට මූණ බලා එකපයින් ඊට කැමැත්ත ප්‍රකාශ කළහ.

"මං උඹලගේ අත්වල බඳින්නං බලගතු පිරිත් නූල් දෙකක්. වරු විසිහතරක් යන කල් උඹලව ආරක්සා කොරයි, දනමුතුකං දෙන රහතන් වහන්සේ නමක් ළඟට වැඩම කොරලා ඉන්න ගානට..."

ඔහු තමන්ගේ ඉණේ එල්ලාගෙන උන් කුඩා පැසක් තුළින් එළියට ගත්තේ පිරුවට කැබැල්ලක දවටා තිබූ පිරිත් නූලක් ඔතන ලද ලී කැබැල්ලකි. හේ එය දිගහැර බඹයක් තරම් දිග කැල්ලක් කඩාගත්තේ ය. ඒ අප්‍රමාණ වටිනා වස්තුව ජීවත් වීමට අවශ්‍ය වූ ආරක්‍ෂාව සපයන බව දත් කෙටිහාමිත් පිච්චිත් සිය අත් මහල්ලා වෙත දිගු කළහ.

* * *

කෙටිහාමි බොහෝ වේලාවක් කල්පනා කරමින් හිඳ තිබේ. එහෙත් තව ම මහ රාත්‍රිය බව වනාන්තරයේ ශබ්දවලින් වැටහේ. පිච්චි කීප වරක් ම නින්දෙන් ගැස්සී අවදි වුව ද කෙටිහාමිගේ අස්වැසිල්ල මත යළි නින්දට වැටුණා ය. තමා නිසා මේ ගැහැනිය මෙසේ ආරක්‍ෂා වී නිදන්නේ ය යන සිතිවිල්ල කෙටිහාමිගේ සිත වෙළෙන්නේ සිහින් ආඩම්බරයකිනි.

කාලය නිසොල්මන් ය; ගමන් නොකරන ගාන ය. කුමක් හෝ විශේෂ, අද්භූත දෙයක් සිදු වීමට නියමිත බව ඔහුට හැඟී ගියේ ඉතා සිහින් ඇඟ හිරිවැටීමක් ද සමගිනි. තම යටිසිත කී දේ සැබෑ ය. මහා වනාන්තරය තුළ ඔහු මුල් වරට ඒ විස්මයජනක, මායාකාරී, අත්භූත අත්දැකීමකට පිවිසිණි. ලියැද්දට ඉහළ ගන වන අරණ දෙසින් සෙලවෙන එළියක් දොළ සීමාව ආලෝකවත් කරමින් ගමන් ගන්නා සෙයකි. ඒ පුදුම සහගත දසුන ඔස්සේ ඔහුගේ දෑස්වල තිබූ නිදිමත මුළුමනින් ම තුරන් වී ගිය අතර, ඔහු කලබල වන්නට වූයේ ය. මේ අද්භූත දෙය ඔහු කුඩා කාලයේ සිට සෙවූ දෙයකි. රාත්‍රියේ බෝ ගසෙන් බෝ ගසට ගමන් කරන දේවතා එළි පිළිබඳ පුදුම හිතෙන



කතා ඔහු කුඩා කල සිය පියාගෙන් අසා තිබුණ ද කිසි කලෙක ඒවා දැක තිබුණේ නැත. සැබැවින් ම එය දේවතා එළියක් සේ ය. එහෙත් ගමන් කරන්නේ පොළොවට ඉතාමත් ම කිට්ටුවෙන් බව හැඟේ. ඔහුගේ ගත සීතල වී ගොස් අත් පුරා හීගඩු පිපෙනු හැඟුණෙන් ඔහු වහා පිච්චි අමතන්නට විය.

"පිච්චියේ... පිච්චියේ... නැඟිටපං ඩිංගකට..."

ඇය ගැස්සී බියට පත් වී අවදි වූවා ය. ඇයට කිසිවක් සිතාගැනීමට හැකියාවක් නැත. ඇ නිඳි ලොවේ අඩක් ගිලී තිබූ සිය දෑස් පිසදමුවා ය.

"උඹලට ආං අර එළිය පේනව ද කියාපල්ලා...?"

ඔහු ඒ දෙසට ඇගේ මුහුණ අතින් අල්ලා හරවා, රහසින් කතා කරයි.

"පෙ...පේනවා..."

ඇය වෙවුලමින් කී කල කෙටිහාමි වහා අසල අතපත ගා වප්පිහිය අතට ගෙන එය ඇයගේ අත තැබුවේ ය.

"උඹලා මේක අතේ තියාගනිල්ලා. හොල්මනක් අවතාරයක් නං උඹලටයි මටයි දෙන්නට ම පේන්න විදිහක් නෑ... උඹලා කොයිකටත් ඉතිපිසෝ ගාතාව සිහියට ගනිල්ලා... පිරිත් නූලත් අතේ තියනවා නේ... මං බලන්නං මොකාදේ කියලා..."

ඇය බොහෝ සේ බියට පත් වී ඔහුගේ බාහුවෙන් තදින් අල්ලා ගති. ඇයට කොළෙ ාන්නා කෝරලේ නපුරු මිනිසුන් මතකයට එන්නට විය.

"උං ඇවිත් වද්ද...? අනේ මාව උංට අරං යන්න දෙන්න නං එපා..."

ඇ බැගෑපත් වූවා ය.

"මාව අතැරපල්ලා. උඹලව මං දෙන්නෑ කාට වත් ම අරං යන්න. අපි ජීවත් වෙන්නෙ මෙතන නං, අපේ කුඹුර තියෙන්නෙ මෙතන නං, මෙතන අපේ... මෙතන මොනව හරි සිද්ධ වෙනව නං ඒක අපි දනගෙන ඉන්න උවමනා යි. උඹල බය නොවී ඉඳහල්ලා. මං විපරං කොරන්නං. බය වෙන්න කාරි නෑ. යම් මංතරේකුත් මගෙ මතකෙ තියෙනවා... "

ඔහුගේ අත මුදා, දෝතින් පිහිය අල්ලාගත්තා ය. පිච්චි සෙමෙන් ඔහුගේ අත මුදා, දෝතින් පිහිය අල්ලාගත්තා ය. ඒ එළිය වනයේ කෙටිහාමි සෙමෙන් පැල තුළින් එළියට බැස්සේ ය. ඒ එළිය වනයේ විශාල පෙදෙසක් ආලෝකවත් කරමින් දොළ සීමාවේ පහළට සෙමෙන් ගමන් ගනී. කෙටිහාමි ලියැද්ද ළගට පිවිස එතැනින් සද්ද නොනැගෙන සේ පල්ලම් බැස ගන කළුවරේ ම කැකිල්ල ගස් ගොල්ල හරහා යාබද කැටකැල ගහ මුලට ආවේ ය. දොළ කණ්ඩියේ මඩු ගස් අතරින් එළිය ක්‍රමයෙන් ළං වෙයි. ඔහු කැටකැල ගසට මුවා වී තදින් ගස අල්ලා ගත්තේ ය. එළිය තව-තවත් ළං වෙයි. ඔහු මඩු ගස් අතරින් දුටු දෙයින් පුදුමයෙනුත් පුදුමයට පත් වූයේ ය. හුළු අත්තක් අතින් ගත් ඉතා වයසක මිනිසෙකි. ඔහු කොණ්ඩය කඩා දාගෙන හිඳී. සුදු රැවුල පපුව දක්වා වැටී තිබේ. ඇගේ නූල් පොටක් නැත. මේ සූනියං දෙවියන් වත් ද යි ඔහුගේ යටි සිත කියයි. තමා කාට වත් ම වරදක් කර නැත. ඒ නිසා බය, චකිතය තරමට ම හිතේ ශක්තියක් ද ගොනු වී තිබේ.

අද්භූත මිනිසා දොළ අයිනේ වූ මහ ඉඹුල් හුළු අත්ත රැගෙන ආ අද්භූත මිනිසා දොළ අයිනේ වූ මහ ඉඹුල් ගස අසල නතර විය. ඔහු හුළු අත්ත ගලක් මත තබා ගස ළඟ නතර වී කුමක් කරන්නේ ද? කෙටිහාමි තව-තවත් විපරම් කරන්නේ ඉතිපිසෝ ගාථාවත් සිතින් මෙනෙහි කරමින් ය. එහෙත් එය පිළිවෙළකට සිතේ පෙළගැසෙන්නේ නැත. කැටකැල ගසේ අත්තක් නිසා ඉඹුල් ගහ මුල හරි හැටි නො පෙනේ. කෙටිහාමි කකුලෙන් ඉස්සී සෝදිසි කරන්නට වූයේ ය. එහෙත් එක වර ම එතැනින් පහළට පය ලිස්සූ ඔහු කැකිල්ල ගස් ගොල්ලට වැටී ඒ ඔස්සේ රවුම් තුනක් පෙරළී දොළ අද්දර කෙටල ගාලේ නතර විණි. ආලෝකය රැගෙන ආ අද්භූත මහල්ලා කලබල වූයේ ඒ වෙලාවේ ය. කෙටිහාමිට දූන් කරන්නට ඇති එක ම දෙය කෙටල ගාලේ නොසෙල්වී හිඳීම පමණි. තමා ළඟ වූ ගිනි හුළ පයින් පාගා නිවා දැමූ අද්භූත මිනිසා කුණුහරුප කියමින් කෑගසන්නට වූයේ ය.

"තොගේ මෝ ගන්න... අවලං අමනුස්ස බල්ලා... තෝ මා පස්සෙන් ආ බව මට දැනුණා. වර මා ඉදිරියට ගෙරියා. පෙනී හිටු මා ඉදිරියේ. මට හැකියි තෝ බලු කුක්කෙක් ගානට මා පස්සෙන් ගෙන්නලා වැඩ ගන්න... ඒ මන්තර තියේ මා ළඟ... පෙනී හිටු මා ඉදිරියේ..."

කෙටිහාමි නොසෙල්ලී ම උන්නේ ය. මහල්ලා දිගට ම කුණුහරුප කියමින් කෑගසයි. හතර අතේ ඇත්තේ අන්ධකාරය පමණි. ගසකින්



කොළ අහුරක් කැඩෙන හඬත් මහා ගුප්ත හඬකින් මන්තරයක් මැතිරෙන හඬත් කෙටිහාමිට ඇසෙයි. මේ නම් මිනිසෙක් ම ය. කෙටිහාමි තව දුරටත් නිශ්ශබ්ද ව ම සිටියේ ය. මැතිරිල්ල නතර වුණේ ය. දිගු නිහැඬියාවකි. කෙටිහාමි යමක් කීමට තීරණය කරයි. ඔහු වෙවුලන බව යටපත් කරගෙන තදින් දත්මිටි කා කටට වීරිය ගෙන හඬ අවදි කළේ ය.

"ඔය ඇත්ත මනුස්සයෙක් නේද...? මං නං මනුස්සයෙක්..."

යළි මඳ වේලාවක් නිශ්ශබ්දතාව පවතී. මොහොතකින් මහල්ලාගේ හඬ ඇසුණේ ය.

"කවුද තෝ, ඔඬ්ඩිය ද...?"

කෙටිහාමි හැකි තාක් පැහැදිලි ලීලාවෙන් කතාකරන්නට විය.

"මම කෙටිහාමි කියලා මනුස්සයෙක්... ළඟ දී මේ කැලේ පදිංචියට ආවේ..."

මහල්ලා ඉන් සෑහීමකට පත්වන බවක් නොපෙනේ.

"ඇත්ත කියාපිය ගෙරියා... තෝ මා මුළාවේ දාන්න ද තනන්නේ..."

"සමන් දෙවිහාමුදුරුවෝ සිහි කොරලයි මේ කියන්නේ. මං කෙටිහාමි. කොළොන්නා කෝරලේ ඉඳලා නිස්කාංසුවේ ජීවත් වෙන්න තියෙන උවමනාවට මේ බැද්දට ආ, ඉතිපිසෝ ගාතාව දන්නා මනුස්සයෙක්... ඉතිපිසෝ බගවා අරහං සම්මා සම්බුද්දෝ..."

මඳක් නිහඬ ව උන් මහල්ලා කිසිත් නොදොඩා දොළ දියට බැස මුහුණ සෝදනු කෙටිහාමිට ඇසුණේ ය. අනතුරු ව හේ බිම තිබූ පන්දම යළි ඒ මේ අත වනා දල්වාගත්තේ ය. ඔහු කෙමෙන් දොළ හරහා කෙටල ගාල දෙසට ගමන් ගති. කෙටිහාමි නැඟී සිටියේ ය. මහල්ලා කෙටිහාමිගේ මුහුණ ළඟට පන්දම කිට්ටු කළේ ය. ඔහු මනුස්සයෙකු බව සැක හැර දැනගත් හේ කතා කරන්නට විය.

"ටිකක් අහකට හැරියං... මං ඉන්නේ නිර්වස්තරෙං..."

කෙටිහාමි කැකිල්ල ගොල්ල තරණය කර කැටකෑල ගස ළඟට ගොඩ වෙමින් "හ්ම්... මං ඒ වග දුටුවා..." යි කීවේ ය.

"ඉදකිං විතරක්... තම්බි මුදලාලියගෙ කාසි පොක්කඩේ වාගේ එහෙට්ටයි මෙහෙට්ටයි වැනෙන මේකෙ ආයෙ බොට මොකක් ද අමුතුවෙන් දකින්න තියෙන්නේ...? ටිකක් ඉහත්තාවට වෙන්න මිල්ල ගස් දෙබලක මයෙ සරුං කඩමල්ලයි, අමුඩ කෙටියයි, බුලත් කොක්කනෙයි ඇති. හිටු මං ඇන්න එන්න... මදයි ගල් ගෙඩි ගොඩේ නිදිමරාන ආවා... කාරි නෑ... කාරි නෑ... කතා කොරන්න මනුස්සයෙක් මුණගැහුණ නේ... හිටුකො මං එනකං..."

* * *

දර කොටන් කිහිපයක් ළං කරමින් කෙටිහාමි මිදුලේ ගිනිමැලය අවුළුවන්නට විය. මහල්ලා ගිනිමැලය ළඟ බිම ඉඳගෙන සිටියේ ය. දැන් ගින්දර හොඳින් දැල්වෙයි. කෙටිහාමි කැප්පෙට්ටියා අතු කීපයක් ද ගිනිමැලය උඩින් දැමුවේ ය. පිච්චි පැල්කොටේ මුල්ලට වී ඉඳගෙන සිටියා මිස එළියට ආවේ නැත. මේ මහා වන මැද දී තමන්ට කතා කරන්නට මිනිසෙකු හමු වීම පිළිබඳ ව මහල්ලා පසු වූයේ සන්තෝෂයෙනි. කෙටිහාමිට උවමනා වී ඇත්තේ මේ අමුත්තාගේ සැබෑ තතු දැනගැනීමට ය.

අමුත්තා කිහිප විටක් ම පැලතුළට දෑස් යොමා විපරම් කරනු කෙටිහාමි දැක තිබුණේ ය. ඒ පිළිබඳ ව ඔහුගේ සිතේ තිබුණේ නොසතුටකි. කෙටිහාමි කලින් ම පැලට වැදී පිච්චිට එළියට නේන ලෙස උපදෙස් දී තිබුණේ ය. සැක, බිය, තිගැස්ම කුමනාකාරයෙන් වත් පිටට නොපෙන්වා කෙටිහාමි සාමාන්‍ය පරිදි කතා කළේ ය.

"ඉතිං කියමුකො බලන්න... කවුද හැබෑටම මේ වැඩිහිටි ඇත්තා...?"

මහල්ලා උත්තර දෙන්නට වන්නේ උජාරුවෙනි.

"මා ගැන කිව්ව ම මේ අටකළං කෝරලේ නොදන්නා කෙනෙක් නෑ බොලං... මං හතිරිහං රාල. මං පුරසිද්ද වෙද-හෙදකංවලටයි ගුරුකං අතේ වැඩවලටයි."



එසේ කියා ඔහු යළිත් පැලතුළ විපරම් කරන්නට විය.

"කෝ? බවලත් මනුස්සයෙක් උන්නා නේද පැල ඇතුළේ...? බුදි ද...?"

"නාඳුනන අමුත්තෙක් රාත්තිරි තියා දවාලක ආවත්, ගෑනි ගෙයි දොරට එන සිරිතක් තියේ යැ..."

කෙටිහාමි එසේ කීවේ යම් අමනාප ගතියක් ද මහල්ලාට දැනෙන පරිද්දෙනි. මහල්ලා කකුල් කසන ගමන් කතා කරයි.

"ඉඳකිං නාම්බෝ... මේ වළ පයයි ගොඩ පයයි තියාන ඉන්න මට ද උඹ කියා දෙන්න එන්නේ...? වලතුකමකට ඇහුව නෙවෙයි බොල... අහගං... ගෑනු වසී කොරන මංතර මං තරං දන්නා මිනිහෙක් මේ සපරගමු රටේ තවත් හිටියා නං ඒ නවදුන් කෝරලේ ජවුසං රාළ ඉතරයි ඕං... එව්ව බොහොම සූළු මංතර... ඒත් ගොයියෝ.. ඔය සමහර බවලතියන්ට මංතර මතුරමතුර ඉන්න ඕනැන්නෙත් නෑ... මයෙ එක ගෑනියෙක් ගන්න මට උවමනා කොළේ මල් කපන පූංචි පිහියා තලේ ඉතර යි. නාහෙට නාහන කාලෙනේ හැහ්... හැහ්... හැහ්... මේකිගෙ නම සොච්චොහාමි. හොඳ ඉදුණු හිඹුටු ගෙඩියක් කල්පනාවට ගං... මේකි ආං ඒ පාට යි..."

මේවා ගෙවල්වල කතා කළ යුතු දේවල් නො වේ. ඒත් මහල්ලා කතාවට ඉතා රුසියෙක් ය යන වග හැඟුණෙන් කෙටිහාමි සිහින් සිනාවක් නැගුවේ ය. කතාවේ ඉතිරිය කීමට එය මහල්ලාට හොඳට ම සෑහුණේ ය.

"මේකි... ඒ කිව්වේ ඔය සොච්චොහාමි දුරින් දුරට ඇඹරිඇඹරි ඔමරි පපා හිනා වෙනවා. මූණට මුණගැහුණ ම බූකවාගෙන මඟාරිනවා... ඇයි යකඩෝ මේක ඉවසැහැකි ද? දවසක් මං මාන බලලා නතර කොරගත්තා ඉන්නියරක් උඩදි. පිහිය උළුක් කොරලා ඇහුව 'තෝ මා එක්ක එන්න කැමති ද, නැත්තං මැරුං කන්න කැමති ද?' කියලා. මේකි දුන්නෙ එක උත්තරයයි. ඒ මොකක් ද? 'අනේ හතිරිහං අයියණ්ඩියේ, ආවත් ඔය සේර අක්ක ඉන්න පැලේ නං මට ඉන්න බැහැ'යි කියාපි. ඉතින් හදහල්ලාකෝ තව පැලක්. මං මොකද කොළේ? මං මළ කපන කිතුලක් තිබුණා ගෙට පේන-නොපේන දුරින්. ඕං ඔතන හැදුවා වාඩියක් වගේ එකක්. ඒකට වරිච්චි ගැහුවෙ ඒකිට මුල් ළමයත් හම්බු වෙලා ටික දොහක් ගියාට පස්සෙං පහුයි ඕං..."

මහල්ලා කොක් හඬ ලා සිනා සී යළි කතා කරන්නට විය.

"මං මාවතලන්දෙන් අඬගහගෙන ආ ගෑනි මහා කෙට්ටු අම්මංඩි. මුල් ළමයා හම්බු වෙන්න ළං උණාම බඩත් එක්ක හරියට ම මෙකිගෙ පෙනුම නයි නළාව වාගේ ඕං... ඔය හැම ගෑනියෙක්ටම වින්නඹුකං කළෙත් මංමයි. ඇයි බොලං අනිත් ඩෙගා නැට්ලි සේරෙ-ාම උඩ පැනපැන කොරන්න පුළුවන්නං වින්නඹුකම විතරක් කොළ-ාම මොක ද ඒකෙ තියන පරහ? මෙකිගෙ මුල් ළමයා හිර වුණා. ගෑනි මරළතෝනි දෙනවා. මං දෑං දන්නවා ආයෙ දෙකක් නෑ ගෑනියි ළමයයි දෙන්නම එතනම මියැදෙන චිත්තිය. මොකද මං කොළේ...? මල් කපන පීහේ කිට්ටු කොළා හෙමිට. දොර කපොල්ල ඩිංගිත්තක් ඇරුණා ඉතරයි මේං පැංචා කෑගාගෙන එළියට පැනපි. පස්සෙං පහු තුවාලෙට තිවුවේ සබුක්කු දලු අඹරලා. කොලූගෙ නම කෝඳුරුහාමි. දෑං ඒකටත් ළමයි පහක් - හයක් ඉන්නවා."

ඔහු එසේ කියා තනිවම සිනා සී කෙටිහාමිලාගේ පැල දෙස බලා වහා හිනාව නතර කරගත්තේ ය.

"සංසාරේ... උඹලා ඉන්න පැල්කොටේ හැටි! තොපි දන්නෑ මේ වනන්තරේ රඟ. හොල්මන් අවතාර එන්න ගත්ත ම පත්තෑයො, කැරපොත්තො, දළඹුවො වෙසෙනුත් එනව."

ඔහු එසේ කියද්දී කොට්ටිඹුල්වල සිල්වත්ත මිනිසා තමාගේත් පිච්චිගේත් අත්වල බැඳි පිරිත් නූල් සිහිපත් වීම නිසා කෙටිහාමිගේ සිතට සැහැල්ලුවක් ඇති විය.

"හැබැට ම ගුරුන්නාන්සෙ, මේ රාත්තිරි මොනවා හොයන්න ද මේ වනාන්තරේට ආවේ...?"

ඔහු එසේ ඇසූ කල මහල්ලා යළි කොක් හඬ ලා සිනා සෙන්නට විය.

"මට මෙච්චයේ හක්කලං කොරන්න ආයේ රාත්තිරියක්, දවාලියක් කියල පංගු-ජේරුවක් නෑ බොල. මයෙ ගෙවල් තියෙන්නේ දික්යාය කන්ද කෙළවර පැලවත්ත මූකළානේ... තව හෝරා එකයි පංගුවකිං විතර සුදු එළිය වැටෙයි. උඹලා බුදියගනිල්ලා. මං මේ ගිනිමැලේ ගාව ඉඳලා ඇටිකුකුල්ලු හඬලන්න පටංගත්තා ම යන්නං... ආයිත් වංගියක් එන්න බැරි යෑ උඹලා බලන්න දවාලියක..."



මේ අමුත්තාගේ පැමිණීම පිළිබඳ මුලින් තිබූ අකැමැත්ත කෙටිහාමිගේ සිතේ දැන් නැත. ඔහුගෙන් වනාන්තරය පිළිබඳ බොහෝ කාරණාකාරණ උගත හැකි බව කෙටිහාමි සිතුවේ ය. එපමණක් නො ව, ඔහු බේත් හේත් දන්නා මිනිසෙකි.

"උදේ රැයින් ම යන්න උවමනා නෑ. උදේට කොස් ඇටයි, කැකුණ දලුයි තම්බන්න සූජානං කොරලා තියෙයි. මේ ඇත්තෝ මනාප නං කාල යන්න බැරි යැ, දියලුණු ටිකක් කාරිය ඉහගෙන..."

"ආ... උඹලට දියලුණුත් තියේ ද...?" ඔහු ආසාවෙන් අසයි.

"එනකොට ගෙනා පුංචි ලුණු මුළක් තියේ..."

"පංකාදු යි! ලුණු රහට යමක් කෑ කාලයක් මතක නෑ... ලුණු ගන්න නං තවලංකාරයෙක් අල්ලගන්න ගොඩකේලටම යන්න එපැ යි. ඒකා ලුණු සේරුවකට කුරක්කං සේරු තුනක් වත් ඉල්ලනවා. හ්ම... තොපි නිඳාගනියවුකෝ... මට රෑට නින්ද යනව හොර යි."

කෙටිහාමි පැල තුළට ගියේ ය. කොයි කෙසේ වෙතත් සුදු එළිය වැටෙන තුරු අවදි ව හිඳීමට ඔහු තීරණය කරගති. මහල්ලා සී පදයක් කීමට පටන් ගත්තේ ය.

"හීතලේ බැරි ය මේ රට උහුලන්ඩ
කේතලේ වතුර හෙම නැති ව ද බොන්ඩ
දුංකළ ටිකක් දීහං මට විට කන්ඩ
පිං කළ ළදේ දොර ඇරහං ගෙට එන්ඩ"

කවියෙන් කී දේ තේරුම මේ මිනිසාගේ සිතේ තියෙන දේ වත් දෑ යි කල්පනා කළ කෙටිහාමි සෙමෙන් කර පොවා ඔහු දෙස බැලුවේ ය. එහෙත් මහල්ලාට කිසිත් පිළිබඳ වගක් නැත. ඔහු මදුරුවන් එළවමින්, සිය කකුල් කසමින්, මහ වනය දෙස බලා වනයට මොන-මොනව දෝ කියමින්, ගිනිමැලයෙන් දැත් රත් කරගනිමින් පසු වෙයි. ඔහු ඉතා වටිනා අහිංසක ගැමියෙකැයි කෙටිහාමි තීරණය කරගත්තේ ය.

* * *

රවුමට කපන ලද කොළපතකට, තැම්බූ කොස් ඇට ස්-වල්පයක් සහ කැකුණ දලු දමා ලූණු දිය ඉස මහල්ලාට පිරිනැමූ කෙටිහාමි තමාගේ පත අතට ගත්තේ ය. ඉන් කොස් ඇට දෙකක් අතින් කුඩු කර අසල ඇටඹ ගස මුල තැබූ පෙති ගල මත තබන විට ද ලෙහෙන්නු දෙදෙනෙක් ඒ අසල ගැවසෙමින් සිටියහ. මහල්ලා ඒ දෙස බලා සිටියේ සන්තෝෂයෙනි. ඒ වන විට තමන්ලා මෙහි පැමිණි කතන්දරය කෙටිහාමි විසින් මහල්ලාට කියා තිබිණි.

“මොන නැකතක උපන්නත්, මොන තරං කාලකණ්ණි ය කිව්වත්, මං නං ගොයියෝ මගේ ලෙයින් උපන් එකියක් ඒ විදිහට එකළුකාගේ මදන කුලප්පු අරවා ගන්න පංගාර්තු කොරන්නෑ...”

පිච්චි ද ගේ මුල්ලට වී කොස් ඇට බුදින ගමන් කතාවට ඇහුම්කන් දී සිටියා ය.

“යං කිසි නාම්බෙක් - නැම්බියක් උංගේ මනාපෙන් ආලවන්තකොමේ පැටලිලා පඳුරු ගැන්නිලා ඒ රහස් ඩෙගා නැටිලි කොරගත්තට මං නං ඇඟැක් ඇරල බලන්නෑ. ඒත් බොලං, ඔහොම තිවට වැඩ කොරනවට වඩා නම්බු යි ඒකිගෙ බෙල්ල මිරිකලා, තමනුත් කැලෑ වැදිලා නියඟලා අලයක් කාලා ගහක් මුල හාන්සි වෙන-එක. කාරි නෑ... කාරි නෑ... මොන දේ උණත් තොපි දෑං මේ ඉන්නෙ යස අගේට!”

මහල්ලා වට-පිට බලා සන්තෝෂයෙන් කතා කරයි.

“තොපිට ම කියලා ගහක් යට හරි නවාතැන්පොළක් තියෙයි; කුඹුරක් ය කියන්න ලියැද්දක් හරි තියෙයි; පොල් පැළහැට්ටක් තියෙයි...”

“නියඟය අල්ලලා අපේ අස්වනු යායවල් පිටින් පිදුරු වෙලා ගියා. මයෙ අප්පුච්චා ලෙඩින් ඉන්න ගමං ගොයම් ගහෙන් ගහට ඇවිදලා බොල් නොවිච්චි වී ඇට හොයල හොයල එක්කහු කොරලා මයෙ අත තියාපු වී අහුර... අනේ ගහක්-ගලක් වාගෙ උන්නු මයෙ අප්පුච්චා..”

කෙටිහාමි එසේ කියා සුසුමක් හෙළා මඳක් කල්පනා කරමින් හිඳ යළි කතා කරන්නට වූයේ තරමක් පිබිදුණු සිතකින් ය.

“අපි මෙතැනට ඇවිත් පළමු රාත්තිරි නොසෑහෙන්න වරුසාව වැස්සා. රෑ දොළ ගලනවා ඇහුණා මහ බයානක විදිහට. පහුවදා උදේ දොළ අද්දරට ගියා ම ඔය පොල් පැළහැට්ට ගං වතුරට ගහගෙන



ඇවිල්ලා රැඳිල තිබුණ කෙටල ගොල්ලේ. මට ඒක දැක්කම බොහොම ආසා හිතුණා. අපි ඒක ගෙනැල්ලා ඇටඹ ගහ හෙවණේ තියලා තිව්වා. කුඹුර වැපිරුවට පස්සෙං පහු ඕක කුඹුර ළඟ හිටෙව්වෙ මේ පිච්චිගෙ අත් දෙකෙන්...”

“පංකාදු යි බොලං...! උඹලා ඒ පොලේ ගලක ගහලා පළලා පොල් ටිකයි පැළපීයයි කෑව නං මොක ද වෙන්නේ...? ඒක එතැනින් අහවර යි. ඒත් උඹලා ඒක හිටෝලා. දෑං උඹලට පොල් පැළ හැට්ටක් තියෙනවා. මේකෙං තව පරම්පරා දෙක-තුනකට පොල් බුක්ති විඳින්න පුළුවං... පංකාදු යි බොලං...! පංකාදු යි...!”

කෙටිහාමි ආඩම්බරයෙන් පැල දෙස බැලුවේ ය. පිච්චි ද කෙටිහාමි දෙස බැලුවා ය. ජීවිතය පිළිබඳ තිබූ අප්‍රමාණ බිය දැන් ඈ කෙරෙන් ක්‍රමයෙන් පහ ව ගොස් ඇත්තා සේ ය. සිනාවට සමීප ප්‍රසන්න බවක් ඇගේ මුහුණේ හටගෙන තිබේ. ඇටඹ ගස මුලට අව්ච්චියෝ දෙදෙනෙක් ද පැමිණ ආහාර අනුභව කරමින් හිඳිති. බඩ පුරවාගත් ලෙහෙන්නු යුවළ ඇටඹ ගසේ ඉහළට දුවති. යළි පහළට දුවති. කෑම කා අවසන් වුණු මහල්ලා කොළපත් ගොටුවෙන් වතුර බී කතා කරයි.

“මං කීප වංගියක් ම දැක්කා ඉලංදාරියෝ... උඹ වං අත ආංබාං කොරන්නෙ හිරවෙච්චි ගතියකින් වාගේ...”

“ආපු මුල් දා රාත්තිරි පත්තෑයෙක් කෑවා, ගරුඬෙක් මයෙ හිතේ.”

කෙටිහාමි වමත දිගහැර යළි හකුළා කීවේ ය.

“හ්ම්. ඒකට ආයෙ අමුතු අමුතු බේත් උවමනා නෑ. අන්න අර දොළ පහළින් හබරල කොළ කැල්ලකුයි අල කැල්ලකුයි ගෙනත්, විට කන හුණු කළඳක් එක්කාසු කොරලා උඹගෙ හරි මායියාගේ හරි මුත්තරා බිංදු තුන-හතරක් එක්කලා අඹරලා කැමුකේ ගාහංකො...”

කෙටිහාමි ගෞරවයෙන් යුතු ව “එහෙමයි” කියා ඒ බෙහෙත මතක තබා ගත්තේ ය. මහල්ලා විටක් සපමින් තම කොක්කනයේ වූ හුණු කිල්ලෝටයෙන් හුණු කළඳක් බුලත් ඉරුවක ඔතා කෙටිහාමිට දුන් අතර කෙටිහාමි එය දෝතින් ගත්තේ ය.

“ඔය කුඩැල්ලා සමහර බවලතියන්ට විසයි. උඹේ මායියගෙ කකුල් කෙටි දෙකේ තියෙන දද පළු කුඩැල්ලො කාපුවා වෙන්නැති මයෙ හිතේ...”

මහල්ලාගේ අවධානය පිළිබඳ කෙටිහාමිට පුදුම සිතුණේ ය. පිච්චි ද පැලතුළ සිට ඉතා අවධානයෙන් අසා සිටියා ය. මහල්ලා දිගට ම කියාගෙන යයි.

"ගොරකා දලු ටිකක් කඩාගෙන ඇවිල්ලා වද කහ අලයක් එක්ක දිය ලුණු ඩිංගිත්තක් කවලං කොරලා අඹරලා ගාහල්ලා. තුන් දොහක් ගෑහම මදෑ. වද කහ තියෙයි ඔය දොළ අද්දර. උඹලා මේ වනන්තරේනං ජීවත් වෙන්නේ ගේ වටේට අමු කහ, මුරුංගා, කරපිංචා, හඳුන්, කොහොඹ, කෝමාරිකා කාරිය වවා ගනියවු. ලියැද්ද පහළ වක්කඩේ ළඟ වද කහ පඳුරක්, කොහිල පඳුරක් වවාගත්තට කාරි නෑ. මතක තියා ගිනියවු ඉඳුණු රබ්බඩ ගෙඩියේ ලෙල්ලේ තියන පැඟිරත් යසයි මකුළු විසට කාරිය..."

එසේ කී මහල්ලා යාමට නැගිට්ටේ ය.

"මං ආයේ ටික දොහකින් තැඹිලි පැළයක්, දෙහි පැළයක්, අන්නාසි පැළයක්, ඉඟුරු පැළයක් හෙම අරගෙන එන්නංකො තොපි බලන්න..."

කෙටිහාමිට අදහසක් පහළ විය. ඒ මේ වටිනා අමුත්තාට වැඳ සමුදීමට ය. ඔහු ගෙට අමතුවේ ය.

"පිච්චියේ මෙහෙ වරෙල්ලා. මේ ඇත්තා යන්න තනනවා. ඇවිත් කතාකොරපල්ලා..."

කෙටිහාමි පහත් වී මහල්ලාට වැන්දේ ය. පැලතුළ සිට පැමිණ පිච්චි ද ඔහුට දණගසා වැන්දා ය. මහල්ලා ඊට "හ්ම්" කී ය. ඔහු ඇටඹ ගහ ළඟින් පල්ලම් බහිද්දී කෙටිහාමි ද ඔහු පසුපස වැටුණේ ය. ඔහුට තව එක් පැනයක් ඉතිරි වී තිබේ.

"මයේ දැනගැනීමට යි මං මේ අහන්නේ... හැබැට ම ඊයේ රාත්තිරි මොනව ද ඒ හොයාපු බේත...?"

මහල්ලා දොළ දෙසට පල්ලම් බහින ගමන් ම කතා කරන්නට විය.

"මයෙ පුංචි කෙල්ලගේ හීං කොල්ලට තදේට කක්කල් කැස්ස. ඒකට මිනිහෙකු එල්ලිලා මළ ගහකින් පොත්තක් ගලවාගෙන, මංතරයක් තියනවා ඒක මතුරලා හිංචාගෙ බෙල්ලෙ එල්ලන්න ඕනි. රාත්තිරි නිර්වස්තරෙං තමයි පොත්ත ගලවන්න ඕනි... ඒක කෙමක්... එත් නර දැහැකිං දුටුවට පස්සෙ කෙමකිං පලක් තියේ යැ...?"



කෙටිහාමි ඒ කතාවෙන් පසුතැවෙන්නට විය.

"අනේ මං ඒ වගක් දැනගෙන විපරං කොළා නොවෙයි ඔන්න..."

"හරි හරි ඉලංදාරියෝ... කවුද ඉතිං උඹට දොසක් පංගාර්තු කොළේ..? දූං කාරියක් නෑ. තව බේතක් මගේ මතකේ තියෙයි."

ඔවුහු දොළ අද්දරට පැමිණ, ඒ මහඉඹුල් ගස අසල නතර වූ හ.

"මේ ඉඹුල් ගහේ මනුස්සයෙක් එල්ලිලා මියැදිලා තියෙනවා මීට වරුස ගණනාවකට ඉස්සර. මට කිව්වෙ අපේ අප්පුච්චා. මේ දොළ පොතුවිල් දොළ. ඒ කාලේ මහ අධිකාරංවරු ගිය අඩි පාරක් තිබිලා තියනවා මේ දොළ අයින දිගේ. අපේ අප්පුච්චාත් දවසක් මෙතනින් ගමන් කොරල තියෙනවා. නිකංම නෙවෙයි, කවුදෝ දීපු ගෝණ මස් ගාතෙකුත් ඇන්න. ඉඹුල් ගහේ මේ සිද්දෙ දැක්කට පස්සෙ උංදෑ ඒ මස් ගාතෙත් මේ ඉඹුලෙම අත්තක එල්ලා තියලා යන්න ගියාලු. උංදෑ මියදෙනකං මේකට කිවුවේ 'මස්ඉඹුල' කියල..."

# 02

ඒ වටිනා ආගන්තුක මහලු මිනිසා නික්ම ගොස් තුන් වන දිනයේ රාත්‍රියේ ද අඹරාගත් ගොරක දළු, වද කහ, ලුණු කල්කය පිච්චිගේ දෙකකුල්වල ගෑමට කෙටිහාමි අතට ගත්තේ ය. පිච්චි පැදුරේ ඇල වී හිඳී. ළිඟගල මත දැල්වෙන තෙළඹු ගෙඩියේ බෑයකින් තනා දොරණ තෙල් දමා දැල්වූ පහනේ වූ නිල් පැහැති දැල්ල නිවී යෑමට ආසන්නයේ මවන්නේ තරු එළියට සමාන ළා එළියකි.

කෙටිහාමි සෙමෙන් බෙහෙත් කල්කය පිච්චිගේ කකුල්වල ගෑම පටන් ගත්තේ ය. පිච්චි සිටින්නේ නින්දේ නොවන බව කෙටිහාමිට දැනෙයි. ඈ උදේ ලියැද්ද අසල පොල් පැළය ළඟට වී තනියම තාලයක් මුමුනන අයුරු කෙටිහාමි දැක තිබුණේ ය. ඒ වගේ ම වැඩෙන ගොයම් පැළ දෙස බලා ඈ සිනා සෙන අයුරු ද කෙටිහාමි දුටුවේ ය. ඒ සැහැල්ලුව ඉතා මත් ම පරිස්සමින් ආරස්සා කළ යුතු යැයි ඔහු කල්පනා කළේ ය.

හරි ම අරුම පුදුම දේ සිදු වූයේ මේ සවස් යාමයේ ය. දොළට බැස දිය නාගත් කෙටිහාමි සරම සෝදා වේළෙන්නට අව්වේ දමා අමුඩය පිටින් ලියද්ද වටා ඇවිදිමින් උන්නේ ය. පිච්චි දිය නෑම සඳහා දොළට ගියේ තමාගේ තෙත සරම ඇඳගෙන ය. ඒ එසේ සිදු වූ පළමු අවස්ථාව යි. තමා මේ ගැහැනියට අයිති පිරිමියා ය යන සිතිවිල්ල ගලක කෙටුවා වැනි හැඟීමකින් සිත පිරී යනු කෙටිහාමිට දැනිණි.

සවස ලියැද්ද පහළ මඩ ගොහොරුවේ තොරතෝංචියක් නැති ව නැටූ, දඟලූ, පෙම් කෙරූ දිය බලු යුවළ දෙස බලා ඇය සිනා සුණා ය. පසු ව දිය බල්ලා විසින් දිය බැල්ල ග්‍රහණයට ගෙන උනුන් අතර ඒ ජීවිත ඇමිණුම් කාරිය සිදුවන වේලාවේ නම් ඇය බිය වී ඉවත බලා ගන්නා අයුරු කෙටිහාමි දුටුවේ ය. යළි හැන්දෑවේ ළිප ළඟ දී කුකුළල තම්බන ගමන් ඈ තනිවම සිනාසෙන අයුරු කෙටිහාමි ඇටඹ ගස මුලට වී දැක-බලා ගත්තේ ය.



රාත්‍රිය තව-තවත් ගන වේ. දොරණ තෙල් පහන් දැල්ල නිවී යෑමට මෙන් දඟලයි. කණාමැදිරියෝ සේරම වාගේ ඇටඹ ගස පුරා දැල්වෙති; නිවෙති. අද උන් සේරෝම ඇටඹ ගසට ම එක් වූ කරුණ කිම...?

කොරවක්කෝ තුන්-හතර දෙනෙකු දොළ සීමාවේ කෑගසන්නේ නිකම් පුරුද්දට වගේ ය. ඒ නැති ව උන්ට යම් අනතුරක් නිසා නම් නොවේ. ගත වූ දින දෙක-තුනේ පිච්චි රාත්‍රියේ හීනෙන් බිය වී කෑගෑවේ නැත. ලියැද්ද සීමාවේ ඉහළ අහසේ තරු ඉහිරී තිබේ. දිවා කල තමා පොල් හොයන්නට දොළ දිගේ උඩහට ගිය වේලේ ඇත්හොඬ ගස් යායක උන් සමනලුන් රංචුව කෙටිහාමිට සිහි වූයේ ය. උන් සිරිපාදේ යන ගමන් ටිකකට නතර වුණා විය යුතු ය. පිච්චිට උන් ගැන කියන්නට තිබුණා නම් හොඳ ය.

පිච්චිගේ දෙකකුල්වල සීරුවට බෙහෙත් ආලේප කළ කෙටිහාමි ඇගේ දණහිස්වලට ඉහළින් වූ දද කීපයේ ද බෙහෙත් ගල්වන්නට වෙයි. ළා නිල දොරණ තෙල් පහන් දැල්ලට දිස් වූ ඇගේ කලව ඔහුට සිහි කළේ ඇත්තෝර දල්ලේ යටි පැත්තේ වූ ඒ අමුතු පැහැය යි. ඔහු ඒ ගැන සිතමින් කලවයේ කල්කය ගා පිරිමැද්දේ ය. නිසොල්මනේ උන් පිච්චි එක්වර ම කෙටිහාමිගේ අත තදින් අල්ලාගත්තා ය. කෙටිහාමි සිතුවේ ඇය අත ගසා දමාවි කියා ය. එහෙත් එසේ වූයේ නැත.

* * *

පසුදා උදය ලජ්ජාව පිරුණු හරි ම අමුතු එකක් විය. ඔවුන් හෝරා දෙක-තුනක් යන තුරුත් හරි හැටි මුහුණට මුහුණ බැලුවේ නැත. එහෙත් වෙනදාටත් කලින් අවදි වූ පිච්චි මිදුලේ වැටුණු කොළ අහුලන අතරේ ලියැද්ද වටා සන්තෝසයෙන් යුතු ව ඇවිදින කෙටිහාමිව දුටුවා ය. කොළ රොඩු අහුලා කොළපතට එක්කාසු කරන ගමන් පිච්චි ද තනිවම සිනා සෙනු කෙටිහාමි දුටුවේ ය. ඉර හොඳට ම ඇහැරී හෝරා දෙක-තුනක් ගත වූ තැන පිච්චි විසින් තැම්බූ කටු අල කොළපත කෙටිහාමිට පිළිගන්වන වේලේ දී ඔවුන්ගේ ඇස් එකටෙක මුණගැසිණි.

කෙටිහාමිට එය අමුතු ම දවසක් වූයෙන් ලියැද්ද අසලට වී සුළඟ අමතා කවියක් කීමට කල්පනා විය. මහ ගස් අතු මත හිඳ පල්ලම් බසින සුළං පුංචි ගොයම් ගස් නටවනු පෙනේ. සිය පියා හීතලහාමි කී කවියක වචන කෙටිහාමිට යන්තමින් මතක තිබිණි.

වරෙං වරෙං සුළන්නේ
සුළං සුළං වරෙන්නේ
අපිව බලා යන්න වරෙන්නේ
අපෙ කුඹුර බලා යන්න වරෙන්නේ....

ඔහු සන්තෝෂයෙන් එහෙත් තාලයට ඇද පැද කියමින් ලියැද්ද වටා ගමන් කළේ ය. ළිප ළඟ උන් පිච්චි තනිවම සිනාසෙමින් එය අසා සිටියා ය.

# 03

කෙටිහාමි වනාන්තරයෙන් බොහෝ දේ සොයාගෙන විත් පිච්චිට කන්න දෙයි. මුලින් ම පිච්චි වමනය කරන සන්දියේ දී තැඹිලි පැළයක්, ඉඟුරු පැළයක් සමඟ අන්නාසි, මිරිස් සහ දෙහි පැළ ද හාල්සේරු හතරක් සහ කුරක්කං සේරුවක් ද රැගෙන පැමිණි හතිරිහං රාල මාමණ්ඩි ඇයට නියම කළේ සුමාන දෙක-තුනක් වත් හිඟුරල කන්න කියා ය. ඔහු කිවුවේ එසේ හිඟුරල කෑමෙන් ළමයා හොඳින් කුසේ පැළපදියම් වන බව ය. මේ සමයේ බවලත් ඇත්තියන්ට ගිරි යක්ෂණියගෙන් සිදු වන කරදරවලින් ආරක්‍ෂා වීමට ඔහු නූලක් ද පිච්චිගේ ගෙලේ ගැටගැසුවේ ය.

ලියැද්දේ ගොයම් කපන ලද්දේ මෙයට සුමානයකට හමාරකට පෙර ය. පළමු අස්වැන්නේ වී සේරුවකට වඩා ප්‍රමාණයක් තිබූ අතර, කෙටිහාමි ඒවා ඊළඟ කන්නයේ වැපිරීමට බිත්තර වී ලෙස ගැනීමට තැබුවේ ය. පුංචි ගෙපැල කාටුව සුවඳින් පිරී පැවතුණෙන් ගෙපිළේ ඉඳගෙන බොහෝ වේලා ග කිරීමට හෙතෙම ප්‍රිය කළේ ය.

ගේ කුරුල්ලන්ට කන්නට වී කරල් හය-හතක් බිත්තියේ කොනක එල්ලන ලද අතර එක ම එක් වරක් පමණක් වල් ඌරෙකු නියරක පැත්තක් බිඳීම සහ මීයන් කිහිප දෙනෙකු නියරවල සිදුරු කිහිපයක් සාදා තිබීම හැරෙන්නට ගොයමට සැලකිය යුතු හානියක් වූයේ නැත. කෙටිහාමි ලියැද්දේ කෝටු සිටුවා ඒවායේ පොල් ලෙලි කිහිපයක් ගැසුවේ ය. ඒවා දුටු කල ඒ හම්බාවන් යැ යි රැවටුණු මීයන් ඉන් පසු නියරවල් බින්දේ නැත. ගොයම් මැස්සන්ගෙන් කුඹුර ආරක්‍ෂා කරගැනීමට ගොයම් කිරිවදින සමයේ ගොඩකිරිල්ල පොතු මුල් සතරක් ලියැද්දේ හතර සීමාවේ එල්ලන ලද්දේ හතිරිහං මාමණ්ඩිගේ උපදෙස් පිට ය. ඒ ගඳට ගොයම් මැස්සන් කුඹුරට ආවේ නැත.

බිත්තර වී ප්‍රමාණය ලියැදි පහක් හයක් තරම වැපිරීමට සෑහෙන නිසා තව ලියැදි පෙළක් සෑදීමට කෙටිහාමි කටයුතු කළේ ය.

* * *

අමාවක ලබන දින සවස් යාමයේ පටන් මහ වැසි ඇදහැලෙන්නට විය. පෝය දිනයට පිච්චිට විලිරුදාව සෑදෙනු ඇතැයි කියූ හතිරිහං මාමණ්ඩි "ඒ වෙලාවට උඹලත් එක්ක ඉන්න මං එනවා" යි කල් ඇති ව ම කියා තිබිණි. මහ වර්ෂාවේ ගෙපිළ මත ඇන තබාගත් කෙටිහාමි හතිරිහං මාමණ්ඩි එන තෙක් මඟ බලාගෙන සිටියේ ය. ගේ තුළ පැදුර එළාගත් පිච්චි එහි වාඩි වී සිටියා ය. ඔවුන්ට දූන් වියළාගත් තලකොළවලින් වියාගත් හොඳ මෝව්ට සහිත පැදුරක් තිබේ.

මේ ගත වූ කාලය තුළ ඔවුන් වරිච්චි ගසා කාමරයක් සහ කුස්සියක් තනාගෙන තිබුණේ ය. ගේ තැනීමට ප්‍රථම වේවැල් පෙට්ටියේ තිබූ කිකිළි බිත්තරයක් තරම් වූ රවුම් ගල කෙටිහාමි විසින් හතිරිහං මාමණ්ඩිට පෙන්වන ලද අතර ඔහු කිවුවේ අත්තිවාරමේ මුල්ලකට සිටින සේ එය වළලා ගේ සාදන්න කියා ය.

"ඔය රත්නපුරා පැත්තට වෙන්න නං පාට පාට ගල් එක්කාසු කරනවලු තම්බි මිනිස්සු. නවන්දන්න ගොල්ලො රන් අබරණ හදන්න නිල්, රතු ගල් ගන්නවාලු නේ. කාටද ඉතිං ඕව්වා උස්සාන රත්නපුරා යන්න වෙලාව තියෙන්නේ? වෙන වැඩක් නැතුවට හොඳා. උඹලට ලැබුණු දුං ගල ගෙට යට කොරලා ගේ හදාපුවහම උඹලගේ ගෙට වාසනාව, සිරියාව ලැබෙයි."

කාරණය සැබෑ ය. ගේ ඉතා මත් වාසනාවන්ත පාට ය. ලියැදි පෙළ දෙස සිට ගේ දෙස කොච්චර වේලා හරි බලාගෙන හිඳීමට කෙටිහාමි කැමැති ය. පිච්චි වඩාත් ම කැමැත්ත දක්වූයේ කුස්සියේ විසීමට ය. ඔවුන්ට දූන් කෑම පිසීමට මී තෙල් ද තිබේ. මී ඇට වේළා, පොතු හැර ගල උඩ තබා තළා රෙදි පාංකඩයක ලා වැරෙන් අඹරා ඒවා හින්දේ කෙටිහාමි ය. පිච්චි ඒවා කොළපත් ගොටුවල දමා කුස්සියේ ළිපට ඉහළින් එල්ලා තැබුවා ය. එපමණක් නො ව, අටු කොස්, වැලි කොස් ඇට, වියළා ගත් අල ගොබ සේ ම කිතුල් පිටි සේරු කිහිපයක් ද ගෙයි තිබේ. මිල්ල කොටයක් කපා තනාගත් වංගෙඩියකට හිමිකම් කීමට ද ඔවුහු පොහොසත් වී සිටියහ.

ලේ වැඩීමට දවසක් හැර දවසක් වත් පොලොස් කෑ යුතු බව හතිරිහං මාමණ්ඩි කී නිසා ම කෙටිහාමි නිතර හොඳ කොස් ගස්වලින් පොලොස් කඩා ගෙනාවේ ය. ඉතා රසට පොලොස් ව්‍යංජනයක් තනා ගැනීමට දූන් ඔවුන්ට වේළා ගත් ගොරකා ද ඕනෑ තරම් තිබේ.



වැස්ස තුරල් කරන පාටක් නැත. කෙටිහාමි පිළේ ඇන තබාගෙන වැස්ස දෙස බලාගෙන ම සිටියේ ය.

"මෙහෙව් වරුසාවක් මං නං දකලා නෑ සම්මජ්ජාතියකට. නියරවල් ටිකත් එක්ක හෝදගෙන යයි ද මං දන්නෑ..."

වර්ෂාව තද නිසා ම කුඹුරු පෙදෙස පැහැදිලි ව නො පෙනේ. අලුත් පුංචි ගොයම් පැළ සේ ම පහළ අලුත් නියර පෙළ සිහි වන විට කෙටිහාමිගේ පපුව පිච්චී යයි. වර්ෂාව එන්න එන්න ම වැඩි වුණා මිස අඩු වුණේ ම නැත. කළුවර ද වැටුණේ ය. පහන පත්තු කර දොර ළඟ තැබුවේ ද කෙටිහාමි විසිනි. වර්ෂාවට ගිනිමැලය නිවී ගොස් ය. කෙටිහාමි යළි පිච්චි දෙස බැලුවේ ය. පිච්චි පෙර සේ ම පැදුරේ හිඳගෙන කකුල් දෙක දිගැරගෙන නිසොල්මනේ හිඳී. මෙවේලේ මෙහෙම නිසොල්මනේ උන්න ද ඇය දූන් ඉස්සර වගේ නො වෙයි. කතා කරයි; විහිළු කරයි; සිනා සෙයි.

දොළ දරුණුවට ගලන්න වී දූන් හෝරාවකටත් වැඩි ය. සුළඟ සමඟ ගෙට හිරිකඩ වදින්නේ කවුරුහරි කුල්ලකින් වර්ෂාව හරහා පවන් ගසන්නා සේ ය. ඒ අතර දොළ දෙසින් යම් කෑගැමක් ඇසූ නිසා කෙටිහාමි වහා කලබල විය.

"මාමණ්ඩි ඇවිල්ලා වගේ. දොළේ වතුර වැඩි කොරලා එන්න හැටියක් නැති ව ඇති. උඹලා ඉඳපල්ලා. මං බලලා එන්නං විජහට..."

එසේ කී ඔහු අසල තිබූ තල් අත්ත ද ඉහලාගෙන කැකුණ තෙල් දමූ උණ බට විලක්කුව ද පත්තු කරගෙන දොළ දෙසට දුවන්නට විය. දොළේ වතුර ඉතා මත් වැඩි වී තිබේ. දිය සුළි නඟමින්, මහා හඬ නඟමින් ගලාගෙන යයි. මහල්ලා මහා වර්ෂාවට තෙමිතෙමී ම එතෙර වූ ගොඩපර ගහ අසල හිඳී. ඔහු කෙටිහාමිගේ විලක්කු එළිය දැක කෑගැවේ ය.

"මට එන්න හැටියක් නෑ බොලං. වතුර පාර හොඳට ම වැඩි යි. මං අඩු උණාම එන්නං. උඹ ගැනි හෝදිස්සි කොරහං."

ඔහු කී දේ මහ වර්ෂාව අතරින් ඇසුණේ කඩින් කඩ ය. කෙටිහාමිට කළ හැකි කිසිත් සිතට නොනැගේ. වැස්ස වසින්නේ යම් කෝපයකින් මෙන් ය. කෙටිහාමිට යළිත් ගෙදරට දුවලා එන්න සිතෙයි. තල්

අත්ත ඔහුට මහා කරදරයක් ය. ඔහු එය විසි කර දැමුවේ ය. විලක්කුව ද නිවී ගියෙන් හේ කළුවරේ ම ගෙදර ආවේ ය. පිච්චි පෙර සේ ම වාඩි වී හිඳී. කිසිදු කතාබහකට ඈ තුළ කැමැත්තක් නැති බව පෙනේ. කෙටිහාමි මඳක් ඈය විපරම් කොට යළි දොළ දෙසට දුවන්නට විය. මහල්ලා සැඩ පහර අයිනට ම වී ඉන්නා අයුරු පෙනේ. මෙගොඩ වූ මී ගසක එගොඩ කරා නැමුණු අත්තක් අල්ලාගත් ඔහු කෑගසයි.

"මට මේ මී අත්තේ එල්ලිලා ඔය පැත්තට එන්න පුළුවන් වෙයි. ඒත් බොලං මේ තරං ජලස්කන්දයක් මං මීට කලිං නං දැකලා නෑ. මං කොහොමිං හරි එන්නං. උඹ ගෙදරට පලයං මයෙ පුතේ..."

"හත්ඉළවුවයි... බලාගෙනයි රත්තරං මාමණ්ඩියේ. කොරන දෙයක් කල්පනාවෙන්..."

මහල්ලා අත්තේ එල්ලී මෙගොඩට එන්නට වැර දරයි. කෙටිහාමි මොගොඩ සිට කෑගසයි. වැහි පොද ඇඟට වදින්නේ බොරලු කැට මෙනි. සම විදගෙන යන සීතල ඇටමිදුලු හරහා ගමන් ගනී. ගේ දෙසින් පිච්චිගේ ළතෝනිය ඇසුණේ ඒ වේලාවේ ය. කෙටිහාමි කලබල වෙයි.

"රත්තරං මාමණ්ඩියේ ගෑනි කෑගහනවා..."

"ගෑනි ගාවට පලයං පුතේ..."

කෙටිහාමි යළි හීයක වේගයෙන් ගේ දෙසට දුවයි. ඔහු දකින්නේ පිච්චි සාලයේ පැදුරේ දිගා වී විලිරුදාවෙන් දඟලන අයුරු ය. වතුර කොළපත් ගොටුවත්, අමතර රෙද්ද සහ වප්පිහියත් ඇය තමාට ළං කරගෙන තිබේ. ඇය මරළතෝනි දෙද්දී මිනිසෙකු පත් වන අන්ත අසරණ ම තත්ත්වයට කෙටිහාමි පත් වී හිඳී. කළ යුත්තේ කුමක් ද යන්න පිළිබඳ කිසි දු අදහසක් ඔහුට නැත. ඔහු පිච්චිගේ හිස ළඟ ඉඳගෙන හැකි තරම් හිස අතගාමින් කෑගැවේ ය.

"ඉවසහං මයෙ පිච්චියේ... ඉවසහං රත්තරනේ... සමන් දෙවිහාමුදුරුවො බලාගෙන ඇති මයෙ අම්මේ..."

පිච්චිගේ කෑගැසීම නතර නො වේ. කෙටිහාමි උමතුවෙන් මෙන් ඒ මේ අත දුව, මිදුලට පැන, මිදුල කෙළවර වූ පහන් පැල අසලට දුව විත් ඊට වැඳ කටින් හුස්ම ඉහළ-පහළ ගන්නට විය. පහන් පැලේ



බුදු පිළිමයක් නොවූ අතර එහි තිබුණේ කෙටිහාමිගේ සහ පිච්චිගේ අත්වල තිබී පරණ වී කැඩී ගිය පිරිත් නූල් කැබලි දෙක පමණි. කෙටිහාමි පහන් පැලට වැඳ යළි ගෙට දිව්වේ ය. පිච්චි පෙර සේ ම අසිහියෙන් මෙන් එක දිගට කෑගසයි.

හෝරාවක් වත් ඇය එසේ කෑගසන්නට ඇත. කෙටිහාමි දඟලුවේ පිස්සු වැටුණු සතෙකු මෙනි. පිච්චි දෙකකුල් ඈත් කරගෙන දඟලමින් කටින් හුස්ම පිඹ මඳකට නතර වූයේ උගුලකට හසු වී පණ යන තුරු දඟලා අඩපණ වූ ඕලු දෙනක පරිද්දෙනි. ඇයගේ ගත අප්‍රාණික වීමට යන්නාක් මෙන් දැනුණු නිසා දෝ කෙටිහාමි වහා පැන කොළපත් ගොටුවෙන් වතුර ටිකක් මුහුණට ඉස ඇගේ පපුව පිරිමදිමින් කෑගසන්නට විය. එසේ බොහෝ වේලාවක් ගත වුණු තැන්හි ඔහු ඇයගේ දෙකලවා අතර අත තබා බැලුවේ ය. එළියට ඒමට නොහැකි ජීවියා හිර වී ඉන්නා බවක් අතට දැනුණේ ය. පිච්චි පණ අදී. යමක් හෝ නොවීමට තව ඇත්තේ ඉතා සුළු මොහොතක් බව කෙටිහාමිට දැනුණෙන් ඔහු යළි පිම්මේ දොළ ළඟට දිව ආවේ ය.

"හතිරිහං මාමණ්ඩියේ... හතිරිහං මාමණ්ඩියේ..."

ඔහු ළතෝනි දුන්නේ ය. සැඩ පහර සුපුරුදු සේ ම ගලයි. එහෙත් මහල්ලාගේ කිසිදු ශබ්දයක් නැත. කෙටිහාමිට හැඬුම් ආවේ ය.

"බුදු රත්තරං මාමණ්ඩියේ... ගෑනි පණ අදිනවා... මට මොනව හරි කියහං මාමණ්ඩියේ..."

ඔහුගේ කෑගැසීම අඳුරේ ම ගිලී ගියේ ය. ඔහු හඬමින් ම යළි ගේ දෙසට දුවන්නට විය. කෙටිහාමිගේ සිතේ ඉතිරි වූ ඒ එක ම බලාපොරොත්තුව ඔස්සේ ගෙදරට යද්දී පිච්චි සිය අවසන් ශරීර ශක්තිය ද වැය කරමින් කෑගසමින් - දඟලමින් සිටියා ය. කෙටිහාමි ඇයගේ දෙකලවා අතර වාඩි වී, මුවහත් තබා කහ වතුරෙන් සෝදා පිරිසිදු කර තිබූ වප්පිහිය අතට ගත්තේ ය. වෙවුලන දෑතින් යුතු ව එය එතැනට ළං කළේ ය. එය කෙසේ සිදු වී ද යන්න හරිහැටි නිච්චි නැතත් ලේ විදුමක් සමඟ ළමයෙකුගේ කෑගැසීමක් ඇසෙන කල කෙටිහාමි සිටියේ සිහි නැති වීමට ඔන්න-මෙන්න කියා ය. පිච්චිගේ කෑගැසීම ක්‍රමයෙන් යටපත් වූ කල පැටවාගේ කෑගැසීම වර්ධනය වන්නට විය. කෙටිහාමිගේ සිත පුරා බියත් - සන්තෝෂයත් සම සම

ව සිටින සේ පිරී තිබුණු අතර ඔහුට දැනුණේ තමාගේ පපුවේ සිර වූ විශාල යමක් සැහැල්ලු වී ගියා සේ ය. තව අතකින් තව යමක් පපුවේ සිර වී යනු දැනුණේ ය. ඒ පිච්චිගේ නිසොල්මන් වීම යි. ඔහු පැටවා හඬද්දී ම යළි කොළපත් ගොටුවෙන් ඇයගේ මුහුණටත් ඇඟටත් වතුර ඉස්සේ ය. ඇය හුස්ම ගනී. කෙටිහාමි හඬන ළමයා පිච්චිගේ ළැමට ළං කළේ ය. පියවුරක මුව ගැටෙද්දී ළමයා ඉව අල්ලා හැඬීම නතර කර සිය පළමු ජීවන සාරය උරා බොන්නට පටන් ගත්තේ ය. පිච්චි සිය දකුණතින් පැටවා තව මඳක් තමාට ළං කරගත්තා ය. කෙටිහාමිට සැබවින් ම හුස්ම වැටෙන්නට වූයේ ඒ වෙලාවේ ය.

ගේ පුරා ලේ ගලනු දුටුයෙන් කෙටිහාමි අමතර රෙද්ද ගුළි කර පිච්චිගේ දෙකලවා අතර සිර කළේ ය. ඔහු තවත් සැහෙන්න වේලාවක් ගැහැනියත් පැටවාත් වැළඳගෙන හද ගැස්මෙන් යුතු ව උන්ට උණුසුම සැපයුවේ ය.

* * *

කෙටිහාමි යළි දොළ ළඟට දුවගෙන එද්දී ද වැස්සේ අඩුවක් නො වී ය. එහෙත් ඒ කරුමක්කාර දේ සිදු වී ඇති බව ඔහුගේ සිතට දැනුණේ ය. ඔහු අප්‍රමාණ වැර යොදා කෑගැවේ ය.

"මගෙ රත්තරං බුදු හතිරිහං මාමණ්ඩියේ..."

* * *

සුදු එළිය වැටී තිබේ. හාත්පස පරිසරය ළා සුදු පාට හීනයක් මෙනි. පෙරට වඩා පිරිසිදුවට පොතුවිල් දොළ ගලා බසී. දොළ අයිනට වන්නට තිබූ ලියැදි පෙළේ නියරවල් සේදී ගොස් ය. ඉතිරි ලියැදිවල ද වැලි පිරී ගොයම් පැළ වැසී ඇති බව කෙටිහාමි දුටුවේ ය. වේල්ල බැඳී ගොස් තිබේ. ඒවා යළි ගොඩනැඟිය හැකි නිසා ඔහුගේ සිතේ ඒ ගැන අමුතු දුකක් නො වේ. කෙටිහාමි විසින් ලෙයින්



පෙඟුණු රෙද්ද දියේ ඔබා සෝදන්නට විය. වප්පිහිය ද දියේ ඔබා සේදුවේ ය. දොළ පහළ මී ගසේ කැඩී ගිය අත්ත ඔහුට පෙනෙද්දී හිත පත්තු වී ගියේ ය. මහල්ලා එල්ලී හිඳ ඇත්තේ අඩි දහයක් පමණ උස අත්තක ය.

පෙරදා රාත්‍රියේ ඒ බිහිසුණුකම් ඔස්සේ හිමි වූ වස්තුව ගෙදර අත්-පා ගසමින්, කෑගසමින් පසු වේ. අහිමි වී ඇත්තේ මේ මහා වන භූමියේ දී තමන්ට හමු වූ පළමු උදාර මිනිසා ය; ජීවත් වීමට වටිනා අවුසද කියා දී, පිච්චිට ළමයා ලැබීමට පහසු වේවා යි පතා රඹුක් ඉස්ම තැඹිලි වතුර සමඟ මුසු කර බීමට නියම කළ වෙදදුරා ය. පෙකණිවැල කැපීමට වප්පිහිය කහ වතුරෙන් සෝදා තබාගන්නා ලෙස උපදෙස් දුන් වැඩිහිටියා ය; ළමයා උපදින දා තමා සමඟ දුක සැප බෙදාගැනීමට දුර ගෙවා ආ ඥාතියා ය.

රෙදි කැල්ල සහ පිහිය සෝදා ගලක් මත තැබූ කෙටිහාමි මී ගහ ළඟට පියවර මැන්නේ ය. ජීවිතය යනු කොතරම් බිහිසුණු දෙයට මුහුණපෑමට සිදු වන පුදුමයක් ද යි ඔහුට කල්පනා විය. එගොඩ දොළ කණ්ඩියේ මුලින් ම මහල්ලා උන් තැන ගොඩපර ගහේ එල්ලා ඇති යමක් කෙටිහාමි දුටුවේ ය. ඔහු වහා දොළ තරණය කොට ගොඩපර ගහ ළඟට ආවේ ය. රෙදි උරයක් ගසේ එල්ලා තිබිණි. එය මහල්ලාගේ බව ඔහු හඳුනාගත්තේ ය. ඔහු එය විවර කළේ ය. එහි වූයේ තැඹිලි ගෙඩියක්, හීනටි හාල් මිටක්, රතඹලා මල් මිටක්, බුලත් කොළයක එතූ කල්කයක් සහ තවත් මොනවා දෝ බෙහෙත් යැ යි සිතිය හැකි කොළ-පොතු වර්ග කිහිපයකි. ඔහුට හැඬුම් ආවේ ය. ඒ උතුම් මිනිසාගේ දේහය සොයාගෙන ඊට ගරු කොට මහ පොළොවේ භූමදානය කළ යුතු යැ යි සිතූ කෙටිහාමි දොළ කණ්ඩිය දිගේ පහළ පෙදෙස විපරම් කරමින් දුවන්නට විය.

## 04

"අපි කෙල්ලට ගුණාදරී කියමු ද? ඒ නම වල්ලඅරා ගහල මියැදිච්චි මගෙ පුංචි අම්මායෙ නම. ඒ ගෑනි තමයි මම මුල්ලට උණු දා මට දනමුතුකං දුන්නේ. ඒ හින්දා ඒ නම කෙල්ලට කිව්වට උඹලගෙ අමනාපයක් නෑ නේද?"

පිච්චි එසේ ඇසුවේ එක් හැන්දෑ වරුවක කෙටිහාමි කුඹුරේ සිට අවුත් පිළේ ඉඳගෙන දැරිය සුරතල් කරමින් සුළං අමතා කවි කියමින් ඉන්නා විට ය. පිච්චි කුස්සියේ සිට ගෙපිළට ආවේ කෙටිහාමිට කිතුල්පිටි කැඳ පොල්කටුවක් ද අතැති ව ය.

"හ්ම්... මං මොකට අමනාප වෙන්න ද? ඒ නම යසයි. ගුණාදරී... යසයි. යසයි. ඒක අපි තව දූනුං තේරුං ඇති කෙනෙක්ටත් කියා තියන එක හොඳයි නේද? ගොඩකෙල රජ මහා විහාරෙට ගිහිල්ලා ආවොත් මොකද? හාමුදුරුවන් වහන්සේට ඒ නමත් කියලා අලුත් හාල් දානෙකුත් උයාපිහාගෙන කෙල්ල පැටියත් අරං යමල්ලා. හතිරිහං මාමණ්ඩිට පිං සිද්ධ වෙච්චාවයි කියලා දානෙ ටික පිළිගන්නමු. මගෙ අප්පේ ඒ රත්තරං මනුස්සයට සිද්ධ වෙච්ච දේ. මට ඕන කළේ මිනියේ රොඩ්ඩ හරි හොයාන පාංසකුලේ දීලා මහ පොළොවෙ වළ දාන්න. හෙච්චා... හෙච්චා... මහ්... ගහගෙන යන්න ඇති දියබඩ ගම් පත්තුව දිහැට ම. සුවල්ප ගං වතුරක් යැ ඒක..."

කෙටිහාමි එසේ කී කල පිච්චි ද "පව් දෙයියනේ..." යි කීවේ කඳුළක් ඉනු දෑසින් ය. ගේ ඉදිරිපිට ඇටඹ ගසේ සවි කළ ලෑලි කෑල්ලට දමූ බත් ගුළි කන්නට පැමිණි තරුණ පිරිමි ලේනාට බෙහෙවින් බඩගිනි වී තිබේ. ලෙහෙතිය ලෑල්ල කොන හිඳගෙන තම නියපොතු සුද්ධ පවිත්‍ර කරගනිමින් සිය හිමියා ආහාර ගෙන අවසන් වන තුරු රැඳී හිඳී.

"කෙල්ලට වලිප්පු රාජ ගුළියි යසෝදරා කල්කෙයි උවමනායි නේද?



ඒවත් තියෙයි පන්සල්වල. ඒවත් ඉල්ලාන එමු. උඹලට දං ඇවිදින්න කරන්න පුළුවන් නේද පිච්චියේ?"

"පුළුවං..."

"හ්ම්. එහෙමනං දොහකිං, දෙදොහකින් යමල්ලා ගිහිං එන්න..."

* * *

වංගෙඩියේ දමා කොටාගත් අලුත් සහල් පිස පොලොස් ඇඹුලක්, තුඹ කරවිල වෑංජනයක්, මියන දලු වෑංජනයක්, ලේන හතු මැල්ලුමක් සමග මී තෙලෙන් බදින ලද කර කොළ බැදුමක් සහිත ව සූදානම් කරගත් දානේ වේල අලුත් ම කොළපතක ඔතා වේවැල් පෙට්ටියේ දමාගත් කෙටිහාමි - පිච්චි යුවළ ගුණාදරිය ද වඩාගෙන ගොඩකෙල රජ මහා විහාරයට යති...

ධම්මදින්න නායක හාමුදුරුවන් වහන්සේ දානය පිළිගෙන ටැම්පිට විහාරය ඉදිරියේ ඔවුන් හිඳුවා බණක් දේශනා කළහ. මිය පරලොව ගිය තම පියාණන් ද හතිරිහං මාමණ්ඩි ද සිහි කළ කෙටිහාමි තම කුඹුර සහ පුංචි පවුල ගැන ද කල්පනා කළේ ය.

"උඹලා පිළිගන්නාපු දාන පතේ තිබුණු ඔය කර කොළ බැදුම හංදා මට සිහි වුණු කතාවක් මං කියන්නං උඹලට..."

උන් වහන්සේ කී ඒ විශේෂ කතාව ඇසීමට කෙටිහාමිලා ගෞරවයෙන් සැදුණි - පැහැදුණි.

"බොහෝ ම ඈත අතීත පුරාණ කාලේ... මං මේ කියන්නේ වළගම්බා රජ්ජුරුවන්ගේ කාලේ. අපේ මේ රට මහා නියංසායකට මූණදීලා තියෙනවා. පොත-පතේ ඕක සඳහන් වෙන්නේ 'බැමිණිතියා සාගතේ' කියලා. කුඹුරු ගම්බිම් පාළුවට ගියා ම කන්න දෙයක් නැති ව ගම්වල උන්නු මිනිස්සු උන්නු තැන්වල ම මියැදිලා තියෙනවා..."

කෙටිහාමිට "අනේ අපොයි!" කියවිණ. පිච්චි ඇස් දෙක ලොකු කරගෙන, කට ඇරගෙන අසා සිටියා ය.

"වෙන එකක් තියා හාමුදුරු ගොල්ලන්ටත් වළඳන්න හාල් ඇටයක් තරම නෑ. උන්නාන්සෙලත් උන් හිටි තැන්වල ම අපවත් වෙලා වැටෙනවා. ගෑනු, මිනිස්සු, ඇබිංදං උන්, හරකාබාන මේ සේරම බුරුතු පිටිං මියැදෙනවා... රජ ඇමැති ගොල්ලන්ටත් කොරන්නයි කියලා කිසි ම දෙයක් නෑ. උන්දෑලත් ඇවිදඇවිද දහ අතේ කල්පනා කොරනවා..."

මෙවැනි දේක දී හිත හදාගෙන එකට මියැදීමට තමාට මිනිහෙක් හිඳී, ළමයෙක් හිඳී. එහෙත් සිය මවු නම් මෙවැනි වේලාවක දී තනි වනු ඇත. පිච්චිට සිය මවු සිහි වීමෙන් හැඬුම් ආවේ ය. ඒ වග දුටු හාමුදුරුවන් වහන්සේ සිය කතාවේ සාර්ථකත්වය හේතුවෙන් තව තවත් උනන්දු වූ හ.

"කලිං කලට එක එක අපල-උපද්දරව... මෙව්වා කලිං කියලා එන්නෑ. හිටි ගමං එනවා පරදේසක්කාරයෝ වගේ... හිටිගමං එනවා... ඒ ආහම කාබාසිනියාවම තමා ඉතිං..."

කෙටිහාමිට කරබාගෙන අසා සිටීමට නොහැකි විය. ඔහුට අසා දැනගැනීමට දේවල් තිබේ. ඒ වාගේ ම සිහින් පපුවේ ගැස්මක් ද හටගෙන තිබේ.

"පිංවන්ත හාමුදුරුවනේ... එහෙවු වේලාවකට ගන්න වී අටුවක් ඉතිරි කරගෙන උන්නු එක ම ගොවියෙක්වත් ඉඳල නැද්ද මේ මහ පොළොව මතුපිට...?"

"අහපල්ලකෝ කතාව... රටේ පුරසිද්ද ධාන්‍යාගාර දෙකක් තිබුණාලු නේ... එකක් අනුරාධපුරේ. අනික තිස්සමහාරාමෙ... අනුරාධපුරේ හාමුදුරුගොල්ලංට මේක ආරංචි වෙලා උන්නාන්සේලා වඩිනවා තිස්සමහාරාමේ දිහාට... තිස්සමහාරාමේ උන්නාසෙලාත් ඒ වාගේ ම වඩිනවා අනුරාධපුර දිහාට... දවස් ගානක්... මේ දෙකාංඩේ මඟදී මුණගැහුණා. එතකොට යි දන්නේ මේ ධාන්‍යාගාර දෙකත් විනාස වෙලා ය කියලා..."

කෙටිහාමිට කෙළ ගිලුණේ ය. පිච්චි ඔහු දෙස බලා උන්නා ය.

"ඉතිං මේ දෙකාංඩෙනුත් මහ හුඟක් ඒ ඒ තැන්වල ම අපවත් වුණා... බොහොම සුළු පිරිසක් කර කොළ වළඳලා ජීවිතේ බේරා ගත්තා ය කියලා කියවෙනවා... ඕං කල්පනාවට ගනිල්ලා... එහෙවු



සේස්ට ආහාරයක් තමයි උඹලා දානෙ පතට පිළිගැන්නුවේ..."

කෙටිහාමිගේ සිතට දැනුණු සන්තෝසයේ කෙළවරක් නැත. අමුණු බැඳ සිය කුඹුර තව-තවත් සවිමත් කොට, හැකි තරම් වී රැස් කර තබාගත යුතු බැව් කෙටිහාමි සිතට ගත්තේ ය. යම් හෙයකින්, යම් දාක පොතුවිල් දොළේ දිය සිඳුණොත් ඊළඟට කුමක් කරන්නේ ද යන්න පිළිබඳ ගෙදර ගොස් කෙටිහාමි සමඟ කතා කරන්නට වුවමනා බව පිච්චි සිතට ගති.

ඔවුන් තව බෝ වේලාවක් ගැවසී පන්සල් භූමියෙන් කරත්ත පාරට පිවිසෙන කල බර මලු ඔසවාගෙන ගමන් ගන්නා තලතුනා මිනිසෙකු, ගැහැනියක සහ ගැහැනු ළමයෙකු දුටුවෙන් පළාත හුරු-පුරුදු මේ මිනිසුන්ගෙන් ද යම් යම් දේ දැනගත හැකි යි කෙටිහාමි කල්පනා කළේ ය. ඔහු ඉක්මන් ගමනින් ගොස් මිනිසා අමතන්නට විය. පිච්චි ගුණාදරී වඩාගෙන අසල වූ කණුමැල්ල ගස සෙවණට විය.

"තමුන්නැහේලා මේ බර උස්සාගෙන කොහි යන ගමන් ද? අපි මේ ඉහළ වන බූටැවේ ජීවත් වෙන උං. මේ අහ ගැන වැඩි දැනීමක් නෑ..."

කෙටිහාමි එසේ ඇසූ කල පිරිමියා උත්තර දුන්නේ ය.

"මෙතැන ටිකක් එහාට වෙන්න ගොඩකේල පොළ. අපි මේ බඩු ගෙනියනවා විකුණන්න. හම්බංතොටින්, තංගල්ලෙන්, මාතරින් පොළට හිංගල වෙළෙන්දෝ එනවා. පුත්තලමෙං තම්බි වෙළෙන්දෝ. එක්කෝ මේ බඩුවලට බඩු... උදැලු, රෙදි, දුංකොළ, නූල්, ඉදිකටු, තොරොම්බල් කාරිය... නැත්තං කාසි... කාසි ඉතිං අපට අහවල් කාරියකට යැ...? යමල්ලා පොළ බලා-කියාගෙන එන්න..."

මිනිසා එසේ ආරාධනා කළ කල කෙටිහාමි පිච්චිට අඬගෑවේය.

"වරෙල්ලා පොළ බලන්න යන්න..."

ඔවුහු පොළ බලන්නට ඉස්සර වූහ. සෙනඟ පනහක් හැටක් එක් වූ තැනකි. සිංහල, මුස්ලිම් වෙළෙඳුන් ගැමියන් ගෙනා බඩු මලු බලා ඒවා ගැන කතිකා කරන්නේ කලබලකාරී ගතියකිනි. ඉන් පසු බඩු මලු තම කරත්තවලට දමා ගනිති. ඔවුහු සැවොම ඉතා හුරු පුරුදු සේ කතාබහ කරගනිති. කෙටිහාමිලා සමඟ පැමිණි පිරිස ද සෙනඟ අතරට

වැදුණහ. වෙළෙන්දෝ කිහිප දෙනෙක් ඔවුන් වට කරගති. කෙටිහාමිලා දුර සිට ඒ අපූරු සිදුවීම දෙස බලා හිඳ එතැනින් මිදී යළි මඟට බැස ගමන් කරන්නට වූ හ. ඒත් සමඟ ම වාගේ තමන්ට පිටුපසින් කවුරුන් හෝ අමතනු ඇසුණෙන් යළි නතර වී ඔවුහු පිටුපස බැලූ හ. ඒ පෙර ඔවුන් විස්තර අසාගත් මිනිසා ය.

"මේං උඹලගේ හිංචිට පබළු වැලක්. ගෙදර ගිහිල්ලා අත් දෙකේ ගැටගහපල්ලා..."

කෙටිහාමිට පුදුම සිතුණේ ය. ඔහු එය ගන්නට අදි-මදි කළේ ය. පිච්චි ද බලා සිටියා ය. කෙටිහාමි බැගෑපත් වෙයි.

"අනේ අප්පේ! අපි ළඟ කොයිං ද කාසි-පනං?"

"කාසිවලට නො වෙයි බොලං. නිකං... නිකං... උඹලට දෙන්නේ නිකං... අද මගේ කිතුල් හකුරුවලට වැඩිපුර සල්ලි හම්බුණා. මේක ගනිල්ලා..."

කෙටිහාමි දෝතින් ම එය පිළිගත්තේ ය.

"මටත් කල්පනාවක් ආවා ඉදිරි දොහොක මෙතැනට එන්න. මේ ඇත්තා හම්බු වේය කියල හිතලා මං අරං එන්නං අලුත් හාල් සේරු දෙක-තුනක්..."

කෙටිහාමි එසේ කී කල විට කහට පිරි බොල්ලෑ දත් වහල්ල පෙන්වා ඊට පිරුණු සිනාවක් පෑ මිනිසා යළිත් පොළ දෙසට යන්නට ගියේ ය. කළු සහ සුදු පැහැති හීනි පබළු වැල වේවැල් පෙට්ටියට දමාගත් කෙටිහාමි සහ පිච්චි ඉතා මත් ම සන්තෝෂයෙන් යුතු ව ගෙදර බලා යන්නට වූ හ.

# 05

අපමණ මහන්සි වූ පසු ඇඟ පුරා දාඩිය උනන්නේ උල්පත් සේ ය. එය මහා සන්තෝෂයකට කාරණයකි. එවිට කෙටිහාමිට සිහි වූයේ ම සිය පියාණන් වූ හීතලහාමි ය. හේ රාත්‍රී හඳපානේ පවා කුඹුරු කෙටූ ගොවියෙකි. ඉහළ වන අකුලෙන් පෙරළාගත්, වී මල්ලක් තරම් වූ ගල කිතුල් ලීයේ ආධාරයෙන් බොහෝ වැර යොදා කෙටිහාමි දොළේ අමුණ සාදන තැනට ළං කරගත්තේ ය; ඉන් පසු මඳක් ඒ මත ඉඳගෙන කුඹුරු යාය දිහා බලාගෙන උන්නේ ය. මෙවර මාස් වැස්ස සමඟ එකවර වී සේරු දහ පහළොවක් තරම් වැපිරීමට ලියැදි පෙළක් දුන් ඔහු සතු ය. යාය සඳහා හොඳ දිය පාරක් ලබාගැනීම උදෙසා ගල් අමුණක් බැඳිය යුතු බව ඔහු කල්පනා කරගත්තේ එදා පන්සලේ දී ය.

දොළ දෙපස ඔහු සිටුවූ කුඹුක් පැළ ළපටි වතින් දූන් ඒ මේ අත වැනෙන්නට පටන්ගෙන තිබේ. ඒවා ගුණාදරීගේ වයසේ පුංචි පැටවුන් සේ ය. ඔහුට මේ කුඹුක් ගෙඩි හමු වුණේ දොළ පහළ ගල් ඇන්දේ වතුර එක්කාසු වන තැනක රැඳී තිබෙන විට දී ය. කිරිපාට මොටයියන් මතු වී තිබුණු ඒවා දුක කෙටිහාමි කළේ වේවැල් කුඩයට දමා ගෙනවුත් වෙල සීමාවේ දොළ දෙපස පිළිවෙළකට සිටුවීම ය. දැන් ඒවා අමුතු සන්තෝෂයක් මවා පාමින් පුංචි සුළඟකටත් සෙලවේ. ගල් එක්කාසු කර, දිග පළල මැන, නාවා පට්ටා ලණු ඇද ඒ ඔස්සේ ගල් අසුරා අමුණ බඳින කල ඔහුට සහායට තිබූ එක ම කාරණය එක එක දේ පිළිබඳ කල්පනා කිරීම ය. ජීවිතය පිළිබඳ බොහෝ සතුටු දෑ ඒ කල්පනාවල පිරී පැවතියේ ය.

ගෙයක් නම් ගැහැනියක් සිටිය යුතු ය; පුංචි උන් තොරතෝංචියක් නැති ව කෑගැසිය යුතු ය; නිතර නිතර කුස්සියේ දුම් දැමිය යුතු ය; වී අටුව පිරී තිබිය යුතු ය; පිටුපස බිත්තියේ උදලු හේත්තු කර තිබිය යුතු ය; කුස්සියේ යටලීයේ ඇන කොහොල්ලෑ ගුළියක් තිබිය යුතු ය; ගේ කුරුලු කූඩුවක් තිබිය යුතු ය; බත් දමන ලෑල්ලේ නිතර කුරුලු

වර්ග සද්ද කළ යුතු ය... කුඹුරක් නම් සවිසක්තිමත් නියරවල් තිබිය යුතු ය. වක්කඩවල දිය හොල්මන් සද්ද කළ යුතු ය; කොනක පුංචි කුරුලු ලියැද්දක් තිබිය යුතු ය; කොකුන්, ඇටිකුකුළන් පමණක් නො ව, ගොයමට කරදර කරන සත්තු පවා සිටිය යුතු ය... දොළක් නම් තුන් තිස් පැයේ දිය ගලා යා යුතු ය; දෙපස කුඹුක් ගස්, උණ පඳුරු, දිය තුරු ගස් පිරී තිබිය යුතු ය; හොඳ ශක්තිමත් අමුණක් තිබිය යුතු ය. මේ කෙටිහාමි තනිවම සිතන දේවල් ය. ඔහුට මේ මුලින් කී සියල්ල තිබේ. අමුණ ද දූන් සැදෙන්නේ අවසාන භාගයේ ය. මේ සන්තෝෂය කල් තියා හතිරිහං මාමණ්ඩි දූන උන්නේ ය. ඔහු මිය යෑමට පෙර කුඹුරේ ගොයම් පෑගීමට අත්උදව් දෙන්නට විත් අත්දඬු ලීය අල්ලාගෙන කී දෙයක් මේ දූන් වාගේ කෙටිහාමිට මතක ය.

"පුංචි උදලු කෙටියක් විතරක් තියාගෙන තට්ට තනියම උඹ කොරලා තියන කාරිය පුදුමයි පුතේ! ගෙදර ඉංදැද්දි නින්ද නොයන රාත්තිරිවල මං උඹ ගැන කල්පනා කොරනවා. උඹ මහා පුදුම ගොයි රාල කෙනෙක්. කිසි එකෙක් විස්වාස කොරයි ද උඹ තනියම මේක අස්සැද්දුවා කිවුවහම? පංකාදුයි! මේ වනාන්තරේ අපි හරියට අඳුනන්නෑ පුතේ... කඩියා, දිමියාගෙ ඉඳලා නයා, පොළඟා දක්කාත්, වලහ කොටිය දක්කාත් අන්තරාව. හරියට ගිහිං මුත්තරා බොක්ක ඇලුණොත් එළබටු සිවියත් ඇති මිනිහෙකුගේ පණකෙන්ද විනාස වෙලා යන්න... ඒ හංදා හැකි තාක් පරිස්සං වෙයව්..."

මේ විස්මකර්මය දැක-බලාගැනීමට පිච්චි එතැනට ආවා ය. ඒ වන විට උස් ව අමුණ බැඳ තිබූ අතර, වැඩි වතුර පිට ව යෑමට ඉඩක් තබා ඉතිරි වතුර පාර තමාගේ කුඹුරු යාය දෙසට හරවාගැනීමට ඔහු පොහොසත් වී සිටියේ ය. අමුණේ ගල් තද වීමට කොළපත්, පුවක් අතු, කැකිල්ල, හුඹස් මැටි, දහයියා සහ කිරිමැටි යොදාගෙන තිබිණ. පිච්චි එතැනට විත් දෑස් ලොකු කර පුදුමයෙන් බලන කල කෙටිහාමිට පෙර නොවූ විරූ මහා ආඩම්බරයක් දැනෙන්නට විය.

"මයේ දෙයියනේ උඹලා කොරලා තියෙන හපංකොමක තරම. මට ඉතිං බැරි උණානේ මේ කාරියට මහංසි වෙන්න..."

කෙටිහාමි ඊට සිනා සුණේ ය.

"කෝ කෙලි පැටික්කි, බුදි ද?"



"ඔව්... බඩ පුරවාගෙන බුදියගත්තා."

"මයෙ අම්මේ පබලු වැල අතේ බැංදා ම ඒකිගෙ නැටිල්ල...! යකඩො නැට්ටුක්කාරියක් වාගේ. කොහෙන් ඉගෙනගෙන ද මං දන්නෙ නෑ.."

කෙටිහාමි එසේ කියා සිනා සුණේ ය. ඔහුගේ මුහුණ ඒ තරම් පියකරු ලෙස පිච්චි කිසි දාක දැක නැත.

"උඹලා ගේ දොර හොඳට අඩවල් කොරලා නෙවද ආවේ?"

"ඔව්... දොරට වංගෙඩියත් හේත්තු කෙරුවා..."

පිච්චි ගල් මතින් ගොඩ වී, අමුණ උඩට නැග්ගා ය. ඒ මතට අමුතු ම ලස්සනකට තමන්ගේ කුඹුරු යාය පෙනේ. ජීවිතය මේ තරම් හොඳ බව පිච්චි කිසි දාක සිතා සිටියේ නැත. සන්තෝෂය ඇගේ මුළු ඇඟට ම දැනෙන්නට වී තිබේ.

සවසට කෙටිහාමිට අමතර රස කෑමක් සාදා දිය යුතු බව ඈ කල්පනා කළා ය. කැහිපිත්තන් කොළ කොටා මිරිකා මිදෙන්නට හැර මී පැණි තවරා කෑමට ඔහු ඉතා මත් කැමැති ය. අරඹේ පුවක් ගස් මුල කැහිපිත්තන් පඳුරු එමට තිබුණේ ය.

එක්වර ම ගේ දෙසින් ඇසෙන්නට වූයේ ළමයා යටිගිරියෙන් කෑගසනා හඬයි.

"ඔන්න කෙල්ල ඇහැරිලා... දුවපං පිච්චියේ ගෙදර..."

කෙටිහාමි එසේ කියූ අතර, පිච්චි වහා ගල් අමුණෙන් බිමට පැන නියර ඔස්සේ ගේ දෙසට දුවන්නට විය. දූරිය උස් හඬින් කෑගසයි. පිච්චි ගේ ළඟට හැල්මේ දිව එද්දී ඇටඹ ගසේ ලෑල්ලට බත් කන්නට ආ ලෙහෙන්නු ද කෑගසමින් සිටියහ. ගෙයි වහලය උඩට නැගි අව්ච්චියෙක් ද ඒ මේ අත පනිමින් අමුතු ආකාරයකට කෑගසන්නට විය. දොර මඳක් විවර වී තිබේ. වංගෙඩිය පෙරළී ඇත. ඇය වහා ගෙට ගොඩ වී තල් අතු දොර තල්ලු කර දැමුවා ය. ඒ වන විටත් ඒ කරුමක්කාර දේ සිදු වී තිබුණේ ය. ලොකු බළලෙකුට වඩා තරමක් විශාල කොළ දිවියෙක් කලබල වී එළියට පැන කැලෑව තුළට දිවුවේ ය. ළමයාගේ මුහුණ ලෙයින් පිරී තිබේ. අත්වල ගැටගසා තිබූ පබළුවැල් කැඩී ගේ පුරා විසිරී ගොස් ඇත. පිච්චි ගිරිය යටින් කෑගසමින් ළමයා ඔසවාගෙන කුඹුර දෙසට දිව්වා ය. ඒ භයංකාර උස් හඬ ඇසුණු

කෙටිහාමි ද අමුණ දෙස සිට ගේ දෙසට දුවන්නට විය. පිච්චිගේ හැට්ටය ද ලෙයින් පෙඟී තිබේ. ඇය ළමයා ඔසවාගෙන කුඹුර මැදට දිව විත් "කොළ දිවියා ගෙට පැනලා..." යි කෑගසමින් ලියැද්දේ වැටුණා ය..

"දෙයි හාමුදුරුවනේ..." යි කියා කෑගසාගෙන, හඬන ළමයා වඩාගත් කෙටිහාමි වක්කඩක ගැලූ වතුරෙන් ළමයාගේ මුහුණේ ලේ සේදුවේ ය. දෑස් පියාගත් දැරිය පෙරටත් වඩා යටිගිරියෙන් කෑගසන්නට විය.

* * *

සංසාරයත් එක් අතකින් පොතුවිල් දොළ වාගේ ය. ඔහේ ගලාගෙන යයි. උන් හිටි ගමන් මහ වැසි සමඟ එක් වී වටපිටාව වනසා මහ භයානක සද්දයක් නංවා දෙගොඩ තළා ගලයි. පසුදා උදේ යළි කිසිවක් නොවුණු ගානට ඔහේ ගලාගෙන යයි. එහෙත් වෙනසක් ඇත. පොතුවිල් දොළ අමුණු බැඳ නතර කළ හැකි ය. වතුර හරවා කුඹුරුවලට යැවිය හැකි ය. සංසාරය එසේ නතර කළ නොහැකි ය. හරවා යැවිය නොහැකි ය. එය සිදු වේ.

කෙටිහාමි අගුවේ හිඳගෙන හෝරා ගණන් කල්පනා කළේ ය. ඔවුන්ගේ ජීවිත මඳකට නතර වී තිබිණි. සිය ඇස් දෙක වන් දියණියගේ දෑස අහිමි වී තිබේ. නපුරු කොළ දිවියාගේ පහුරු ගෑමෙන් මූණ ද විරූපී වී තිබේ. ඇයගේ දෑස් සුව කරගැනීමට කෙටිහාමිත් පිච්චිත් නොකළ දෙයක් නැත. තුවාල අතරින් ඇස් සිදුරුවලට ළපටි කහ ගොබ කොටා මිරිකා වත් කළහ; කරල්හැබ පිටි දිය කර වත් කළහ. කොහොඹ කොළ කොටා වක් කළහ. එහෙත් ඒ කිසිවක් හරි නොගිය තැන පිච්චි නොකඩවා හැඬුවා ය; ගෙපිළේ ඉඳගෙන කොළ දිවියා කැලයට ගිය දෙස බලාගෙන මොන මොනවා දෝ දෙඩෙව්වා ය; වනයට අරක්ගත් සියලු නොපෙනෙන බලවේගයන්ගෙන් දැරියගේ ඇස් දෙක ඉල්ලා සිටියා ය. සමන් දෙවියන්ට ඇසෙන තරමට හයියෙන් කෑගැවා ය. අවසන ගොඩකවෙල පන්සලට ගිය ඔවුහු නායක හාමුදුරුවන් දෙසූ ගැහැනු සොඬෙකුට සිය දෑස් උගුල්ලා



අතට දුන් සුභා තෙරණියගේ බණ කතාව අවසන් වන තුරු ම සද්ද නොනැගෙන සේ හැඬූ හ.

මහ මූකළාන තරණය කොට අරඹ මුදුනට නැගගත් ඔවුහු එහි වූ ගල් තලාව මතට ගොඩ වී දුරින් පෙනෙන සිරිපාද කන්ද වැඳ දැරිය ඒ දෙසට යොමු කොට ඇගේ දෑස් ඉල්ලා සිටියහ. එහෙත් දින සති මාස ගත වෙද්දී මෙය ජීවන කර්මයේ ස්වභාවය යැයි ඔවුහු තේරුම් ගත්තෝ ය. මොන දේ සිද්ධ වූව ද ඉදිරි කාලයේ ද හොඳින් ම ජීවත් වීමට සිතා ගත් හ.

කෙටිහාමි සහ පිච්චි දෑස් අඳ ගුණාදරී වඩාගෙන මහ වනාන්තරය මැදින් වැටුණා වූ අඩි පාරවල් ඔස්සේ ගොස් කොට්ටිඹුල්වලට ගියහ. කොට්ටිඹුල්වල සිල්වතා හමු වී හිත හැදෙන්නට ඔහුගෙන් වචන කිහිපයක් අසාගැනීම ඔවුන්ගේ මූලික වුවමනාව විය. එහෙත් ඒ යන විට ඔහු මිය ගොස් පස් මසක් පමණ ගත වී තිබිණි. ඔහුගේ ගෙපැලට යාබද හොර ගසක් මුල මහල්ලා වැළලූ තැන පස් ගොඩ ළඟ හෝරාවකටත් වඩා කාලයක් ඉඳගෙන උන් ඔවුහු තෙත් බර වූ දෑසින් යුතු ව යළි ගෙදර ආ හ.

# 06

විටින් විට සිදු වුණු දොළ ගැලීම් සියල්ලට මුහුණ දෙමින් දෙප කුඹුක් පැළ වැඩුණේ ය. පසුගිය දා වට මහ වැස්සෙන් පොතුවි දොළ දෙගොඩතලා යද්දීත් අමුණ ඊට ඔරොත්තු දුන්නේ ය. කුරුලු පවුලේ ද දූන් පරම්පරා කීපයකි. වැඩිහිටි ගේ කුරුලු පරම්පරා කිහිපයක් ම ඊළඟ පරම්පරාවට ජීවත් වන්නට කියා කොහේ දෝ ඈතක යන්නට ගිහින් ය.

වනාන්තරය තුළ ඒ අපූරු වූ පුදුමය සිදු වී තිබේ. මිනිසෙකු විසි ජීවිතයේ කළ හැකි විස්මිත ම දෙයක් කෙටිහාමි විසින් සිදු කර තිබුණේ ය. ලොකු ගල් අමුණක් සහිත කුඹුරු යායක චිත්‍රය මනා සේ ඒ ව පියස මැද සිත්තම් වී තිබිණි.

කෙටිහාමි ලියැද්දේ තීරයක් කොටයි; යළි කුඹුරු යාය දෙස බලයි තව තීරයක් කොටයි. යළි අමුණ දෙස බලයි; යළි තීරයක් කොටා කුඹු පැළ යාය දෙස බලයි. පුංචි ගුණාදරී අප්පුච්චා කොටන ලියැදිවල නියර මත ඉඳගෙන ශබ්දවලට කන් දුන්නා ය. පුරං කෙටීමේ සද්දය, දෙකෙටුම් කෙටීමේ සද්දය, නියර බැඳීමේ සද්දය, අව කෙටීමේ සද්දය, පෝරු ගෑමේ සද්දය ඇය දැන් වෙන් වෙන් ව ම දනී. මුළු කුඹුරු යායේ ම සෑම නියරක් ම අමුතු ම තාලයේ මතක රටාවක පිහිට ඇයගේ කල්පනාවේ පැළපදියම් වී තිබිණ. අට වැනි විය වන වි ගුණාදරී ද උදැල්ල අතට ගත්තා ය.

තරමක් පමා වී හෝ පිච්චි යළි සිය කුසෙහි අලුත් ප්‍රාණියෙකුට නවාතැ පළ කරමින් ඉඳලෝලු හතු මාළුව කෑමට ආසා බැව් කෙටිහාමිට කිය සිටියා ය.

* * *

වනාන්තරයේ ඔවුන්ගේ සීමාවට එන එක ම අමුත්තා වූ කෝඳුරුහාමි හිස් මල්ල රැගෙන හැම යලක දී මෙන් ම මේ යලේ දී ද පැමිණියේ ය. මේ වේලේ කෙටිහාමි සිටියේ මිදුලේ මාගලක වේළෙන්නට දැමූ වී අතගාමින් ය. ගුණාදරී ද අසල සිටියා ය. කෝඳුරුහාමි මෙදා ඇවිත් සිටියේ තනිවම නො වේ.

"ආ... උඹ අදත් ආව ද?"

කෙටිහාමි ඇසුවේ අමනාපයෙන් යුතු ව ය. කෝඳුරුහාමි සිය සුපුරුදු අදින-පදින ලීලාවෙන් පිළිතුරු දෙයි.

"අර ඉන්නේ මගෙ ගෑනි-රොයිනා. ගෑනිගෙ කට සැර යි. ඒකි තමා ඔය මාවත් ඉස්සර කොරාන ආවේ මේ මුරේ."

පසෙක ලියැද්දක කෙළවර තරුණ ගැහැනිය බලා හිඳිනු පෙනේ. කෙටිහාමි කඩුල්ල දෙසට ගමන් කළේ ය. ඒ අනුව ගුණාදරීත් ගමන් කරන්නට විය.

"ඒ සැරවල්වලටනං මං බය නෑ ගොයියෝ..."

කෝඳුරුහාමි බියෙන් මෙන් කෙටිහාමි නවතාලයි.

"ආරෝවක් උවමනා නෑ නේ. අපිට වී ටිකක් දීපල්ලකෝ. අහවර යි නේ..."

කෙටිහාමි ඊට ඇහුම්කන් නො දේ. ඔහු කඩුල්ල පනින්න තනද්දී සරමේ එල්ලුණු ගුණාදරී නිසා මඳක් නැවතී කරේ තිබූ අමුඩ ලේන්සු කොනක් සුපුරුදු සේ ඈ අත තැබී ය. ඉන් පසු ඔහු යන මග ඈ ද පහසුවෙන් ගමන් කළා ය. පනින්නට ඇති උස් තැන්වල දී, මග කඩතොලුවල දී ඔහු අමුඩ ලේන්සුව මඳක් ඉස්සූ කල ගුණාදරී එය පහසුවෙන් හැඳිනගත්තා ය. ඔවුහු කඩුල්ල පැන ඉන්නියරට පිවිස ගැහැනිය හිටගෙන ඉන්නා ලියැද්ද අසලට ආ හ. කෝඳුරුහාමි ද බියෙන් යුතු ව පස්සෙන් ආවේ ය. රොයිනා පිරිපුන්, රූමත් අමුතු ම තාලේ එකියකි. ඇය නපුරුකම් පාන්නේ කෝඳුරුහාමිට පමණක් බව කෝඳුරුහාමි දනී. කෙටිහාමි ගැහැනිය ඉදිරියේ නතර විය. පුංචි දාවිත් වඩාගත් පිච්චි ද කඩුල්ල ළඟට විත් ඒ ජවනිකාව දෙස බලාගෙන උන්නේ පුදුමයෙන් යුතු ව ය.

"මොකක් ද අම්මපල්ලා උඹලා මේ කියන්නේ...?"

කෙටිහාමි එසේ ඇසූ කල ගැහැනිය ලතාවකට පිළිතුරු දෙන්නී ය.

"මේ මිනිහගේ අප්පුච්චා ඉන්දැද්දී උඹලට ගෙනල්ලා පුදාපු ඒවලෙ සීමාවක් නෑනේ... අපිට ඉතිං තව වී මල්ලක් දියල්ලා..."

"ඒ මනුස්සයට හිලව් වෙන්න යමක් දෙනව නං මේ කුඹුරු යාය ම දුන්නත් සෑහෙන්නෑ බොලව්නේ. ඒත් උඹලට ලැජ්ජාවක් නැද්ද? ගොයියෝ, උඹත් පිරිමියෙක් නේද? අතපය නොහොල්ලා ඔහොම හිඟා කන එක ඒ මියපරලොව වැඩිය මනුස්සයටත් කොරන නින්දාවක් නේද?"

ඔහු එසේ කියූ කල තම ස්වාමියා දෙස රවා බැලූ ගැහැනිය එක වර ඔහු ලියැද්දට තල්ලු කළා ය. කෝඳුරුහාමි ඉපනැල්ලට වැටුණේ ය. ඒ හඬට ගුණාදරී ගැස්සුණා ය. කෝඳුරුහාමි අසරණ ලෙස සෙමෙන් නැගිට්ටේ ය. කෙටිහාමිට ඔහු පිළිබඳව ඇති වූයේ අප්‍රමාණ දුකකි.

"මං කියනවා අය්යංඩියේ මේකාට" යි රොයිනා කේන්තියෙන් යුතු ව කීවා ය.

"මල්ලක් උස්සාන ආ හංදා අදටත් උඹලට වී ටිකක් දෙන්නං. උඹලටත් ගෙදර පොඩි මල්ලක් හෙම තිබුන්නෑ නේද? උඹලගේ අප්පුච්චා වෙච්චි ඒ උතුම් මනුස්සයට පිං පමුණුවලා අපි හැම යලක ම දානයක් දෙනවා ගොඩකේල රජ මහා විහාරෙට... හ්ම්... ඔහොම හිටහල්ලකෝ..."

කෙටිහාමි එසේ කියා කඩුල්ල ළඟට ආවේ ය. ඔහු සමඟ ගුණාදරී ද ආවා ය. ඔහු කඩුල්ල අසල උන් පිච්චි සමඟ කතා කරන්නට විය.

"අද ගෑනු මනුස්සයත් එක්කාසු කොරාන ඇවිල්ලා. හැමදා ම මෙහෙම වී දෙන්න බෑ නේ. හතිරිහං මාමංඩි වෙනුවෙන් අර ඉහළ ලියැදි පෙළ දෙමු ද වැඩ කරගනියවු කියලා..."

කෙටිහාමි එසේ කී කළ ගුණාදරී ඊට අකැමැත්ත පෙන්වනු වස් ඔහු අත වූ අමුඩ ලේන්සුව තදින් මිරිකන්නට විය. ඒ බැව් හැඳිනගත් කෙටිහාමි ගුණාදරීගේ හිස අතගෑවේ ය.

"උඹලට හිතෙනව නං ඒක හොඳයි කියලා, ඒක කොරපල්ලා. ඒත්



ඒ ගෑනු කෙනා නං අමුතු ම නැකතක උපං ගෑනු කෙනෙක් වගේ..."

කෙටිහාමි ඔවුන්ට කඩුල්ල අසලට කතා කළේ ය.

"මෙහෙට වරෙල්ලා... ආං අර අමුණ සීමාවේ ඉඳලා වේල්ල අයින දිගේ තියෙන ලියැදි පෙළ... අර නික ගහ දක්වා... උඹලා වැඩ කොරගනිල්ලා. මං උදැල්ලක් දෙන්නං... මහන්සි වෙලා වැඩ කොරලා උඹලට ම කියලා වී අටුවක් තනාගනිල්ලා. වැපිරීම්, පැගීම්වල දී අත්තමට වැඩ කොරන්න බැරි යැ..."

කෝඳුරුහාමි සහ රොයිනා මුහුණට මුහුණ බලාගති. ගැහැනියගේ මුහුණේ එළියකි.

"බිත්තර වී...?"

කෝඳුරුහාමි එසේ ඇසුවේ මුලින් සිය ගැහැනියගේ මුහුණ දෙස බලා ප්‍රශ්නයක් ඇසීමට දෑස්වල අවසරයක සේයාවක් තිබුණු නිසා ය.

කෙටිහාමි කතා කළේ මඳ සිනාවක් මුහුණේ රඳවාගෙන ය.

"පලංචිය උඩට කොටේ උස්සලා තියලා දුන්නට පස්සෙ කියත දෙන-එක මහ වැඩක් යැ බොලංලා... බිත්තර වී මං දෙන්නං. උඹලා දවල්ට කාල ද ඉන්නේ...?"

මිනිසා සහ ගැහැනිය මුහුණට මුහුණ බලාගෙන, යළි බිම බලාගත්හ.

"ගොඩ වෙලා ඉඳගනිල්ලා අර පිළ උඩිං... බත් කටකුත් කාලා ම පලයල්ලා..."

# 07

උදලු තලයක්, ගිනි පෙට්ටියක්, ඉදිකටුවක් හා නූල් බෝලයක් ගෙන ඒමේ අදහසින් සහල් සහ අඩුම-කුඩුම මල්ලක් කර තබාගත් කෙටිහාමි සමඟ පුංචි දාවිත් වඩාගත් පිච්චි ද ගුණාදරී ද කෝඳුරුහාමිගේ දියණිය වන මදුහාමි ද පොළට යන්නට පිටත් වූ හ.

දූන් කෝඳුරුහාමිත් රොයිනාත් සිය දූ දරු සඳෙනා සමඟ වෙසෙන්නේ කෙටිහාමි උන්ට වැඩ කරගන්නට දූන් ලියැදි පෙළ අද්දර කැලය අයිනට වන්නට කුඩා පැල් කොටයක් අටවාගෙන ය. ගුණාදරීගේ වයසේ ඉන්නා මදුහාමි ගුණාදරී සමඟ එකතු ය. ඇය වැඩිමහලු පිරිමි ළමයෙක් ද බාල ළමයි සතරක් ද ඒ පවුලේ සිටි කැලෑ රොද පසු කරගෙන කරත්ත පාරට බට ඔවුහු තැනක නතර වූහ. දාවිත්ට කිරි දීම සඳහා පිච්චි කරත්ත පාර අයිනේ සියඹලා ගස යට ඉඳගත්තා ය. දුරින් ඇසෙන්නට වූ අණබෙර සද්දය මුලින් ඇසුණේ ගුණාදරීට ය.

"ඔන්න අප්පුච්චේ බෙර සද්දයක්..."

බෙර සද්දය වඩාත් ළං වෙද්දී මාර්ගයේ බටහිර දෙසින් පොළ යෑමට ගමන් ගත් පිරිසක් ද සියඹලා ගස ළඟ නතර වූ හ.

"හ්ම්... අණබෙරේ මොකක් ද කියලා බලාගෙන ම යමු."

ඔවුහු ඒ සඳහා හරි-බරි ගැසුණෝ ය.

අණබෙරකාරයා සෙනගින් යුතු ඒ ස්ථානයේ නතර වී, කටේ තිබුණු විට කුඩු ටික "ප්රෑස්" ගා එළියට පිම්බේ ය. මිනිසුන් ඔසවාගෙන උන් බර බිම තැබූ අතර, ලොකු රෙදි පොට්ටනියක් ඔසවාගත් මිනිසෙක් සහ පුංචි රෙදි පොට්ටනියක් ඔසවාගෙන උන් ළමයෙක් සෙනගට පියවර කිහිපයක් පිටුපසින් හිඳ බලා සිටියහ.

"මොකක් ද ආයිබංඩ අණබෙරේ...?"



එසේ ඇසුවේ පළාත ගැන හොඳින් දන්නා වයසක මිනිසෙකි. අණබෙරකරු පිරිස දෙස වරක් නෙත් යැවී ය. සමහරෙක් හිසේ වූ ජටා ගලවා අතට ගත්හ. පිච්චි ද වහා නැගී සිටි අතර "හා හා ඔය බවලතා ඉඳගෙන උන්නට කාරි නෑ..." යි අණබෙරකරු කී ය. හේ තෙවරක් බෙරය ගසන කල ගුණාදරී ගැස්සී සිය පියාට ළං වූවා ය. ඔහු ඇගේ කන්, අතින් ආවරණය කළේ ය.

"අසව්... අසව්... අසව්... අටකළං කෝරලේ කරවන රඹුක්පොත රටේ මහත්තයා විසින් කොරන්න නියම කොරාපු නිවේදනය යි..."

"අද මේ සිරි ලංකාද්වීපයට බුදුන් වන් වූ මහා පණ්ඩිත, සීලවන්ත, මහා කාරුණික සියලු හාමුදුරුවන් වහන්සේලාට නායක වූ හික්කඩුවේ සිරි සුමංගල හාමුදුරුවන් වහන්සේ මේ මාසේ දාහතර වැනි දින මේ පිංවන්ත වූ අටකළං කොරලේට සැපත් වෙනවා ය. රටේ මහත්තැන්ගේ වලව්ව ළඟ සුද්ධ පවිත්තර කරන භූමියේ ඒ සඳහා ලහි ලහියේ මන්දිරයක් තනනවා ය. උන්නාන්සේ ඒ තාවකාලික, අලංකාර මන්දිරයේ වැඩ වාසය කොරන දින කීපය තුළ බණ ඇසීමෙන් ද වැඳ-පුදාගැනීමෙන් ද සපරගමු රටේ පරංපරාගත සිරිත්-විරිත්, නැටුං, සංගීතාදියෙන් ද උන්නාන්සේ පිනවමින් ගෞරව සත්කාර කරමින් හිත සතුටු කරන්නට ඕනෑ ය. මොන ම කරමයකින් වත් උන්නාන්සේගේ හිතට අප්පරසන්න යමක් දැනෙන්නට අරින්න තහනං වන බව බලවත් ලෙස නිවේදනය කොරනවා ය. යංකිසි නැහැදිච්චි එකෙකු එසේ යමක් කෙරුවොත් උන්නාන්සේ යළි කොළඹට වැඩම කරපු දා ම දඬුවම් කිරීම සිද්ධ වෙනවා ය. උන්නාන්සේ වඩින මාර්ගය දූන් සිට ම එළිපෙහෙළි වන අතර, සෙල්ලම් කාංඩවල සෙල්ලං දැක-බලාගනිමින්, හේවිසි, නළා, පුරම්පේත්තු, නයියංඩි, උඩැක්කි, කුඩ, කොඩි, සේසත් පිරුණු මේ මහා පෙරහැරත් පිංකමත් දැක බලාගෙන යන්නට දාහතර දා උදේ රැයින් මග-දිග පෙළගැහෙන ලෙස දන්නා සිටින්නේ අටකළං කෝරලේ රටේ මහත්තයා ය..."

පිරිස දිනය මතක තබාගති. සිය රාජකාරිය නිම කළ අණබෙරකරු මාර්ගයේ බටහිර දෙසට ගමන් කරන්නට වූ අතර පිරිස ද ඒ අපූරු පුවත පිළිබඳ උදම් වෙමින් පොළ දෙසට ගමන් කරන්නට වූහ. කෙටිහාමි බුලත් ඉරුවක් ගෙන කටේ දමාගත්තේ ය. යාබද උන් රෙදි පොට්ටනි උරේ එල්ලාගත් මිනිසා සහ ළමයා යන්නට යොමු වෙද්දී

කෙටිහාමි ඔවුන් සමඟ කතා කළේ ය.

"කවුද උඹලා...? මොක ද දුරට වෙලා උන්නේ...?"

"මං අරඹෙ හේනයා. මේ මගේ කොලූ වීරප්පුලි හේනයා. අපි රිදීවිට."

මිනිසා එසේ යටහත් පහත් ලෙස උත්තර දෙද්දී පුංචි රෙදි උරය එල්ලාගත් කළු කෙට්ටු ළමයා ද අහිංසක සේ බලා සිටියේ ය.

"උඹලත් යනව ද ඔය කියාපු පිංකමට...?"

"එහෙමයි උන්නැහේ. නොගිහිං කොහොම ද පාවඩ පයිංඩේ අපිටත් එවලයි තියන්නේ... අපිට අවසර යි..."

"බුලත් විටක් කාලා යමල්ලා..."

මිනිසා පෙරට වඩා යටහත් පහත් වුණේ ය.

"අනේ අප්පේ... එහෙම හොඳේ යැ..."

"කාරි නෑ කාහල්ලා..."

කෙටිහාමි විට කොක්කනය ඔහුට දිගු කරද්දී ඔහු වහා රෙදි පොට්ටනිය බිම තබා, පුදුමයෙන් යුතු ව දෝතින් එය ගත්තේ ය.

# 08

ඒ පින්වන්ත පණිවිඩය ඇසූ දා රාත්‍රී පිච්චීට සිය මවු සිල් රෙද්දක් ඇඳ ඈතට ඈතට ගමන් කරනවා සිහිනෙන් පෙනිණි. ඇය උදේ දාවිත්ට කිරි දෙන ගමන් ගෙපිළේ ඉඳගෙන හඬන්නට වූවා ය.

"අනේ මගේ රත්තරං අම්මා... මා දිහාට ආවා... මූණේ හිනාවක් තිවුණේ නෑ... ඒ උණාට හරි නිවුණු පාටක් මූණ පුරා... මට මොනා ද කියන්න හැදුවත් වචන පිට උණේ නෑ. ඊට පස්සෙ ඈතට ඈතට ගියා. අනේ යමල්ලා අම්මා බලලා එන්න... උඹලට පිං සිද්ධ වෙයි, යමල්ලා..."

කෙටිහාමි සිටියේ පිළිකන්නේ ටප්පිහිය මදිමින් ය. ඔහු ඇයගේ හැඬුම් හඬට මිදුලට දුවගෙන ආවේ ය. යළි කිසි දාක කොළොන්න කෝරලයට නොයා සිටීමට තීරණය කරගෙන උන්න ද, පිච්චිගේ මේ හැඬීම් - වැඳවැටීම් නිසා ඒ ගමන ගොස් ඒමට තීන්දු විය. වක්කඩවල වතුර බැඳීම කටයුතු තිබුණු නිසා ගුණාදරී මේ ගමන යෑමට අකැමැත්ත පළ කළා ය.

"ඒකි තනියෙම දාලා යන්න පුළුවනෑ? වතුර බඳින එක කෝඳුරුහාමිගේ ලොකු ළමයා මනං සිඤ්ඤෝට පංගාර්තු කොරල යන්න බැරි යැ..." යි යෝජනා කළේ පිච්චි විසිනි.

"අනේ ඌ දන්න වතුර බැඳිල්ල... උඳැල්ලෙන් කුඹුර කොටන කැත විතරක්! චොස් චොස් ගානවා. ඊයා..." යි කියමින් ගුණාදරී සිය විරෝධය පළ කළා ය. කෙසේ හෝ මේ ගමන කොතරම් දුෂ්කර වුව ද දරු දෙදෙනා ම රැගෙන යෑමට තීරණය විය. හාල් සේරු පහක්, අලුත් ම පුහුල් ගෙඩියක්, වට්ටක්කා ගෙඩියක්, කම්බා රෙද්දක්, මවු කවදත් කෑමට කැමැති වැලි හකුරු පොල් කටුවක්, කිතුල් පිටි සේරු බාගයක් ද ගමනට සූදානම් කරගත් අතර, කෙටිහාමි පිටලේ අලුත් බුලත් වැලෙන් බුලත් අතක් ද කඩාගත්තේ ය. පසුදා උදේ රැයින් කිරි දී දාවිත්ගේ බඩ-කට පිරවූ ඔවුහු හුළු අතු එළියෙන් ගමන පිටත් වූ හ. බර මල්ල ඔසවාගත් කෙටිහාමි සුපුරුදු විලස සාළුවේ

කොනක් ගුණාදරී අතට දුන්නේ ය. පිච්චි දාවිත් වඩා ගත්තා ය. ඔවුන් ගොඩකවෙල පසු කරන විට සුදු එළිය වැටී තිබිණි. මාර්ගය දැන් පෙරට වඩා දියුණු වී තිබේ. මඟ දෙපස සමහර ගස් කපා දාලා ය. පොළ පසු කර යද්දී ඔවුන් දුටුවේ සුදු මහත්තුරුන්ගේ ක්‍රමයට අලුත සාදන ලොකු ගෙයකි; බණ සාලාවක් වාගේ ය. කෙටිහාමි ඒ ගැන විස්තර කළේ ය.

"ඔය හදිස්සි ලෙඩක් දුකක් උණා ම දුවගෙන ඇවිල්ලා දුක කියලා බෙහෙත් ගන්න පුළුවං තැනක්ලු නේ..."

"වෙද ගෙදරක් වගේ එකක් වෙන්නැති එහෙනං..."

"හ්ම්, ඔව්. ඒ වාගේ තමා. ඒත් වෙනස්ලු. වට්ටක්කා ඇට වගේ ජාතියක් ගිලින්නලු දෙන්නේ. සුදු මහත්තුරුංගේ වෙදකංලු නේ.. අපේ හිංගල සමහරු කැමැති නෑ ඕවට... තව ඔය වගේ එව්ව මහ හුගක් රට හතර දිබ්බාගේ හැදෙනවාලු - ආරංචි කඩදහිවල ඒ බව තිබුණු වගක් පොළේදි කාංඩයක් කතා උණා..."

පිච්චි "හ්ම්" කියා ඊට පිළිතුරු දුන්නා ය.

ඔවුහු හැල්මේ ගමන් ගත්හ. ගමන බොහෝ දුෂ්කර වූයේ පල්ලෙබැද්දෙන් හැරී කුඹුරුගමුව හරහා කැලෑ මාර්ගයට පිවිසි පසු ව ය. දාවිත්ට කිරි පෙවීමට වනයේ කිහිප තැනක ම ඔවුහු නතර වූ හ. මෙයට වසර ගණනකට පෙර අඩුම-කුඩුම එල්ලාගෙන, යන මඟක් නොදන මේ මඟ ගමන් කළ යුරු සිහි වී පිච්චිගේ මුවට සිනාවක් නැගිණි.

"මොක ද, උඹලා තනියම හිනා උණේ...?" ඒ බව දුටු කෙටිහාමි ඇසුවේ ය.

"උඹලයි මායි මේ මඟ ගෙවාගෙන කරබාගෙන මූණු බේරි කොරාගෙන ගිය හැටි මතක් උණා... අද අතිං-කටිං පැටවූ උස්සං... බලාපල්ලා අපි යන රඟ..."

එසේ කී ඈ දාවිත්ගේ මුහුණ සිම්බා ය. ගුණාදරී හිඳගෙන උන් ගලෙන් නැගිට වටපිටට මුහුණ යොමු කළා ය.

"මෙහාට කාලෙකින් වැහැල නෑ. තව කාලෙකට වහින-එකක් නෑ. ඔය... මහ අමුතු කර ගඳ හුළඟක්..."



දියණිය එසේ කී කල පිච්චි සහ කෙටිහාමි මුහුණට මුහුණ බලාගති. කාරණය සැබෑ ය. මල දොළවල් වියළී ගොස් ය. ගස්වල පවා වැඩි ප්‍රාණවත්කමක් නැත. ගුණාදරී වර්ෂාව ගැන කියන අනාවැකි හරියට ම හරි ය. දින කිහිපයකට උඩ දී උදේ වරුවේ ගුණාදරී කුඹුරේ නියර මත ඇවිදිමින් උන්නා ය. ඈ එක්වර ම "අප්පුච්චේ" යි කියා කෑගෑවා ය. කෙටිහාමි උන්නේ පහළ ලියැදිවල පොල් පිති ඔළු සිටුවමිනි. ඔහු ගුණාදරී අසලට දුවගෙන ආවේ ය. ඈ සුළඟට මුහුණ ලා මුමුනන්නට විය.

"මේ හුළඟ නං අප්පුච්චෙ මහා අමුතු එකක්.. බලාපංකෝ අප්පුච්චෙ මේ හුළඟ ගනකමයි නේ. මොකක් දෝ ගඳක් වාගේ එකකුත් එනවා."

කාරණය සැබෑ ය. ඒ සුළඟේ කුඩා දූවිලි වැනි යමක් පාවී එයි. කෙටිහාමි ගුණාදරී ඒ සුළඟ දෝතට ගෙන සුවඳ බලමින් සිටියා ය. කෙටිහාමි ඉතා හොඳින් පරීක්ෂා කර බැලුවේ ය. මුළු පළාත ම එවන් දූවිලිවලින් පිරී ගොස් තිබිණි.

"මයෙ කෙල්ලේ... සුදු මහත්තුරු 'තේ' කියලා පුංචි ගස් ජාතියක් වවන්න ඉහත්තාවෙ මහ වනාන්තර කපා බිම හෙළලා ගිනි තියනවාලු. මේ හුළඟේ මෙහාට ගහගෙන එන්නෙ ආං ඒ දූවිලි. ඉහළ රක්වාං කඳු සේරම කපකපා පුච්චනවාලු..."

ගැනු ළමයා කල්පනාකාරී විය.

"අප්පුච්චෙ... උඹලා දන්නෑ. මං පහුගිය ටිකේ ම යමක් කල්පනා කොළා. උඹලා අමුණ කැඩුව ම එන සද්දෙ ඉස්සරට වඩා අඩු යි. ඒ කියන්නෙ දොළේ වතුර අඩු වෙලා. මං තනියෙම කල්පනා කොළා ඒ ඇයි කියලා. ඒ සුදු මිනිස්සු ගස් කපන හිංදා. අපේ අමුණ කැඩුව ම එන ඉස්සර සද්දෙ ආයෙ කවදා වත් එන-එකක් නෑ..."

ගුණාදරී එදා බොහෝ සේ සන්තාපයෙන් පසු වූ බව කෙටිහාමිට මතක ය.

කඳු නැඟ කොළොන්නා කෝරලයට එන්නට ඔවුන්ට හෝරා පහක පමණ කාලයක් ගත වී තිබිණි. පළාත දැඩි නියඟයකට ලක් ව ඇත. මඩුවන්වෙල වැව සහමුලින් ම සිඳී ගොසිනි. කුඹුරු යායවල් පිටින් පුරන් වී ගොස් තිබේ. ඔවුහු කැලෑ පාරේ ම ගමන් කරන්නට

... පෙනෙන්නට නො සිටියහ. මේ මහත් වෙනස වූ හ. මිනිස්සු කිසිවෙක් පෙනෙන්නට නො සිටියහ. මේ මහත් වෙනස නිසා ම ඔවුහු නිහඬ ව ම පුරුදු ගම්මාන මණ්ඩිය දෙසට ආ කල ඒ විපර්යාසය දෑසින් ම දුටහ.

"හත්ඉළවුව යි. මේ මොන නස්පැත්තියක් ද? මහ තදේට නියගෙ අල්ලලා..."

පිච්චිගේ ගේ තිබුණු තැන පස් ගොඩකි. ඔවුහු නිහඬ ව ම මිදුලේ වියළී ගොස් තිබූ මයිල ගහ යටට ආ හ. කළ යුත්තක් පිළිබඳ කිසි හැඟීමක් නො වේ. ඒ අතර මැහැල්ලක හැරමිටියක් අනිමින් හිඳ කොළපත් ගොටුවක් ද අතැති ව යනු දුටු කල කෙටිහාමි ඇය අසලට ගොස් උගුර පෑදුවේ ය.

"කවුද බොලං උඹලා...?"

කෙටිහාමි වත-ගොත කියා සිටියේ ය. මැහැල්ලට සිද්ධිය මත තිබුණේ ය.

"කිරි අප්පොච්චියේ...! මේ කිරෙන්දරාගේ දෝණියැන්ද ද? ඒක එහෙමයි එහෙනං... ඒ කාලකණ්ණිය නං ඒ සන්දියෙම මළා, ඇදුම් හැදිලා. සේරම විනාස උණා ළමයිනේ. ගමට වස් වැදුණා. ඇට බොල, තොට මා අමතක ද?... මං නොනයි හාමි..."

පිච්චි ළමයා ද වඩාගෙන නැඟී සිටියා ය.

"අනේ දෙයියනේ නොනයි ආච්චියේ... කෝ මගෙ අම්මා...?"

ඈ එසේ ඇසුවේ හීනයක සේයාවක් මුව රඳවාගෙන ය. මොහොතකින් කෑගසා හඬන්නට සිදු වන විදිහේ භයානක ඉරියව්වක් ඒ දෑස්වල පිරී තිබිණි. මැහැල්ල පිළිතුරු දුන්නේ කනගාටු සිතිනි.

"නියගේ ආවා බොලව්... ඒ එක්ක ම දෙයියංගෙ ලෙඩ... විසාලා මහ නුවර තුංබිය වගේ. මඩුවන්වෙල දෙයියෝ බේරගන්න හැකි ය කියලා හිතෙන උං කරත්තවල පටෝ පටෝ යැවුවා රක්වානේ ඉස්පිරිතාලෙට. ඒ යන ගමනෙදිත් හුඟ දෙනා මහ මඟ මළා. උං ඒ ඒ තැන්වල ම වළ දැම්මා. ඔය ඇරැපෝරුව ගඟ පහු කොරලා හෙළ නගින්න උණාම බැවුම පැත්තට තියන අලුත් පස්ගොඩ සලිදු ගෑනිගෙ සොහොන..."



පිච්චි ගිරිය යටින් කෑගසමින් දාවිත් ද වඩාගෙන ඒ දෙසට දිව යන්නට විය. ගුණාදරීට තමා අත වූ සාළුවේ කොන දුන් කෙටිහාමි ද ඒ ඔස්සේ වේගයෙන් අඩි තබා පස්සෙන් ගියේ ය. මැහැල්ල ද ඔවුන් පසුපස දුවන්නට විය. ඇරැපෝරුව ගඟ ද සිඳී ගොස් ය. අසල වූ අම්බලම ළඟින් සිඳුණු ගඟට බැසගත් පිච්චි ළමයා ද වඩාගෙන ගඟෙන් එගොඩ වන විට මැහැල්ල මෙගොඩ සිට කෑගෑවේ ය.

"ඔය ගෑනි පතබෑවෙයි පැටවත් එක්ක ම. යකුනේ කලබොලේ අඩු කොරගනියවුකෝ... ගංගොඩැල්ලක් ම මියැදිලා තියන එකේ තොපිත් වළ පල්ලට යන්න ද මේ දතකන්නේ..."

"පරිස්සං වෙයං පිච්චියේ ඔය ළමයා එක්ක..."

කෙටිහාමි ද කෑගෑවේ ය. මුලින් පිච්චි ගඟෙන් එගොඩ වූ අතර ගුණාදරී ඔසවාගත් කෙටිහාමි ද එගොඩ විය. මැහැල්ල අන්තිමට එගොඩ වූවා ය. අලුත් පස් ගොඩේ කවුදෝ විසින් අරලියා අත්තක් සිටුවා තිබුණේ ය. පිච්චි දිව ගිත් පස්ගොඩ ළඟ වැටී හඬන්නට විය. කෙටිහාමි හඬන දාවිත් වඩාගත්තේ ය. ගුණාදරී කකුලෙන් යාබද බිම් පිරික්සා, සුදුසු යැයි හැඟෙන තැනක වාඩි වූවා ය. මැහැල්ල කරව් ගස මුලට වී කම්මුලේ අත ගසාගෙන බලා සිටියා ය.

"මගෙ රත්තරං අම්මේ... මට දැනුණා උඹ මිය පරලොව ගිය විත්තිය... උඹ මියැදෙන්න කලියෙනුත් තනි උණා... මියැදුණායින් පස්සෙත් තනි උනා අම්මේ... උඹ මා වෙනුවෙන් ගේ මුල්ලට වෙලා මොනතරං හූල්ලලා ඇද්ද. අපි දැං කුඹුරු කොරාන, පැටවු හදාන සංතෝසෙං ඉන්නවා මගේ දෙයියෝ... උඹට එක ම එක වංගියක් ඒ සංතෝසෙ දකින්න බැරි උණා මගෙ අම්මේ. උඹ ඉන්න නුවරක මට ආයේ වංගියක් උපදින්න උවමනයි මයෙ අම්මේ... උඹ ළඟ වැටිලා උඹට ආවතේව කොරන්න උවමනයි මයෙ අම්මේ..."

සන්ධ්‍යාව උදා වෙද්දී හිරු විජේරිය කන්දට ළං විය. පිච්චි හඬා වෙහෙස වී කෙඳිරිගෑවා ය. කෙටිහාමි ද පිච්චි අසල ඇන තබාගෙන උන්නේ ය. දාවිත් ගුණාදරීගේ උකුලේ නිදාගෙන ය. තමා අත වූ කොළපත් ගොටුවට ඇරැපෝරුව ගඟේ ඉතිරි සුඟෙන් දිය ගෙනා මැහැල්ල සැමට බොන්න දුන්නා ය. පිරිස බඩ පිරෙන්නට වතුර බිවූ අතර, නොනයි හාමි මැහැල්ල ද එතන ඇනතබා ඉඳගෙන කතා කරන්නට විය.

"තොපිට දං මේ අවර ජාමේ මූකළාන බඩගාගෙන අටකළ
කෝරලේට යන්න ඇහැක? එකියක්ගේ දැහ පේන්නෑ. අනිකා කි
සප්පයා. මෙකි වැලහින්න වාගේ හෝරා ගානක් විලාප තියලා
ඇගේ පණ කළඳක් නැති ගාන යි. ඕවා ඔහොම තමයි බොලල්ලා
කල ආහම අපි කවුරුත් ඔය ගමන යනවා. සංසාරෙ කෙළවරක් නැ
කොයියම් ම ආත්මෙකදි හරි ආයෙ ආයේ මුණගැහෙනවා... යංදාක
නිවං දකින තුරු ඕක ඔහොම තමා... අර ගඟ අයිනේ අම්බලමේ
රාත්තිරිය ගත කොරලා හෙට ඉර ඇහැරෙන ජාමේ පලයවු. මා
ඉන්නං තොපේ තනිනොතනියට..."

*   *   *

ඇරැපෝරුව අම්බලමේ රාත්‍රිය ගත කළ ඔවුහු සහල් ටික, පුහුල
ගෙඩිය, වට්ටක්කා ගෙඩිය, කිතුල් පිටි සේරු බාගය හා බුලත් අ
මැහැල්ලට දී, යන්තම් සුදු එළිය වැටෙද්දී ගෙදර යෑමට පිටත් වූ
වැලි හකුරු පොල් කටුව තබාගත්තේ මඟින් මඟට දාවිත් හඬ
විට කටේ දැමීමට ය. ඒ යන ගමන් ද පිච්චි වරින් වර ඉකිගැසුවා
කෙටිහාමි අත වූ සාළුවේ කොනක් අල්ලාගත් ගුණාදරී ද යළි ආ ම
ගමන් කරයි. කෙටිහාමි පුංචි දාවිත් ද කරේ තබාගෙන ගමන් කළ
අතර, ඈත පෙනෙන කඳු පන්තීන් දෙස බලමින් පිච්චි වරින් ව
නතර වී ඉකිගසද්දී කෙටිහාමි ද නතර වී "නාඬා වරෙන් පිච්චියේ..."
යි කී ය.

කුඹුරුගමුව මූකළානේ දී තමාට ඉදිරියෙන් ගමන් ගන්න
ගුණාදරීගේ වස්ත්‍රයේ පිටුපස දුටු පිච්චි කලබල වූවා ය. ඇය තම අත
වූ වේවැල් පෙට්ටියේ තිබුණු කම්බා රෙද්ද අතට ගත්තා ය.

"ඔහොම ඉඳහල්ලා ටිකකට..."

ඈ එසේ කී කල කෙටිහාමි ද ගුණාදරී ද නතර වූවා ය. පිච්චි
වහා දිව විත් රෙද්ද ගෙන ගුණාදරීගේ හිස සිට කය වැසෙන සේ
ආවරණය කර ගැටයක් දැමුවා ය. ගුණාදරී ද කලබල වූවා ය. කෙටිහාමි
පුදුම වූයේ ය.



"...ඒකත් සිද්ධ උණා. මගෙ රත්තරනේ, උඹ දං ළමිස්සියෙක්... උඹලා පැංචා එක්ක ඉස්සර වෙයල්ලා... මං මෙකි දොක්කං කොරාන එන්නං... හැකි තාක් මූකළාන්වලිං ම යමල්ලා..."

*   *   *

සමහර දේට අප්‍රමාණ ව දුක් වෙමින් ද තවත් සමහර තැන්වල දී අප්‍රමාණ ව සන්තෝෂ වෙමින් ද කාලය ගෙවන පිච්චි හරි අපූරු ගැහැනියකැ යි කෙටිහාමි කල්පනා කළේ ය. ඇයට දැන් ජීවිතය හොඳට ම හුරුපුරුදු ය. එය තමාට සවියකි. කෙටිහාමිට ඒ ගැන සතුටු හිතෙයි. ඒ වාගේ ම ස්වභාවධර්මය ගැන ඔහුට පුදුම සිතිණි. ගොයම් පැසෙයි; කැපෙයි; පැගෙයි. අවු, වැසිවලට මුහුණ දෙමින් කුඹුක් ගස් වැඩෙයි. ළමයි ලොකු වෙති.

# 09

අලුත් ම හිරු එළිය තීරු වශයෙන් සැදී අරඹ අතරින් කුඹුරු යාය
ගොඩ බැස හිඳී. ඒ රන්වන් පසුබිමේ නියර හරහා ඇවිදිමින් වක්කඩවල
වතුර කඩා දාන්නේ ගුණාදරී ය. ඈ තමාගේ සිතේ ඇඳුණු නිය
රටාවල පාද තබමින් ඒ ඒ නියරවල වක්කඩ ඇති තැන් හඳුනාගෙ
ඒවායේ සිර කර තිබුණු පිදුරු මුල් වක්කඩෙන් මුදා නියර මත තබ
එවිට රාත්‍රිය පුරා ලියැදි මත පිරී තිබුණු වතුර මහත් සන්තෝෂයකි
හා ජවයකින් යුතු ව ලියැද්දෙන් ලියැද්දට බැස පහළට ගලා යයි. දි
හොල්මන කිහිපයක් ම තරමක් වේගයෙන් සද්දය දෙන්නට පට
ගනී. ගුණාදරී මහත් සතුටින් සිය කාරිය කරයි. කෙටිහාමි කඩුල්
අසල සිට ඒ දසුන දෙස බලගෙන සිටියේ ය.

ගත වූ දින සතර තුළ ගේ මුල්ලට වී ඇය සිටියේ මහත් අසහනයකි
බව ඔහු දනී. පිච්චි ද ගුණාදරිය මුල්ලට කර කෙටිහාමිගේ වත් දැස
මුලිච්චි වෙන්නට නොතබා කටයුතු කළ අතර, ඈ මුල්ලේ හිඳ පියා
කෑගැසූ අයුරු කෙටිහාමිට මතක් වෙයි.

"අප්පුච්චේ... දරාඬ පාදලා වරෙං... අප්පුච්චේ අමුණ වහල
වරෙං... දිය බෙරලියා ලියැද්දේ වක්කඩේට පිදුරු මුල් දෙකක් හි
කරපාං... අප්පුච්චේ පොල් ගහේ අතු වේළිලා නං ගොයම් පැළ උඩ
වැටෙයි... බලාපං අප්පුච්චේ... අරඹ අයිනේ ලියැදිවලට කොස් කො
වැටිලානං අහුලලා නියර උඩිං තියාපං අප්පුච්චේ..."

තමා ලොකු ළමිස්සියෙක වීම පිළිබඳව ගුණාදරීගේ සිතේ
තිබුණේ අකැමැත්තකි. මෙසේ මුල්ලට වී ඇය කෑගසද්දී "කුඹුරු කෙටුවට
වතුර බැන්දට කාරි නෑ... ඒත් දූං ඔය පාවරේ වැඩවලට කාරිය කෙල්ල
එක්කාසු කොරගන්න එහෙම උවමනා නෑ" යි පිච්චි කෙටිහාමිට කෑගෑව
ය. ඒ ඇසුණු ගුණාදරී කලබල විය.

"උඹලට නං මක් වෙලා ද මං දන්නෑ. මං ලොකු උණේ මගේ
උවමනාවට යැ? මං මොකට ලොකු උණා ද මං දන්නෑ... මට නං ඒ
වගක් දැනෙන්නෙත් නෑ..."



ඒ වේලේ ගුණාදරීට හැඬුම් ආවේ ය. කෙටිහාමි විසින් පොළෙ-න් ගෙනෙන ලද ලොකු මුට්ටියේ වතුර උණු කළ පිච්චි උදේ රැයින් ගුණාදරී නෑව්වා ය. ඉන් පසු කිරි අත්ත කප්පවා, පොල් ගෙඩිය බිඳුවා තමාට වන්දවද්දී කෙටිහාමි දියණිය දෙවුරින් අල්ලා නැගිට්ටුවේ ය. ඒ වේලේ තමාගේ අත් යන්තමින් වෙවුලනු ඔහුට වැටහිණි. පිච්චිගේ පියා විසින් පිච්චි කොළොන්න කෝරලේ නරක අප්පෝ කෙනෙකුට බිලි දෙන ලද අයුරු ඔහුට මේ වේලේ කල්පනා විය. ඔහුගේ ඇඟ හිරි වැටී ගියේ ය. ඒවා යළි සිහි කළ යුතු නැත. ඉතා පරිස්සමින් තමන්ගෙ-ග් මේ සෙනෙහෙ වස්තුව රැකගත යුතු බව ඔහු සිතාගත්තේ ය. ඒ උදයේ ඇඟ සීතලට ගල් වී තිබිණි. කොණ්ඩයෙන් වතුර බින්දු බේරෙමින් තිබිණි. ඇගේ අඳ දෙනෙත් තුළ කඳුළු පිරී වේදනා දෙන්නට වනු ඇතැයි සිතා, ඒ වේලේ කෙටිහාමි වචනයක් වත් කිව්වේ නැත. ඒ මොහොතේ සියල්ල සැලසුම් කරන ලද්දේ පිච්චි විසිනි.

"උඹලා ආං අර කුඹුර දිහාට පලයල්ලා... මේ වගේ දාක ළමිස්සියෙකුට කියා දෙන්න උවමනා කොරන කාරණා ටිකක් තියනවානේ..."

එසේ කියූ පිච්චි ගුණාදරීව ගෙපිළේ හිඳුවාගත්තා ය.

එළිය වැටෙද්දී කෙටිහාමි ගොස් කී පණිවිඩය අනුව කෝඳුරුහාමි, රොයිනා සහ ළමයි කිරිබත් කෑමට එහි ආ හ.

* * *

ගොයම කිරි වදින සමය උදා වෙද්දී පුරුද්දක් විදිහට උදේ රැයින් ම කෙටිහාමි කුඹුරු යායේ ඇවිදින්නට ආවේ ය. මේ ගමනට ගුණාදරී ද පාන්දරින් නැගිට එක්කාසු වෙයි. ඊට කෙටිහාමි වත් පිච්චි වත් දොස් කීවේ නැත. නියරවල් ඔස්සේ ඇවිදින අතර කෙටිහාමි ගොයමට වැටුණු කොස්කොළ අහුලා නියරවල් උඩ වක්කඩ අසල තබයි. කැලය අද්දර ලියැදි තීරයේ නියරවල එසේ කොස්කොළ ගොඩවල් බොහෝ තිබේ. ගුණාදරී ඒ බව දනී. ඈ ඒ වක්කඩ අසල දී කකුල දුරින් තබා ගමන් කරයි. ඔවුහු පොල් ගස අසලට ආ හ.

"පොල් අතු වේළිලා ද අප්පුච්චේ..."

"මහ්... නෑ..."

"කොස් කොළ ඇයි අප්පුච්චේ මෙහෙම වැටිලා අපට කරද
කොරන්නේ...? පොල් අතු නං ඉදලා-හිටලා එකයි... කොස් කො
මහ හුඟයි... ඇයි ඒ?"

ගුණාදරීට මේ වගේ ප්‍රශ්න රාශියකි. කෙටිහාමි ඒවාට උත්ත
දෙන්නට කැමැත්තක් දක්වයි. ඔහු වෙල් තීරයට ඉහළින් වූ මහ කො
ගස් දෙස බලා කතා කරයි.

"ඔය කොස් ගස් කෙල්ලේ අපි මෙහෙට්ට ආපු දා ඉඳල
කොයි යම් ම පංගුපේරුවක්කත් නැති ව අපිට කන්න කො
දුන්නා. උඹ කුසේ ඉන්දද්දී උඹේ අම්මා කෑවේ අතන අර බෙ
තියෙන ගහේ පොලොස්. ඉතිං ඒ ගහේ සත්ත කරුණාව නො වෙ
ද උඹේ ඇඟේ දුවන්නේ. මං කල්පනා කොරලා තියෙනවා උඹ
කාරණේ. පැළ කාලෙ කොස් කොළ වැටුණම පුංචි ගොය
පැළවලට කරදරයි තමයි. ඒත් ගොයම් පැළ හෙමින් ඉ
උස්සනවා. උං කොස් කොළ එක්ක තරහක් නෑ. දැං ඔය කොස් කො
අරියාදුවට වගේ ලියැදිවලට වැටෙනවා. අපි ඒවා අහුලඅහුලා තිය
උඩ වක්කඩ ගාව තියනවා. ඊළඟ යලේ දී හෙමින් හෙමින් ඒක පෝරු
වෙනවා. ආං බලපං ගස්වල සෙස්ස ගුණේ. ඔය ගස් හැම එකක් ම කත
නොකළට අපි එක්කල හරි හිතවත්. මං හුඟක් දාට ඔය අපේ අප්පුච්චලෙ
හුළං කවි කියද්දි උනුත් මෙං හෙලවිලා, නැළවිලා, ගැස්සිලා, සංතෝ
වෙනවා. අපි ඉතිං කපන්නේ ගොයම් ගස් විතර නේ. ඒ ගැන හිතට දුක
හන්දා නේ අපි කුඹුර කොටද්දී උදල්ලටත්, වපුරද්දී පැළ වී ගොඩටත්,
කපද්දී ගොයං ගහටත්, පාගද්දී අත්දඬු ලීයටත්, මනිද්දී වී මල්ලටත්
ළිප තියද්දී බත් මුට්ටියටත්, කන්න ගද්දී බත් පතටත් වඳින්නේ. උඹට
තේරුණා ද ඒ වග?"

ගුණාදරීගේ සිත සතුටු වෙයි. ඇය ද කෑමට පෙර බත් පතට වඳි
මහා කොස් ගස් පිළිබඳ ව ඇ සිතේ තිබූ බිය තුනී වී ආදරයක් උපන්නේ
ය.

ඔවුන් සුදු එළියේ ගල් අමුණ දිහාවට එද්දී ඒ පුදුම සහගත දසුන
දුටුයෙන් කෙටිහාමිගේ පා වහා නතර විය. ගුණාදරීට ඒ වෙනස දැනී
විමසිලිමත් වූවා ය.



"ඇයි අප්පුච්චේ...?"

කෙටිහාමි කිසිත් නොකියා කෝඳුරුහාමිලාගේ ගේපැල දෙස බැලුවේ ය. එහි තව ම දොරවල් හැර නැත. ගල් අමුණ උඩ හිඳගෙන උන් ඒ නාඳුනන කඩවසම් පුද්ගලයා නැගිට කුඹුරු යාය දෙස බලබලා දොළ ඉහත්තාවෙන් කැලයට වැදී නොපෙනී ගියේ ය. සරමක් හැඳ උඩු කයට බැනියමක් දමාගෙන උන් ඒ පුද්ගලයාගෙන් දිස් වූයේ වැදගත් පෙනුමකි. ඔහුගේ බැල්ම බලවත් ආරච්චි මහත්තයෙකුට අයත් ජාතියේ බැල්මකි.

"යමං ගෙදර..."

කෙටිහාමි වහා ගුණාදරිය ද කැටුව වෙල් යාය දිගේ ගේ දෙසට යෑමට හැරුණි.

"උඹලාට මක් වෙලා ද අප්පුච්චේ...? අපි අද අමුණ උඩට යන්නැද්ද...?"

කෙටිහාමි කිසිවක් නො කිව්වේ ය. කාරණය හරි නම් මේ මීට දින තුනකට පමණ පෙර රාත්‍රියේ කෝඳුරුහාමි විසින් තමාට විස්තර කරන ලද මිනිසා ම ය. එහෙත් ඔහුගේ බැල්ම කෙටිහාමිගේ සිතට මහත් අමුත්තක් ගෙන ආවේ ය. එය අමුතු විනාසකාරී බලවේගයක හැඟීමක් ඉතිරි කළේ ය. ගෙදරට විත් ගුණාදරී ගේ පිළ රඳවා පිච්චි කැටුව යළි කඩුල්ල අද්දරට පැමිණි කෙටිහාමි ඈ සමඟ කාරණය කතා කරන්නට විය.

"ඔය දෙපළ රටේ රටේ ගල් අමුණ උඩ දී හම්බු වෙනවලු... කෝඳුරුහාමි යි මට කිව්වේ. පවු ඒ මනුස්සයා... ඔය නාරංදෙණිය පැත්තේ ඉන්න කසාද නොබැඳපු නිලමෙ කෙනෙක්ලුනේ. 'රතු නිලමෙ'කියලාලු කියන්නේ... කෝඳුරුහාමි ඉඳලා තියෙන්නේ මෙහෙ පදිංචියට ආහම ඔච්චා මගැරිලා යාව් කියලා..."

කෙටිහාමි එසේ කී කල පිච්චි කම්මුලේ අත ගසා ගත්තා ය. ඇයට තමා දුටු ඒ කාරණය සිහි වන්නට වූවේ ය. සුමංගල හාමුදුරුවන් වහන්සේ අටකළං කෝරලේට වැඩි ඒ පිංවන්ත දවසේ දී ද සිදු වූයේ ඒ වාගේ ම දේකි. පළාතේ මහ සෙනගක් ඒ උතුම් බණ දෙසුම ඇසීමට රටේ මහත්තයාගේ වලව් වත්තට එක්කාසු වී සිටි අතර, කෙටිහාමිගේ සහ කෝඳුරුහාමිගේ දෙපවුල් ද ඊට සහභාගි වූ හ. බණ අසන අතරතුර

රටේ මහත්තයාගේ වලව්වේ කටයුතුවලට එහා මෙහා දිවූ ඒ උ
මහත නිලමේ රොයිනා සමඟ දෑස්වලින් කළ කතාබහ පිච්චි දු
තිබිණි. ඒ වේලේ කෝඳුරුහාමි වගේ වගක් නැති ව කට ඇරගෙන
බණ ඇසූ අතර, එළිවන ජාමේ සිය පොඩි ම ළමයා වූ සම්බුලා හා
පිච්චි ළඟ තැබූ රොයිනා 'දොට්ට-පිළට' යනවා යි කියා අඳුරට වැ
නොපෙනී ගියා මතක ය. එදා ගෙදර ආ පසු මේ විස්තරය ඇ
කෙටිහාමිට කියූව ද "අපිට මොක ද පිච්චියේ අනුන්ගේ වගක්"
යනුවෙන් කෙටිහාමි කියූ නිසා පිච්චි යළි ඒ පිළිබඳ ව කතා නොකළ
ය.

"අච්චර අර සාගරයක් වටින බණ දේසනේ මඟෑරලා, නි
කිරකිරා උන්නු දරු රොත්ත මා ගාව දාලා ඔය ගෑනු කෙනා ගියා මෙ
කළුවරට."

ඇය වටපිට බලා සෙමෙන් කතා කරයි.

"ආපහු කොණ්ඩෙත් බැඳබැඳ ඇවිත් ඉඳගත්තේ එළි වෙන ජාමේ...

"ඔය හවහට ගල් අමුණ වලේ දිය බුං ගහන මනංසිස්සෙදෝ ත
ටිකක් ඉලංදාරියා වෙනකොට වත් මේ බවලතා ඔච්චා නතර කොරා
කියලා තමයි කෝඳුරුහාමි බලාගෙන ඉන්නේ... ඒත් පිච්චියේ, මට
මනුස්සයාගේ අමුත්තක් පේනවා. මොකක් දෝ අමුත්තක්... කියාගන්
තේරුමක් නෑ මට..."

එසේ කී කෙටිහාමි කුඹුරු යාය දෙස බලාගෙන කල්පනා කරමින්
හිස කසන්නට විය. පිච්චිට මේ කිසිවක් නො තේරේ. ඇය බිය ව
බලා සිටියා ය.

* * *

වරෙං වරෙං සුළංතේ..........
සුළං සුළං වරෙන්නේ..........
අපිව බලා යන්න වරෙන්නේ..........
පැටවු බලා යන්න වරෙන්නේ..........



"හා හා හා... මේ බලාපියෝ... මේ බලාපියෝ... කොබෙයියනේ... කොබෙයියනේ... අපෙ පුංචා අඬන්නැතෝ... අච්චච්චියෝ අච්චච්චියෝ අපෙ පුංචා අඬන්නැතෝ.. හම්බාවෝ හම්බාවෝ අපෙ පුංචා අඬන්නැතෝ.. උගුඩු මලේ උගුඩු මලේ මේ බලහං මේ බලහං උඹලාට වාගෙ ම අපෙ පුංචාටත් පුංචි ම පුංචි ලේන්තිරික්කා නකුටක් තියනවෝ... හා... හා... හා..."

කන්න අවසන අස්වනු ගෙට ගෙනා දාට පහුවදා කෙටිහාමි එසේ පිළ උඩ ඉඳගෙන පුංචි දාවිත් සිඹිමින් හුරතල් කරමින් උන්නේ ය. පිච්චි හිටියේ වේළා පොතු අරින ලද මී මද වංගෙඩියේ දමා කොටමින් ය. මුලින් මුලින් ඒ තාලවලට දාවිත් සිනා සුණ ද පසු ව බඩගින්නේ හඬන්නට වූයෙන් පිච්චි ඔහු වඩාගෙන ගෙට ගියා ය.

ගොයම් කපද්දී මඟහැරී ඉපනැල්ලේ වැටුණු වී කරල් ගුණාදරී ලියැදිවල ඇවිදිමින් ඉපනැල්ල අතගාමින් අහුලනු දුටු කෙටිහාමිගේ සිතේ උපන්නේ ඈ පිළිබඳ ව මහත් සෙනෙහසකි. තමන්ට කෑමට ඔනෑ තරම් වී තිබේ. එහෙත් වී ඇටයක්වත් අපතේ යනවාට ගුණාදරී කැමැති නැත. කමත් වැඩවලින් පසු කමත් බිම අතුගා, ඉහිරුණු සියලු වී ඇට සියල්ල ඈ ඇහිලුවා ය. එපමණක් නො ව... බත් කෑ පසු ද මඩක්කුවේ එක ම බත් ඇටයක් වත් අපතේ යැව්වේ නැත. කෑමට පෙර කුරුලු ලෑල්ලට බත් ගුළියක් තැබීමට ද ඇය අමතක නොකළා ය. ඉන් පසු ලෑල්ල මත කුරුලු සද්ද ඇසෙන විට ඇය තනිවම සිනා සුණා ය. මේ හැම පුරුද්දක් ම සිය පියා වූ හීතලහාමිගෙන් තමා හරහා දියණියට ලැබුණු ඒවා බැව් කෙටිහාමි කල්පනා කළේ ය.

ඇය කවරදා වත් ම දෑකැත්තට අත කපාගන්නේ ද නැත. කුඹුරු යාය දෑසින් දූක-බලාගැනීමේ වාසනාව ඇයට අහිමි කළ ස්වභාවධර්මයා ගැන කෙටිහාමිට ඇත්තේ මහා පුදුමයකි. තමා හැම විට ම හොඳ ම දේවල් පමණක් සිතුවත්, අයහපත් වූ කිසිවක් දනුවත් ව නොකළත් ස්වභාවධර්මයා පිළිතුරු දෙන්නේ ඒ ඒ වේලාවට එයට වුවමනා විදිහට නො වේ දෝ යි ඔහු කල්පනා කළේ ය.

කෝඳුරුහාමිගේ තුන්වැන්නා වූ නිදුක්හාමි මිදුලට දුවගෙන ආවේ මේ වේලේ ය. ඔහු පණිවිඩයක් රැගෙන පැමිණ හිඳී.

"මාමණ්ඩියේ... අර රතු නිලමේ ඇත්තෝ කවුදෝ මං දන්නෑ ලොකු උත්තමයෙක් එක්කාසු කොරාන ඇවිල්ලා... ආං ගල් අමුණ

උඩ ඉන්නවා. උඹලට එන්නලු ගල් අමුණ ළඟට..."

කෙටිහාමි පුදුම වූයේ ය.

"ඒ කවුද බං...?"

"දන්නෑ... උස උත්තමයෙක්..."

"හ්ම්... යමල්ලා බලන්න..."

ඔවුන් කඩුල්ලෙන් පැන, ඉපනැල්ලට බැස, ගල් අමුණ දෙසට ඔවුන්ට ගමන් කරද්දී වී කරල් මිටක් අතින් ගත් ගුණාදරී ද ඔවුන්ට එක්කාසු විය. අමුණ මත කිහිප දෙනෙකු සිටිනු පෙනෙයි. මේ නම් කෝඳුරුහාමිලාගේ ම පලහිලව්වේ තවත් අවස්ථාවක් යැයි කෙටිහාමි සිතුවේ ය. අමුණට ළඟා වෙත් ම ඔහු ඒ අනෙක් ප්‍රතාපවත් පුද්ගලයා ද දුටුවේ ය. ඔහුගේ අතවැසියන් යැයි සිතිය හැකි ගැමියෙ දෙදෙනෙක් ද පසෙක වූ හ. ගරු-ගාම්භීර පුද්ගලයා පලෙයිකාර සරමක් ඇඳ, වටිනා බස්තමක් ද අත දරා සිටියේ ය. හේ උඩු රැවුල කරකවා හිඳී. ඔහු දකිත් ම කෙටිහාමිගේ සිතට ආවේ නාඳුනන බියමුසු හැඟීමකි. රොයිනා සහ ළමයින් පිරිස ඔවුන්ගේ ගෙපැල දෙස සිට අමුණ දෙස බලා සිටි අතර කෝඳුරුහාමි ලියැද්දක් මුලට වී සිටියේ ය. ගරු-ගාම්භීර පුද්ගලයා කිසිවෙකු පිළිබඳ වගේ වගක් නැති ව යම් අවස්ථාවක් එළඹෙන තුරු ඉන්නා සේ අමුණ උඩ සිට කුඹුරු යාය දෙස බලා සිටියේ ය. කෙටිහාමි සහ ගුණාදරී දූන් අමුණු බැම්ම යට ය.

කෝඳුරුහාමිලාගේ පවුලේ පලහිලව්ව පිළිබඳ තමන්ගෙන් යමක් විමසුව හොත් කිසිවෙකුට වත් අසාධාරණයක් නොවන ලෙස මැදිහත් සිතින් උත්තර දීමට කෙටිහාමි සිතාගති. ගල් අමුණ ළඟ යට ලියැද්දේ උන් කෙටිහාමිට බලවත් අමුත්තා පෙනුණේ ගොඩකවෙල පොසොන් පෙරහරේ නටමින් ගමන් ගන්නා මුහුණු දෙකක් ඇති ඉතා විසල් යෝධයෙකු බඳු මහ බඹා ලෙසින් ය. රතු නිලමේ උගුර පාදා සිය හඬ අවදි කළේ ය.

"මේ සැපත් වෙලා ඉන්නේ අන්තෘකුරුප්පු ගාර්ලිස් ආරච්චි උන්නාන්සේ..."

කෙටිහාමි යටහත් පහත් විය.



"මුන්නාන්සේ ගැන කාරණාකාරණ දන්නව ද?"

එය කාගෙන් ඇසුවක් දෑ යි නොදත් කෙටිහාමි බිය වී බිම බලාගෙන ම සිටියේ ය. රතු නිලමේට කේන්ති ගියේ ය.

"මනුස්සයෝ... මං ඇහුවෙ උඹගෙන්..."

කෙටිහාමි ගැස්සුණේ ය. ඔහුගේ මුවින් වචන එළියට පැන්නේ ඉබේ ම වාගේ ය.

"අනුකම්පා කොරන්න හොඳ යි. ඒ ගැන කොයියම් ම විදිහේ දැනීමක්වත් නෑ මට... මගේ ගම් පළාත දිග්ගම්පොත කෝරලේ නැටුංගල... මෙහෙට ආවේ කොළොන්නා කෝරලේ......"

"ඇති... අහගනිං... අපියි තොපියි වාසෙ කොරන රට අයිති ඒරොප්පේ සුදු පාට මහේසිකාවුන්නාන්සේගේ පුත්‍ර රත්නය ඇඩින්බරෝ ආදිපාද තුමා පහුගිය කාලෙක මරියවැල්ලෙන් ගොඩබැහැලා මෙරටට සැපත් උණා ම උන්නාන්සෙට බෝජන වළඳන්න පාට පාට මැණික් ගල් ඇල්లූ පිඟාන තැගි කොළේ මේ උත්තමයා. ඒක තමා මේ සපරගමු රට දිනාපු සේස්ට ම කාරිය. ගැඩවිල්ලු වගේ කැලෑ මූකළානට වහංගු වෙලා ඉන්න උඹලා නොදන්නවා උණාට, මේ උත්තමයා ඒරොප්පෙත් පුරසිද්ධ යි. මේ දක-කුඹුරු යාය ගැනත්, ගල් අමුණ ගැනත් කන වැටිල යි මේ මහ වන බලාගන්න ඇවිත් ඉන්නේ... අර කලිං කී සේස්ට කාරිය හංදා මේ මහ වන මූකළාන ම තින්දගමක් හැටියට මුන්නැහේට පවරලයි තියන්නේ සුදු මහේසිකාවුන්නාන්සෙලා..."

කෙටිහාමිගේ තොල කට පමණක් නො ව, මුළු ආත්මය ම වෙළී යනවා සේ දූනුණේ ය. රතු නිලමේ මහත් තේජස් විලාසයෙන් කැගසා කතා කරයි.

"මේ හැම බිං කොටහකින් ම සුදු ආණ්ඩුවට බදු ගෙවන්න වෙන බව උඹලා දන්නව ද? ඒ රාජකාරි කටයුතුවලට සුදු ආණ්ඩුව පත් කොරලා ඉන්නේ මුන්නාන්සේ... ඉතිං කවුද අපේ රජ්ජුරුවෝ...? මුන්නාන්සේ..."

ඉතා විශාල, නොතේරෙන විපතක් සිදු වීමට යන බැවු කෙටිහාමිට දූනුණේ ය. උසස් පුද්ගලයන් සමඟ මේ ආකාරයේ කිසිදු දෙයක්

පිළිබඳව කතා කිරීමට දැනුමක් තමාට නොවන බැව් ඔහු දනී. ඒවා ජීවිත පවා අහිමි වී යා හැකි භයානක කාරණා ය. වඩාත් ම භයානක වූයේ ඒ මහා බලගතු පුද්ගලයා වචනයක් වත් කතා නොකිරීම ය. ඔහු කුඹුර දෙස ම බලාගෙන හිඳී. ගුණාදරී තව මඳක් පියාට ළං වූවා ය. කෙටිහාමිට තිබුණේ ඊළඟට කුමක් සිදු වන්නේ දැ යි බලාගෙන සිටීම පමණි. ඔහු දියණිය තව මඳක් තමා අසලට ළං කරගෙන අසරණ ලෙස බලාගෙන සිටියේ ය. අනතුරු ව ඒ භයානක හඬ අවදි විය.

"අනිද්දා උදේ වෙන කොට මේ යාය පුරන් කොටලා තියෙන්න ඕන බොහොම පිළිවෙළට. දැනුං තේරුං තියෙන කාංඩයක් ඒවි ඒ කාරියට."

ඔහු යළි කුඹුරු යාය වටා නෙත් යැවී ය.

"උං තැන්-තැන්වලිං පුරං කෙටිල්ල පටං ගනී. අමුණ ළඟ ඉඳලා ආං අර පොල් පැළහැට්ට දක්වා ලියැදි පෙළ මේ රතු නිලමේ වැ කොරාගනී."

කෙටිහාමි ඒ දෙස බැලුවේ ය. යළි අමුණ උඩ උන් ඒ බලවත් පුද්ගලයා දෙස බැලුවේ ය. ඒ බලගතු මිනිසා දුර සිට තමා දෙස බල ඉන්නා කෝඳුරුහාමි දෙස බලා සැර වුණේ ය.

"තොට හරි නේ..."

ඉන් ගැස්සුණු පාරට කෝඳුරුහාමි ලියැද්දේ වැටෙන්නට ගියේ ය.

"හරි හරි, හාමුදුරුවනේ..."

බලවත් පුද්ගලයා යෑමට හැරුණේ ය. රොයිනාගේ ගේ දෙස බැලූ රතු නිලමේ ද ඔහු සමඟ ගමන් කරන්නට වූ අතර, අතවැසියෝ දෙදෙන ද ඒ පසුපසින් ගමන් කරන්නට වූ හ. කාරණය කුමක් වුවත් සිද්ධ වෙන්නට යන්නේ මහා භයානක දෙයක් බව හැඟී ගියෙන් ගුණාදරී මඳක් වේගයෙන් හුස්ම ගන්නට පටන් ගන්නවා මෙන් දැනුණෙන් කෙටිහාමි ඇය අස්වසා ගේ දෙසට යෑමට හැරුණේ ය.

"ගේ දිහාට යං මයෙ අම්මා..."

කෙටිහාමිට දැනුණේ තමාගේ කකුල් පණ නැතිවා සේ ය. ඔහු



වෙල්යාය දෙස බැලුවේ නැත; සෙමෙන් බිම බලාගෙන ගේ දෙසට ගමන් කරන්නට විය. ඔවුන් එසේ බිම බලාගෙන ගමන් කරන හැටි බැලීමට රොයිනා සහ ළමයි ගල් අමුණ උඩට දිව ආ හ.

* * *

බත් කන්න එන පුංචි පුංචි කුරුලු වර්ග මෙන් ම ලෙහෙන්නු ද කිසිදු අයහපත් බවක් නො පෙන්වති. උන් කාණ්ඩයක් බඩ පුරවා ඉවත් වූ පසු තව වර්ගයක කාණ්ඩයක් විත් බඩ පුරවාගනිති. ඉන් අනතුරු ව තවත් වර්ගයක කාණ්ඩයකි... විසඳාගන්නට බැරි ගැටලුවක් ඒ බත් ලැල්ල උඩ නො වේ. ඔවුහු මාරුවෙන් මාරුවට බඩවල් පුරවාගෙන සන්තෝස වෙති.

එහෙත් මේ තත්ත්වය වෙනස් වූයේ ඒ ලැල්ලට කපුටන් එන්නට පටන් ගත් පසු ව ය. එසේ වුවත් එහි වරදක් කීමට පුළුවන්කමක් නැත. ඒ කපුටු කාණ්ඩයේ සැටි ය. උහු මුලින් ම තටු ගසා-කෑ මොර දී කලබල කර අනෙක් පොඩි සතුන් එළවා දමා කෑම අවුස්සා බිමත් දමා ලොකු ප්‍රමාණයක් ගිල දමති; පසු ව ඒවා වමාරා පහළ පිටලේ කෙසෙල් අතු මුල සඟවා තබා ඉගිළ යති. එහෙත් ටික වේලාවක් ගත වූ විට උන්ට ඒවා සැඟවූ තැන් පවා මතක නැත. එවන් ජවනිකා කොතෙකුත් මෙසේ පිළ උඩ ඉඳගෙන බලා ඉන්නා අවස්ථාවල කෙටිහාමි දැක තිබේ. ඒත් ඒ පිළිබඳව ඔහු කලබල වුණේ නැත. කපුටු වර්ගයේ බඩගින්නත් හරියට පුංචි දාවිත්ගේ බඩගින්න වගේ ය. පුංචි දාවිත්ට නං පිච්චිගේ තං දෙක තිබේ. ඒකා එකක් බදාගෙන අනෙකේ කිරි බොයි. කපුටන්ගේ බඩගින්න සුළු මොහොතකට හෝ නිවෙන්නේ එළඟිතෙලට බැව් සිය පියා-හීතලහාමි-ඉස්සර කියනවා කෙටිහාමිට මතක තිබූ නිසා ඔහු පොළෙන් එළඟිතෙල් මුලක් ද ගෙන ආවේ ය.

විටක සුළං පැමිණෙන්නේ බොහෝ ඈත පළාත්වල සිට ය. තවත් විටක ඒවා මේ අහලින් ම හට ගනී. පුංචි සුළං සුළි සේ සැකසී ගස් කොළං අවුස්සා දඟකාර විදිහට හමා යයි. මෙවේලේ පැමිණි සිහින් සුළඟ එසේ බොහෝ දුර සිට ආ එකක් නො වේ. එය වෙල් යායේ කුරුලු ලියද්ද දිහාවෙන් පටන් ගෙන, කුඹුක් ගස් පිස අවුත් පොල් පැළහැට්ටට ඉඟියක් දී කොස් ගස් මණ්ඩිය දිහාවට ගියේ ය. පොල්

අතුවල ඒ සෙලවෙන සෙවණැලි මිදූලට වැටෙන්නට විය.

හිරු පන්විල් කන්දට ළං ව හිඳී. කෙටිහාමිලා මිදූලේ තැන් තැන්වල ඉඳගෙන සිටියහ. ගුණාදරී ඉන්නේ කෙටිහාමිගේ දෙපා මත ඉහ තියාගෙන ය. එසේ ඉහ තියාගෙන හිඳින විට සිය පියාගේ දෙපාවලින් නැඟුණු මඩ සුවඳට ඇය ආසා කළා ය. පොල් අතුවල ඉරි සෙවණැලි ගුණාදරීගේ මුහුණ හරහා ගමන් කරන විදිහ දිහා කෙටිහාමි බලා සිටියේ ය. ඔහුට යළි පොල් ගසේ බිලිඳු විය සිහි විය. එය දොළේ ගසාගෙන වුත් හවුහරණක් බලාපොරොත්තුවෙන් කෙටල ගොල්ලේ රැඳී උන් දිනයේ හරියට ම පුංචි දාවිත් තරම් ඇත. අද හේ තරුණ වී මෙසේ සෙවණැලි රටා මවනවා පමණක් නො ව, බිම්කඩක් වෙන් කරන සීමා සලකුණක් තරමට ප්‍රබල ව හිඳී. ගුණාදරී දිය නෑ දා බින්දේ මේ ගසේ ගෙඩියකි. පිච්චිගේ සහාය ඇති ව පොල් ගෙඩිය බින්ද පසු බෑ දෙක පෙරළී ගොස් එකක් උඩු අතටත්, අනෙක මුණින් අතටත් වැටුණු විට හොඳට නරකට දෙකට ම කෙල්ල එක සේ මුහුණ දෙනු ඇති බව පිච්චි එදා කෙටිහාමිට කියා සිටියා ය. ඔවුහු එසේ බොහෝ වේලාවක් මිදූලේ ඉඳගෙන උන්හ. පිච්චි දාවිත්ව වම් තනයෙන් දකුණු තනයට මාරු කරන ගමන් සිහින් ව හඬ අවදි කළා ය.

"මං මේ වගක් උඹලට කිව්වෙ නෑ. ඊයේ රාත්තිරි මං දොට්ට පිළට යන්න ඕන ය කියලා එළියට බහින කොට බත් ලෑල්ල ළඟ උන්නු උගුඩුවා කළු ගුලියක් වාගේ හෙමින් හෙමින් කුඹුරට බැහැලා මහ නියර දිගේ කමත් ලියැද්ද පැත්තට ගියා. උගුඩුවා කුඹුරට බහින්නේ හොඳකට නෙවෙයි. මං දැනං උන්නා නස්පැත්තියක් වග. උඹලාට කිව්වෙ නෑ හිත කලබල කොරගනී කියලා..."

පිච්චි විකාරයෙන් වාගේ කියෙව්වා ය. කෙටිහාමිට වුවමනා වූයේ ටිකක් නිහඬ ව ම කල්පනා කිරීමට ය. එහෙත් දැඩි දුකක් දැනුණු වේලාවට ගුණාදරීට හටගන්නා සිහින් වෙව්ලිල්ල මෙවෙලේ ද හටගත්තෙන් කෙටිහාමි ඇගේ හිස අතගා කතා කරන්නට පටන් ගත්තේ ය.

"මහ පොළෝ දාතුව අප කර උඩ තියං ඉන්න එකක් යැ බොලල්ලා? අපි හැකි විට හැකි තැන වවනවා; ඒවා කනවා; පහරනවා. ඕක නො වෙයි ද සිද්ධ වෙන්නේ? අපි ඒ සංදියේදි දිග්ගම්පොත කෝරලේ ඉංදැද්දී වැපිරුවා යායක්. එව්ව අපි අස්සද්දපුවා නො වෙයි. කවුද අස්සැද්දුවේ කියලා වත් අපි දන්නේ නෑ. එවුවා පුරාණෙ උන්නු උතුම් උදවිය



අස්සද්දපුවා. අපි එව්වා හොයන්න ගියේ නෑ. ඒ උණාට ගිලින හැම බත් කටක් ගානෙ ම නොදන්නා ඒ උතුම් උදවියට පිං දුන්නා. අපි බඩගින්නේ ඉඳලා තියෙනවා බොලංලා අනන්තවත්. අද කුඹුරුවල අපිට යල් දෙකක් ඇර යලක් තමා වැඩ කොරන්න ලැබුණේ. ඒ කුඹුරුවල දැනුත් කවුරු-කවුරු හරි වැඩ කොරනවා ඇති. නානාප්පරකාර උදවිය බඩ පුරවා ගන්නවා ඇති. කවුරු මොනයම් ම කරමෙට කටයුතු කොළත් කුඹුරකින් සිද්ද වෙන පළමු කාරණේ නෙ කාගෙ හරි බඩගින්නක් නිවෙන-එක. දැං ඒ සංතෝසේ මදි ද නීක්කිලවුවෙ හුස්ම ඉහළ පහළ කොරන්න. මේ බිං අපේ තියා අර බලවත් උදවියගේ වත් නො වේ ය කියනවා නේ. මෙව්වා අයිති ඒරොප්පේ සුදු පාට උදවියට. සුවල්ප පිංකාර උදවිය' වෙන්න ඕනෑ ද? නැත්තං 'මේ තරං දුරක තියන මේ වන බූටෑවක් අයිති වේවි ද? අපිට අපේ ජීවිත තියනවා බොලල්ලා. ජීවත් වෙලා උන්නොත් තව ඔය වගේ කුඹුරු දහ-දොළහක් උණත් අස්සද්දන්න බැරි යැ? එවුවා කැලේට කොළේට නොගිහිං කවුරු කවුරු හරි වපුරලා බත් කනව නං, ඒක නෙවෙයි ද සිද්ද වෙන්න ඕනෑ...?"

ගුණාදරීගේ සිහින් වෙව්ලිලි ගතිය අඩු වී තිබේ. ඒ සමඟ ම ගල් අමුණු දෙසින් ඇසෙන්නට වූයේ මනංසිස්සෝ තරුණයාගේ දියබුං හඬ යි. ඒ හඬ හැම සවසක ම මෙසේ ඇසෙයි. ගුණාදරීගේ සිතේ ඒ හඬ විසින් උපද්දවනු ලැබුයේ පාළු, බිය මුසු හැඟීමකි. ඇය දෝතින් දෙකන් වසාගත්තා ය. ඇගේ හිත තවදුරටත් හැදෙන්නට කියා කෙටිහාමි අපූරු යෝජනාවක් කළේ ය. ඒ උදයේ කුඹුරු කෙටීමට එනවා යි කී මිනිසුන් ඒමට පෙර ගෙට යාබද තමන්ට ම කියා කොටසක් කොටා වෙන් කර තබාගැනීමට ය. එවිට ඒ හරිය කොටන්නට කිසිවෙකු එන එකක් නැත. ගුණාදරී ඊට එක පයින් කැමැති වූවා ය.

ඒ අනුව හිරු මුළුමනින් ම නිමී ගිය පසු පියා සහ දියණිය සඳ එළියේ ම පුරං කොටන්නට වූ හ. මුලින් උදැල්ල තබා නියර සීමාව සිතේ සලකුණු කරගන්නා ගුණාදරී කිසිදු ආයාසයකින් තොර ව කොටාගෙන යයි. පෙරළන සෑම පස් පිඩැල්ලක් ම ඉපනැල්ල වසාගෙන මුණින් අත හැරුණේ ඊළඟ කන්නය පිළිබඳ බලාපොරොත්තු සිතිනි.

පිච්චි දාවිත් වඩාගෙන කිරි පොවමින් කඩුල්ල අසල ලී කොටයේ ඉඳගෙන උන්නා ය. පියාගේ සහ දියණියගේ පැහැදිලි දේහයාවෝ සඳ

එළියට ඇතට පෙනෙති. එදා බණ දා සුමංගල හිමිපාණන් කියා දුන් බෝධිසත්ත්ව ගුණයට නොදෙවැනි ව පිච්චිගේ සිතේ නැගී සිටින්නට වූයේ තම මනුස්සයාගේ ලෝකය යි. ඔහුගේ සරීරය තුළ ඉන්නා ඒ උතුම් දෙවියා බැහැදක වැඳ නමස්කාර කිරීමට උරුමකම් කී ලොව වෙසෙන එක ම පිංවන්තී තමා වීම පිළිබඳ ඇගේ සිතේ වූ සන්තෝෂය දෙවැනි වූවා නම් ඒ ඉඹුල් ගහට ඉහළ අහසේ දිලිසෙමින් තිබුණු සඳට පමණකි.

දාවිත් කිරි බී හොඳට ම නිදි ය. පියා සහ දියණිය හැල්මේ කුඹුරු කොටති. නිහඬ රාත්‍රිය තුළ පිච්චිට ඔවුන්ගේ උදලු සද්දවලට අමතර ව ඔවුන් තුළින් නැගුණු සිහින් හතිබර සුසුම් සද්ද ද ඇසුණේ ය.

මොහොතකින් තමන් කොටන තැනට යාබද ලියැද්දකට බැස කුඹුරු කොටන පිච්චි දුටු කල කෙටිහාමි කලබල වී කෙටීම නතර කර කතා කළේ ය.

"පිච්චියේ... උඹලට මේ මක් වෙලා ද? කෝ දාවිත්?"

පිච්චි පිටුපස හැරී චීත්ත රෙද්දකින් උරේ ගැටගසා එල්ලා ඉන්නා පුංචි එකා පෙන්වා යළි කොටන්නට විය.

* * *

"ආං බලාපල්ලා එක ගොයියෙක්ගේ ඇඟ පුරා ඉහිං කනිං මඩ. කලබලේ විතරයි. හෙහ්... හෙහ්... ආ... එක ගොයියෙක් හරි කරමෙට කුඹුර කොටනවා. උංදෑ කොටන්න කලියෙං අද්දර සුද්ද කොළා. හොඳ ගොයියෙක්. හැමෝම ගොවිතැනට පුරුදුකාරයෝ නො වෙයි. අර අර තව ගොයියෙක් කොටනව ලවක් දෙවක් නැතිව. නියරවල් ටිකත් එක්ක විනාස කොරලා දාවි ද මං දන්නෑ... මයෙ අම්මේ කලබලේ..."

බලවතුන් කී පරිදි පසු දා හතර අතින් එළිය වැටෙද්දී පෝරු උදලු රැගත් මිනිසුන් ස දෙනෙකු පමණ විත් තමන්ට හිතු හිතු තැන්වලින් කුඹුරට බැස පුරන් කොටන්නට වූ වේලේ එසේ කඩුල්ල අසල කොටයේ ඉඳගෙන කෙටිහාමි තමා දකින දේවල් සිනා සෙමින් ගුණාදරීට විස්තර කළේ ය. ගුණාදරී ඉන්නේ හිත හොඳකින්



නොවන වග පෙනේ.

කෝඳුරුහාමි ඔහුගේ ලොකු පුතු මනංසිස්ඤෝ සමඟ තමන්ගේ කුඹුරට බැස කුඹුරු කොටන අයුරු පෙනුණේ ය. තමන්ට වුවමනා යැයි සිතිය හැකි ප්‍රමාණයක් රාත්‍රියේ දී ම කොටා නිම කරගෙන තිබුණු නිසා කෙටිහාමිලාට එදින යෙදී තිබුණේ සිද්ද වෙන කටයුතු දිහා බලා හිඳීම පමණි. දවල් වෙද්දී කෙටිහාමිට අදහසක් ආවෙන් ඔහු පිච්චිට කතා කළේ ය.

"ඒ උදවියට දවල් කෑමක් ගැන නිච්චියක් නෑ වාගේ. අහල ගංවල මිනිස්සු වෙන්නැති. ආයේ ගෙවල්වලට ගිහිං කාලා එන්නයැ? ඔන්න ඔහෙ ඔය හාල් ටිකක් ළිප තියාපල්ලා ඒ උදවියටත් එක්ක ම. ඒ උදවිය මහංසි වෙද්දී අපට ගෙට වෙලා බත් කෑ හැකි යැ..."

ඉර මුදුන් වෙද්දී රවුමට කපන ලද කොළපත් සයක් සමඟ බත් මුට්ටිය, පොලොස් මැල්ලුම සහ කබරොස්සා දළු වෑංජනය පොල් ගස මුල තැබූ කෙටිහාමි ගොවීන්ට කෑමට ආරාධනා කළේ ය. මිනිසුන් විත් කෑම කන්නට වූ අතර, බත් පත අතට ගත් එක් පුද්ගලයෙකු පමණක් කෑමට පෙර බත් පතට වැන්ද අයුරු කෙටිහාමි දුටුවේ ය. ඒ කුඹුරු කෙටීමට පෙර අද්දර සුද්ද කළ ගොවියා ය. කෙටිහාමි මිනිසුන්ගෙන් විස්තර අසන්නට ගියේ නැත. මිනිසුන්ට ද එසේ විස්තර කීමට උවමනාවක් නොතිබිණි. ඔවුන් එකිනෙකා අතර ද ඒ හැටි හැඳුනුම්කමක් තිබුණා යැ යි සිතිය නොහැකි ය. පිච්චි දාවිත් වඩාගෙන, ගුණාදරී ද ළං කරගෙන කඩුල්ල අසල සිට ඒ දෙස බලාගෙන සිටියා ය. මිනිසුන් බත් මුට්ටිය ම හිස් කර වක්කඩෙන් වතුර බී කොළපත් සෝදා තබා යළි කුඹුරට බැස්ස අතර, කෙටිහාමිගේ අවධානයට ලක් වූ ඒ ගොවියා පමණක් නතර වී, බත් පත උදෙසා කෙටිහාමිට පිං දුන්නේ ය.

"පිං සිද්ධ වෙනවා තමුන්නැහෙට. උදේ බෙලිමල් පොල්කටුව බීලා ආ ගමන් නේ. කාලයක් නෑ ගෙදර ගිහිං එන්න. එක හුස්මට වැඩ කොළා... මං ගොරකහාමි, තියඹරාවත්තේ... අපිත් අඳ ගොයියෝ තමා. පිං සිද්ධ වෙනවා ඔය ඇත්තට... මඩතවාලු හාල් නේද ඒ...?"

කෙටිහාමි "ඔව්" යි කීවේ ය.

"හ්ම්... කබරොස්සා දළු වෑංජනේ හදන්න ඕනි එහෙම ගොරක තියලා හිඳෙන්න තමා... පංකාදු යි... පිං සිද්ධ වෙනවා..."

අමුණ මතට සැපත් වූයේ ලී පුටුවක වාඩි වීගෙන ය. හැඩිදැඩි මිනිස්සු සිවුදෙනෙක් ලී පුටුව දෙපස ගැටගැසූ ලී දඬු දෙකෙන් පුටුව කර තබා ගෙන පැමිණියහ. ඒ සමඟ ආරච්චි තැන, රතු නිලමේ, ආරච්චිගේ අතවැසියෝ දෙතුන් දෙනෙක් සහ සුදු උත්තමයාගේ අතවැසියා යැ යි සිතිය හැකි අය ද වූ හ. පිරිස පෙරහරක සිරියෙන් ගල් අමුණ මතට පැමිණියහ. බලවත් සුදු ඒජන්තවරයා කලිසම් කබා හැඳ, පාදවලට හම් සපත්තු දමා, අපූරු හම් තොප්පියක් ද හිස ලාගෙන සිටියි. ආරච්චි තැන ඉන්නේ ද සිය රාජකාරි ඇඳුමෙන් ය. සුදු ඒජන්තවරයා පුටුවෙන් නැගී සිට, ගල් අමුණ මත හිටගෙන ඉතා ආසාවෙන් හාත්පස බලන්නට විය. ඔහු උස-මහත හතර රියන් පුද්ගලයෙකි. පිරිස දෙගිඩියාවෙන් පසු වූයේ තමන් ඔහුගේ තියුණු බැල්මට හසු වේ දෝ යි යන, හේතුවක් නැති බියකින් ය. ඒජන්තවරයා ඉතා ආසාවෙන් යාය දෙස බලා කෑඩිච්චි සිංහලෙන් කතා කරන්නට විය.

"වෙරි ගුඩ් ආරච්චි, වෙරි ගුඩ්...! ගල් බන්ට් ඇන්ඩ් ෆැඩි ෆීල්ඩ්... වෙරි ගුඩ්... යුඹ උසස් මිනිහා ආරච්චි... යුඹ වගේ මිනිහාට අපේ ගවර්න්මන්ට්-එක කැමැති යි. ලවුනේරිස්... ගනිං මගේ නෝට් බුක්..."

ඒජන්තවරයාගේ අතවැසියා තමා අත වූ රෙදි බෑගයෙන් හම් කම්බ සහිත පොතක් සහ පැන්සලක් ගෙන, හතරට නැමී, එය දෝතින් ම ඒජන්තවරයාට දුන්නේ ය. ආරච්චි තැන තමා අත වූ රිදී මිට සහිත බස්තමට වෙදගිල්ලේ වූ මුද්දෙන් සිහින් තට්ටුවක් දමමින් කරබාගෙන ම බලා සිටියේ ය. ඔහු සිනා සුණේ ඒජන්තවරයා තමා දෙස බලන කල පමණි. ඒජන්තවරයා සිය පොතේ යමක් සටහන් කරගත්තේ ය. ගල් අමුණ පහළ උන් පිරිස බලා ඉන්නේ දැඩි විමතියකින් ය.

"මං මේක මගේ ඩියුටි රිපෝට්-එකේ ලියලා යවනවා ආරච්චි. අපේ ගවර්න්මන්ට්-එක සතුටු වෙනවා. යුඹ කුඹුරු හදහදා මිනිස්සුන්ලට දෙනවා ආරච්චි. මං මේ ගල් බන්ට්-එක හදන්න සිමෙන්ති දෙනවා. යුඹ ක්ලෙවර් මෑන්. අපේ ගවර්න්මන්ට්-එක හොයනවා යුඹ වගේ මිනිස්සුලා..."

මිනිස්සු කටවල් ඇරගෙන ඒ අරුම පුදුම භාෂාව කියන අපූරු බලාගෙන සිටියහ. තමන්ට අනතුරක් නොවී යම් කිසි වාසියක් අත් වනු ඇතැයි ඒකාන්තයෙන් ම දැනගත් මිනිසුන් දැන් පසුවන්නේ සතුටකින් බැව් පෙනේ. පිච්චිට යමක් වැටහී තිබේ. ඇය තොල්



දෙක තද කරගෙන කෙටිහාමි දෙස බැලුවා ය; අනතුරු ව සැට්ට කරේ දැස් පිසදාගත්තා ය. කෙටිහාමි පිච්චිට පෙනෙන්නට සිහින් සිනාවක් නැගීමට උත්සාහ කළත් එය සාර්ථක වූයේ නැත. ගුණාදරීට සිය මවුගේ සිහින් සුසුමක හඬ ඇසිණි. එපමණක් නො ව, තමාගේ උරහිසේ තිබූ පියාගේ වමත යන්තම් ගැහෙනු ද දැනිණි. නොයිවසිල්ල සමඟ ඇයට ඉබේ ම කෑගැසුණේ ය.

"අ... අපේ කුඹුර..."

ඒ හඬට මිනිස්සු හැරී බැලූ හ. යළි ඔවුන් ඉවත බලාගත්තේ මෝඩ කෙල්ලකුගේ තැනට නුසුදුසු නොහොබිනා කතාවක් ය යන හැඟීමකින් මෙනි. ඒජන්තවරයාට ඒ පිළිබඳ ව වගක් නොවූ අතර ඔහු තවත් මොන මොනවා ද සටහන් කරමින් හිඳී. ගුණාදරීගේ හඬ කන වැකුණු රතු නිලමේත්, ආරච්චිත් මුහුණට මුහුණ බලාගත්හ. රතු නිලමේ ඇස් නපුරු කර, වරක් කෙටිහාමි දෙස බැලුවේ ය. කෙටිහාමි වහා එක් අතකින් ගුණාදරීගේ කට වසා, අනිත් අතින් ඇගේ හිස අතගා, ඇය අස්වසා රතු නිලමේගෙන් සමාව අයදින විදිහේ බැගෑපත් බැල්මක් හෙළුවේ ය. ගාර්ලිස් ආරච්චි රතු නිලමේ දෙස බැලුවේ ය. කතා කිරීමට අවකාශයක් එතැන නොවූයෙන් රතු නිලමේගේ බැල්මමෙහි වූයේ නිස්කාන්සුවේ මෙතැන රාජකාරිය කොරගෙන යන්නැ යි වැනි ඇඟවීමකි. යම් ආරෝවක් ඇත් නම් ඊට සුදුසු පියවර පසු ව සිදු කළ හැකි ය යන ඉඟියක් ඒ බැල්මේ ම විය. ඔවුන්ගේ රුදුරු මුහුණුවලට යළි සැහැල්ලුව ආරූඪ විය. බලවත් ඒජන්තවරයා ආරච්චිට තව මොන මොනවා දෝ කියා පුටුවේ ඉඳගෙන මිනිස් කර පිටින් නික්ම යන්නට වූ අතර, ඉතිරි පිරිස ද අමුණ පහළ උන් ගොවියෝ ද පෙරහරක් සේ සැකසී ඒ මඟ පසුපසින් ගමන් කරන්නට වූ හ. කෙටිහාමිලා උන් තැන ම ඇඳී උන්හ.

කෙටිහාමි සිතින් අනුමාන කළා හරියට ම හරි ය. පිරිස එහා මෙහා වූ තැන රතු නිලමේ ඔවුන් අසලට එනු පෙනුණේ ය. ඔවුන් සතු බලසම්පන්නකම මත පහරක් වදින්නටත් පිළිවන. කෙටිහාමි බිය වී ගල්ගැසී බලා සිටියේ ය. පිච්චි ගුණාදරී තම තුරුලට ළං කරගත්තා ය. ඔවුන් අසලට ආ රතු නිලමේ පමණට වඩා හයියෙන් කෙටිහාමිගේ පපුපට ඇඟිල්ලෙන් ඇන කතා කළේ ය.

"තොපිට මෙච්චා සෙල්ලං වගේ පෙනුණට මෙච්චා මහ බලගතු රාජකාරි වැඩ. තොපි රොත්ත පිටින් කුදලාන ගිහිල්ලා දඬුකඳේ

ගහන්න ඉස්සරං මේං මේ බකමූණිට කියාදීපිය ඒ වග... අපේ කුඹුර...? කොහොම ද බල්ලනේ, තොපේ උණේ...?"

'ළමයා නොතේරුම්කමට කී දෙයක්' යැයි කියා කාරණය අස්වැසීමට උවමනා වුවත් කෙටිහාමිට වචන පිට කිරීමට තරම් ශක්තියක් නොවුණි. ඔහුට මුත්‍ර පිටවෙන්නට ආවේ ය. පිච්චිට හැඬුම් පිටවිණි.

"අනේ රත්තරං හාමුදුරුවනේ... අපිට අරියාදු කොරන්න එපා. කෙල්ලගෙ දැහැ පේන්නෑ. අපි ගෙදර ගිහිං ඒකිට තරවටු කොරන්නං... අනේ අපිට බණින්න එපා."

ගුණාදරී වේගයෙන් හුස්ම ඉහළ පහළ හෙළයි. පිච්චිගේ විලාපය රතු නිලමේට තවත් කරදරයක් විය.

"නවත්තාගනිං ඔය අඳෝනාව ගෑනියේ... තොපි කොළොන්නා කෝරලෙං පිටුවහල් කොරපු හැත්තක් නේද? සිහියේ තියාගනියවු... මෙහෙ ඉන්නව නං අපි කියන විදියට තමා... එහෙම බැයි නං තොපිට ආයේ යන්න අතක් නෑ යි කියන-එකත් සිහියේ තියාගනියවු..."

* * *

පසුදා සවස අමුණ අද්දරට සියලු ගොවීන් කැඳවූ රතු නිලමේ වැඩි විස්තර කියා සිටියේ ය.

"උඹලා හැම එකෙක් ම, එකියක් ම ඔළු ගෙඩිවලට ගන්න ඕනි මේ කාරණේ. ඊයෙ මහ ඒජන්ත උන්නාන්සේ යන්න කලියෙන් වලව්වේ දී මේ ගැන කතිකා කොරලයි තීරණේ ගත්තේ. ඊයෙ පුරං කොටන්න ආ නාඹුලුවේ ඇලඩිංහාමිට අර ඉඹුල් ගහ එක-එල්ලේ ලියැදි පේළිය වැඩ කොරගන්න කීවා... එතැනිං ගියා ම මයේ ලියැදි පෙළට පහළින් තියෙන ලියැදි දහය-දොළහ සමයංලන්දේ පාළුවා වැඩ කොරගත්තාවේ... තියඹරාවත්තෙං ආ ගොරකාහාමි ආං අර දොළ එකඑල්ලේ ලියැදි පෙළ... ඔය ගොඩපර ගහ යටින් තියන ලියැදි ටික දිවුරුම්පොළ ගෙබෝහාමි වැඩ කොරාගනී. කෝඳුරුවට හරි නෙ...?"

කෝඳුරුහාමි හතරට නැමී ඇල වී "එහෙමයි" කීවේ ය. රතු නිලමේ



රොයිනා දෙස වරක් බලයි. රොයිනා පසු වන්නේ රතු නිලමේගේ තේජස පිළිබඳ ආඩම්බරයෙන් මෙනි. ඔහු යළිත් කතා කරයි.

"එළමල්පෙ රැයිනිංහාමි... උඹ වැඩ කොරාගං අර කමත් ලියැද්ද යටින් තියන ලියැදි පෙළ... අර දියබෙරලියා තියෙන මහ ලියැදි හත අට තෙරුන්නාන්සේගම ඉඳන් ආ මතෙස්සිඤ්ඤෝ උඹට යි..."

රතු නිලමේ මිනිසුන් අතර උන් කෙටිහාමි දෙස බලයි.

"මොක්ක ද උඹගෙ නම කිව්වෙ?"

කෙටිහාමි සිටියේ බිම බලාගෙන ය. ඔහු අසල ඔහුට මුවා වී පිච්චි ද ගුණාදරී ද සිටිති.

"මං අහන්නේ උඹගෙන්, මිනිහෝ..."

ඔහු එසේ සැරවෙද්දී කෙටිහාමි ගැස්සී බැලුවේ ය.

"කෙ... කෙටිහාමි..."

"හ්ම්... උඹ ඒ කොටාගත්තු ටික ම වැඩ කොරාගනිං... විසේස ම කාරණාව මතක තියාගනිල්ලා... උඹලා දැං මේ වැඩ කොරන්නේ අඳේට... අස්වනු කපා පෑගුවා ම හරි දෙකෙන්-පංගුවක් පාවරේ දී ම මැනලා වලව්වට ගිහිං දෙන්න ඕන... ආරච්චි උන්නාන්සේ මනාප කාලයක් උඹලට මේ කුඹුරු වැඩ කොරාගන්න පුළුවනි. උන්නාන්සේ රාජකාරි අතරතුර හැකි හැම වෙලාවක ම කුඹුරු වැඩ ගැන හොයලා බලයි... අමුණේ රාජකාරි මට පවරල යි තියන්නේ... ඒ හැම කාරණයක් ම දැං මහ ඒජන්ත උන්නාන්සේ කඩදාසි පොතේ සටහන් කොරලා හමාර යි... එව්වා දැං තීන්දු යි..."

# 10

ඉපනැල්ලෙන් නැඟෙන්නේ කර වුණු කාටුව පුසුඹකි. ගුණාදරී ඉපනැල්ල ඔස්සේ යන්නේ ගොඩපර ගහ ලියැද්ද කෙළවර වූ දරාඬ දිහාවට ය. මේ දිගු පැවිල්ලට පොතුවිල් දොළේ වතුර හොඳට ම සිඳී ගොස් ය. ලියැදි ඉරිතළා ගොස් ඇත. උකුස්සෙකු ඇත අහසේ කෑගසනු ඇසේ. ගොරකහාමිගේ පියා වන බඩරා ආතා කියා දුන් පටාචාරා කතාවේ පොඩි ළමයා රැගෙන ගිය නැහැදිච්ච උකුස්සා ගුණාදරීට සිහි වේ. ඇයට බිය සිතිණි. ඇය මේ යන්නේ වේල්ලේ වතුර එනවා ද බලා, එනවා නම් දරාඬ පෑදීමට ය. ඇය දුන් කාලයක් තිස්සේ උදය පැයේ මෙසේ වෙලට බැස හුරු-පුරුදු නියර ඔස්සේ දරාඬ දිහාවට යයි. කෙටිහාමිලා එපා කීවාට ඇය අසන්නේ නැත.

මේ පැවිල්ලට කුඹුක් හැර අනෙකුත් බොහෝ ගස් දුක් මුසු විය. වැස්සක කිසිඳු සලකුණක් මේ කර සුළඟේ කිසිඳු තැනක නො වේ. සමහර ගෙවල දුනටමත් වී අටු සිඳී ගොස් ඇත. නාඹුලුවේ ඇලඩිංහාමිලා තමන්ට වී මලු දෙකක් ණය බැව් ගුණාදරීට කල්පනා විය.

රතු නිලමේගේ කුඹුරේ පොල් ගස අසලින් යද්දී ඇයට ඒ අප්‍රියජනක රා ගඳ දැනෙන්නට විය. රතු නිලමේගේ අනුදැනුම මත ඒ පොල් ගසේ දුන් මනංසිඤ්ඤෝ මලක් කපයි. ඔහු පාළුවා සමඟ එකතු වී සවසට රා බොයි. එතැනින් යන ගමන් ඇය නාසය හකුළුවාගත්තා ය. ඇය එතැනින් රුයිනිංහාමිලාගේ කුඹුරට ගොඩ වී ඒ ඔස්සේ ගමන් කළා ය. එසේ අවුත් ඇය සුපුරුදු හුරුව ඔස්සේ ගොඩපර ගහ ලියැද්ද ඉහත්තාවේ ඇති දරාඬ අසලට කිට්ටු වූවා ය. වේල්ලට බැසගත් ගුණාදරී සිය දෙපාවලින් වේල්ල පිරික්සී ය. එහෙත් කිසිදු තෙතක සේයාවක් එහි නො විණි. තණකොළ පවා කර වී ගොස් ය. ඇයට දැනුණේ මහා මූසල හැඟීමකි. තව මාසයක් හමාරක් මෙසේ පැවුවහොත් සියල්ලන්ට ම බඩගින්නේ මැරෙන්නට වනු ඇතැයි පියා කී අයුරු ඇයට සිහි විය. ගෙදර ඇත්තේ තව වී මලු දෙකක් පමණි.



ගුණාදරී අහසට හිස යොමු කළා ය. ආලෝකය යැයි ඇය හඳුනාගත් සිතිවිල්ල තද අවු රස්නය සමඟ මුහුණට දැනිණි. ඒ සිතිවිල්ල සමඟ මුසු වූ යම් කිසි භයානක සුළං ධාරාවක් තමා රැගෙන යන්නට එන්නා සේ ඉතා දුරින් දැනුණු හැඟීම ඔස්සේ ඇය කන් දුන්නා ය. ඇස් නොපෙනීමේ අඩුවක් ඇයට කිසි දා දැනී තිබුණේ නැත. එහෙත් මොකක් දෝ අමුතු බියක් ඇය අසල සැම දා ම හොල්මන් කළේ ය. මිදුලේ ලෑල්ලට බත් කන්නට එන පුංචි කුරුල්ලන්ට, පුංචි ලෙහෙනුන්ට හැරෙන්නට අන් සෑම සත්ත්වයෙකුට ම ඇය දැක්වූයේ මහා බියකි. උලමා, බකමූණා කෑගසන විට දී මෙන් ම සවස මනංසිඤ්ඤෝ අමුණු වලේ දියබුං ගසන විට දී ද ඇය ගෙට වැදී දෝතින් දෙකන් වසාගත්තා ය. මහ වනයෙන් සුළඟ සමඟ මතු වුණු මහ විශාල සත්ත්වයෙකු යම් දිනක තමාගේ ඇඟට පැන තමා කා හප කර දමාවි යැ යි අම්මා හෝ අප්පුච්චා ළඟ නැති සෑම ඇසිල්ලක දී ම ඇයට සිතිණි. මේ අමුතු මොහොතේ ද ඇයට ඇසුණේ සිහින් කසුකුසු, හීල්ලුම් ජාලයකින් සැදුම් ලත් භයානක හැඟීමකි. විශාල පාද ප්‍රමාණයක් බිම ගැටී, වියළුණු කෙට්ටු ඉපල් කැඩී යනු වැනි සද්ද ද ඇසෙන්නට වූයෙන් ඇය ගෙබෝ හාමිලාගේ කුඹුරේ ඉපනැල්ල ඔස්සේ දුවන්නට විය. ඇයගේ අදහස ගල් අමුණු පැත්තෙන් ගොඩ වී ගෙවල් මණ්ඩිය දෙසට යෑම ය. අමුණ දෙසට කිට්ටු වෙද්දී ඇයට දැනුණේ සැවැන්දරා, කළු අගිල් කල්ක පුසුඹ යි. අමුණේ ඉතිරි වූ වතුර වළේ මදුහාමි දිය නානවා ඇතැ යි ගුණාදරී අනුමාන කළා ය.

"මදුහාමියේ උඹ නේද ඔතන...?"

මදුහාමිගේ කටහඬ ඇසුණේ ය.

"ඔව්. මං මේ පුසුඹ කල්ක ඇඟ ගාගෙන අමුණ උඩ ඉන්නේ. නාගන්න වතුර හිඟ යි බං. උඹත් එනව ද නාන්න...?"

"උලවු පුසුඹ කල්කයක් නෙමෙයි බොලං... මිනිස්සු මේ බඩගින්නේ මැරෙන්න යනවා... බොට සුවඳ කල්ක... උඹට දැනෙනව ද මදුහාමියේ යං අමුත්තක්...?"

"ඒ මොකක් ද?"

මදුහාමි පුදුම වී අසයි.

"ගොඩපර ලියැද්ද පැත්තෙන් යං අමුත්තක්..."

මදුහාමි මොහොතක් නිහඬ ව හිඳ, බියට පත් වූ වෙව්ලන සිතින් කතා කරන්නට වූවා ය.

"හත්ඉළවුවයි ගුණාදරියේ. උඹ කිව්වා හරි. යමං ගෙදර..."

ගුණාදරී බියට පත් ව හිඳී.

"ඇ... ඇයි...?"

මදුහාමි ගේ දෙසට දුවන්නට වූ අතර, ගුණාදරී ද පුරුදු දෙවැට ඔස්සේ ගේ දෙසට දිව යන්නට වූවා ය. ඇය කඩුල්ල අසල දී කළ කෑගැසීමට අනුව වේවැල් කූඩයක් වියමින් උන් කෙටිහාමි කඩුල්ල අසලට දිව ආවේ ය. ගුණාදරී වහා පියාගේ සරම කොනක් අල්ලාගෙන ඔහුට ළං වූවා ය. කෙටිහාමි බියට පත් වී බලා හිඳින්නට විය. ගේ තුළ සිට පිච්චි ද කඩුල්ල අසලට ආවා ය. වෙල් යායට බැසගත් දෙතුන් සියයක් පමණ පිරිසක් ඒ ඔස්සේ තම ගේ දෙසට එනු පෙනිණ.

"... හත්ඉළවුවයි..." යි කෙටිහාමිට කියවිණ.

දිග කලිසම් හැඳ කබා, තොප්පි දමාගත් තරුණ සුදු මිනිසුන් දෙදෙනෙකු සහ සරම් බැනියම් හැඳ ජටා බැඳගත් මිනිසුන් හතර පස් දෙනෙකු වෙන් ව හඳුනාගත හැකි ය. අනෙක් පිරිස කළු ම කළු පාට කෙට්ටු මිනිස්සු සහ ගැහැනු ය. කළු පිරිමින් සරම් කෙටි පමණක් ඇඳ ඉන්නා අතර, ගැහැනු වැරහැලි ව ගිය රෙදි හැට්ට ඇඳ හිඳිති. උන්ගේ අත රෙදි උර තිබේ. සමහරු ළමයි පැටවුන් ද වඩාගෙන ය. උන් කතා කරන වචන ගුමුගුමුවක් වී අදෝනාවක ස්වරයකින් කවලම් වී ඇසෙයි. ඉපනැල්ලෙන් දොළ අසලට ආ පිරිස පිස්සුවෙන් මෙන් හැසිරෙන්නට වූ හ. ඔවුහු ඉහළට අත් ඔසවා දෙවියන්ට කන්නලවු කරන්නට වූ හ.

"දොළ බොර කොරගෙන මඩ වතුර බොනවා..."

කෙටිහාමිට කියවිණ. පිච්චි ද බියට පත් වී බලාගෙන හිඳී. ගුණාදරී තව මදක් සිය පියාට ළං වුණා ය. පිස්සුවෙන් මෙන් බොර වතුර බී, ඇගේ ද මඩ තවරාගත් පිරිස් යළි අත් ඉහළට ඔසවා හඬමින් දෙවියන්ට මොන-මොනවා දෝ කියනු පෙනිණි.



"ඔන්න මේ පැත්තට එනවා... උඹලා පලයල්ලා ගෙට..."

සරම් බැනියම් හැඳි මිනිසුන්ගේ විධානය මත පිරිස කෙටිහාමිලාගේ කඩුල්ල දෙසට එන්නට වූ හ. පිච්චි ගුණාදරී ද කැටුව ගෙතුළට ගියා ය. ඕනෑ ම දේකට මුහුණ දීමේ බලාපොරොත්තුවෙන් කෙටිහාමි කඩුල්ල අසල ම රැඳී සිටියේ ය. කඩුල්ල අසලට පැමිණි පිරිස් ඉපනැල්ලේ නතර වූ අතර, සරම බැනියම හැඳ උන් මිනිසෙක් ඉදිරියට ආවේ ය. එසේ ඉදිරියට පැමිණි මිනිසා සුදු මිනිසුන් දෙදෙනා දෙස බලා, කතා කරන්නැ යි යන සංඥාවක් ලත් පසු කතා කරන්නට විය.

"ගමරාල... මේ වන මූකලානෙන් ඉහළට යන පාරක් තියෙන බව උඹ දන්නව ද?"

පිච්චි දොර අස්සෙන් හිස දමා බලාගෙන හිඳී.

"කැලෑ සත්තු ගමන් කොරන අඩි පාරවල් තමා... කොයි ඉසවුවට ද ආයිබංඩ?"

"රක්වාන් කඳුකරේට යන්න..."

"අපි ඔය සිරිපාද කන්ද දැක-බලාගන්න අරඹ ඉහත්තාවට නගිනවා. ඒ හරියේ අඩි පාරවල් පෙනිලා තියෙනවා උඩහට යන්න. මං හිතන්නේ රක්වාන් කඳු පැත්තට තමා. ඇයි මාදම්පේ ඉසවුවෙන් නේද පාර තියෙනවා කියන්නේ...?"

"ඒ පාරවල් සේරම කඩලා පාලං තනනවා මේ සුදු මහත්තුරුන්ගේ ආංඩුවෙන්. මේ මාදම්පෙ වත්තෙ තේ හිටෝන සුදු මහත්තුරු... මුං මුහුදෙන් එපිට ඉන්දියා රටෙං වතු වැඩට ගේන දෙමෙල්ලු."

ඔහු පිරිස දෙස බලා අප්‍රිය කරන ඉරියවුවකින් කතා කරන්නට විය.

"උං කියන දේ අපිට තේරෙන්නැ. අපි කියන දේ උංට තේරෙන්නැ. ලෙඩ වසංගත. අපිව කන්න ආ කරුමක්කාර කාලකණ්ණි."

ඒ මිනිස්සු හිටගෙන සිටින්න වත් පණ නැති කල ඉපනැල්ලේ තැන්-තැන්වල වාඩි වන්නට වූ හ. කෙට්ටු ගැහැනියකගේ තනයක එල්ලුණ ළමයෙක් කිරි නැතියෙන් ළතෝනි දෙයි. උන්ගේ මුහුණු අසරණ බවින් පිරී ගොස් ඇත. දෑස්වල කඳුළු පිරිලා ය. ඒවායේ

ඇත්තේ යමක් ඉල්ලන විදියේ බැල්මකි. කෙටිහාමිට මහත් දුකක් ඇති වුණේ ය. මේ මිනිසුන්ගෙන් තමන්ගේ ජීවිතවලට කිසිඳු හානියක් නොමැති බැව් දත් කෙටිහාමි තරමක් නිදහසේ කතා කරන්නට විය.

"අනේ මයෙ අප්පේ ආයිබොංඩ. කවුරු උණත් මනුස්සයො නේ ද? ඇරත් අපේ බුදුහාමුදුරුවන්ගෙ රටේ මිනිස්සු නේද? අනේ කිව්වට නාකට හිතන්න එපා, මේ උදවිය හාමත් වෙලා ඉන්නේ..."

මිනිසා එවිට කඩුල්ල පැන කෙටිහාමි අසලට විත් කතා කරන්නට විය.

"ඒ කාලකණ්ණි විතර ද ගමරාලට පේන්නේ? උංගේ කරුම හින්දා අපිත් වරු ගණන් බඩගින්නේ. මගින් මගට මුං එකා දෙන්නා මැරෙනවා. මළකුණු වළලන්නත් ඕනි අපි. මුං සේරම මැරිලා යනව නං එකක්..."

කෙටිහාමි ඒ මිනිසුන් දෙස බැලුවේ ය. මිනිස්සු අන්ත අසරණ ලෙස කෙටිහාමි දෙස බලාගෙන සිටිති. මිනිසා දිගට ම කතා කරයි.

"මේ සුදු මහත්තුරු නිකං දිරාපු ලී පතුරු වාගේ එක එක ජාති කන ගමං, හිංගල අපි දෙ-තුන් දෙනාටත් දික්කොරනවා සෙල්ලමට වාගේ. ඕව්වා කාලා ඇතෑ, ගමරාල අපිත් හොඳට ගොවිතැන් කොරාපු උදවිය. මගේ අප්පුච්චා උන්නු වෙල් විදානේ කෙනෙක්. තුන් වේල බඩ පිරෙන්න බත් කාපු මිනිස්සු අපි. දැං ඉතිං වතු රාජකාරි..."

කෙටිහාමි ගේ දෙස බැලුවේ ය. පෙර සේ ම පිච්චි ළමයින් ද ළං කරගෙන දොරෙන් එබී බලාගෙන හිඳී. අහල ගෙවල්වල ගැනු පිරිමි සහ ළමයි කිහිප දෙනෙකු ද කුඹුරු යායට බැස බලා හිඳිනු කෙටිහාමි දුටුවේ ය. කෙටිහාමිට අදහසක් ආවේ ය. මේ කාලසීමාව කොතරම් දුෂ්කර වුවත් ඔහු ඒ ගැන කතා කිරීමට සිතුවේ ය.

"ඩිංගිත්තක් ඉන්න ඇහැකි නං බත් කටක් පිහා දෙන්න හැකි යි. මේ පැවිල්ල හංදා වී හිගයක් තියෙනවා. අඩුපාඩුවට පොළොස් ගැටවත් හොයාගමු. තියෙන හැටියට කමු..."

මිනිසා විස්මය පිරි මුවින් ඇස් දෙක ලොකු කරගෙන බැලුවේ ය.

"හිංගල අපිට විතර ද?"

"මයෙ අප්පේ ආයිබංඩ... පංගු පේරු කොරලා දෙතැකි ද කන



කැමක්...?"

සිංහල මිනිස්සු මුහුණට මුහුණ බලාගති.

"ඔහොම ඉන්නවා ගමරාල. සුදු මහත්තුරුන්ගෙන් අහල ඉන්න එපැ යි කොයික කොරන්නත් කලිං..."

එසේ කියා සුදු මහත්තුරුන් දෙදෙනා ළඟට ගිය මිනිසා දෙකට නැමී අතිං-පයිං යමක් විමසන අයුරුත් ගියාටත් වඩා වේගයෙන් ආපසු එන අයුරුත් කෙටිහාමි බලාගෙන සිටියේ ය.

"සුදු මහත්තුරු කියනව හාලු..."

එසේ කී මිනිසා මහත් පිබිදීමකින් මිනිසුන් වෙත හැරී කෑගසන්නට විය.

"අඩෝ සාපාඩේ... සාපාඩේ..."

ඒ මිනිසුන් පිරිස අතර අප්‍රමාණ විස්මය මුසු සතුටක් හටගත්තේ ය. ඔවුහු නැගී සිට අත් ඉහළට ඔසවා හඬමින් දෙවියන්ට මොන මොනව දෝ කියන්නට වූ හ.

* * *

වත්ත පුරා බිම තැන්-තැන්වල තල් අතු එළා, ඒ මත තැබූ කොළපත්වලට බෙදූ උණු බත් සහ මී තෙලෙන් මැලවූ පොලොස් මැල්ලුම සමඟ කොහිල අල ව්‍යංජනයත්, කිරි අල හොද්දත් එකට අනාගත් මිනිස්සු මහා කලබලයකින් කන්නට වූ හ. සිංහල මිනිසුන් කිහිප දෙනා රවුමට කැපූ කොළපත්වලට බත් දාගෙන පිළ මත ඉඳගෙන කෑ අතර ඉංග්‍රීසි ජාතිකයෝ දෙදෙන කුඹුරු යාය අද්දර සෙවණක ඉඳගෙන සිටියහ. ඔවුන් ඉස්... දිස්... යැස්... වැනි අමුතු වචන කියමින් තම මලුවල තිබූ යම් දෙයක් අනුභව කරන අයුරු මදුහාමි වරෙක දැක තිබුණි. ආහාර පිසීමේ කටයුතුවලට හෝරා දෙකක පමණ කාලයක් ගත විය. වී කෙටීමට සහ අනෙකුත් කටයුතුවල උදව්වට කෝඳුරුහාමි, රොයිනා සහ ළමයි ද ගොරකහාමි සහ ඔහුගේ ගැහැනිය ද පැමිණ මහන්සි වූ හ.

කොළපත් එකතු කිරීමට සහ පොලොස් කැඩීමට අසල්වාසීන් වූ පාළුවා, ඇලඩිංහාමි, මනංසිඤ්ඤෝ අරඹට ගිය අතර, ඔවුන් කඩා හෙළන පොලොස් ඇහිඳීමට ගුණාදරීත් මදුහාමිත් ගියහ. මනංසිඤ්ඤෝ කොස් ගසට නැග්ග වේලේ පටන් බලා සිටියේ ගුණාදරීගේ පපුව දිහා ය. මනං සිඤ්ඤෝ හැඩිදැඩියෙකි. ගස් නැඟීමට මනා පළපුරුද්දක් වේ. හේ අත්තක කොනට ගොස් එහි එල්ලී පොලොස් බුරුත්තකට පයින් ඇණ බිම දමා ගුණාදරී දිහා බැලුවේ ය. ඈ පුරුද්දක් විදිහට වරින් වර සිය සැට්ට කර සකසාගන්නේ සිය කය පිටතට පෙනීම වළක්වා-ගැනීමට ය. එහෙත් ඒ එක වරක දී තරුණයා ඒ අපූරුව දැකගත්තේ ය.

"මේකිගේ ඇස් දෙක පොට්ට උණාට පපුව හරි ලස්සන යි නේ..." යි තනි ව ම සිතාගත් හේ උන් අත්තෙන් තවත් අත්තකට මාරු විය.

එක ම එක් බත් ඇටයක් වත් ඉතිරි නොවන ලෙස මිනිස්සු බත් කන අයුරු කෙටිහාමි බලා සිටියේ සන්තෝෂ වෙමින් ය. පාළුවා සහ මනංසිඤ්ඤෝ කොළපත් ගොටුවලට දිය ගෙනවුත් උන් අසලින් තැබූ හ. උන් කන ගමන් ඇඟිලි කටේ ඔබා ලෙව කෑ හ. පිච්චි, සෙපු ගෑනු සහ ළමයි ගේ තුළට වී ඒ අපූරු අනුභවය දෙස අනුකම්පාවෙ-න් යුතු ව බලා සිටියහ. ඔවුන් අනුභව කරන කල නැගුණු චව් චව් සද්දයට ගුණාදරී මුහුණ ඇඹුල් කරගත්තා ය. ආහාර ගන්නා ඔවුන් අතරින් කෙටිහාමි ඇවිද ගියේ ජීවිතයේ තමා ලද ඉතා වාසනාවන්ත ජයක් අත්පත් කරගත් පුද්ගලයෙකු සේ ය. මෙවන් ආඩම්බරයක් මුසු වූ සන්තෝෂයක් කෙටිහාමිට මෙයට පෙර දැනුණු ආසන්න ම දිනය වූයේ දණගාමින් උන් පුංචි දාවිත් ගෙයි තිබූ වී මල්ල අල්ලාගෙන මුල් වරට තනි ව ම සිටගත් දා ය. ඔහු තමා සේ ම, තම පියා හීතලහාමි සේ ම ඉතා හොඳ ගොවියෙකු වනු ඇති බව කෙටිහාමි එදා හිතාගත්තේ ය. ඔහු මෙසේ සන්තෝෂයෙන් යුතු ව බත් කන පිරිස අතරින් ඇවිද වරෙක වතුර කොළපත් ගොටුවක් ආහාර ගන්නා පුද්ගලයෙකුට ළං කළේ ය; වරෙක කොළපතකට නැගි කුඹියෙකු සෙමෙන් අතින් පිස ඉවත් කළේ ය; වරෙක ගැහැනියකගේ උකුලේ ඉඳ බත් කන අහිංසක බියපත් ළමයෙකුගේ හිස අතගෑවේ ය. එක් අහිංසක ගැටවරයෙකු කට පුරවාගෙන බත් කනු දැකීමෙන් කෙටිහාමිට සිනාවක් ආවේ ය.

කා-බී අවසන් වී පිටත් ව යෑමට සූදානම් වූ මිනිස්සු



කෙටිහාමි වට කරගෙන අත් ඉහළට ඔසවා දෙවියන්ට මොනා-මොනවා දෝ කියන අයුරු දැක ඉංග්‍රීසි ජාතිකයෝ දෙදෙන පුදුම වී බලා සිටියහ. මිනිසුන්ගේ මුහුණු අසරණ සතුටකින් පිරී ගොස් තිබිණි. සුදු මිනිසුන් දෙදෙනා සතුටු වූයේ කෙටිහාමිගේ ගේ ඉස්තෝප්පුවේ එල්ලා තිබුණු රජ පවුලේ පින්තූරය දැකීමෙනි. ඔවුහු ඒ දෙස බලා ඇහිබැම් උස් කරගෙන යම් දෙයක් කතා කරගති. සිංහල මිනිසා කෙටිහාමිට ළං විය.

"රජ පවුලේ පිංතූරය දැකලා ඔය... ආං එච්චට හරි සංතෝස වෙනවා... වෙලාවකට අහිංසක යි මීමින්නා පැංචෝ වාගේ... වෙලාවකට වෙසමුනියෝ වාගේ..."

"මේ ගංගොඩැල්ලේ හැම ගෙදරකම ඔය පිංතූරේ තියෙයි. ආරච්චි උන්නාන්සේ තමා එවුවේ ඉස්තෝප්පු බිත්තියේ එල්ලාපල්ලා කියලා..."

කෙටිහාමි එසේ කීවේ පිංතූරය දෙසත් සුදු මහත්තුරු දෙසත් බලමිනි. සුදු මිනිසුන් මුවින් කළ විධානය අනුව සිංහල මිනිස්සු වහා ක්‍රියාත්මක වී කෑගසන්නට වූ හ.

"අඩා... පෝ... පෝ... පෝ..."

* * *

සවස් වරුවේ දිය නාගැනීමට ගුණාදරී නැමුණු කුඹුක් ගහ අසල වතුර එකතු වන තැනට ආවා ය.

"ගුණාදරියේ..."

මදුහාමිගේ කටහඬ යි. ඇය ගුණාදරීට ළං වූවා ය. ගුණාදරී ඉතා මත් ම වුවමනාවෙන් මදුහාමි අසලින් ආ අමුතු පුසුඹක් පිළිබඳ විමසිලිමත් වූවා ය. දොළේ පිළී ගඳ යටපත් කරගෙන ඒ පුසුඹ දැනෙන්නට වූයේ ය.

"මදුහාමියේ... මට එනවා උඹ ළඟින් අමුතු පුසුඹක්. කල්ක පුසුඹ හෙම නෙවෙයි... කනෙයියා පැණි පුසුඹ වගේ එකක්..."

මදුහාමි අමුතු තාලයකට සිනා සුණා ය. ගුණාදරී සිතුවා හරි ය. මදුහාමි ඒ අපූරු දෑ වට-පිට බලා සැට්ටය අස්සෙන් ගෙන ගුණාදරීගේ නැහැයට ළං කරමින් ඔමරි කළා ය.

"හා... එහෙනං කියාපං බලන්න මොනාදේ කියලා...?"

"අනේ මං දන්නෑ. කියාපං උඹ ම..."

මදුහාමි ඇඹරිඇඹරි කතා කළා ය.

"අර ගංදස්කාර නඩෙත් එක්ක ආව නේ රට ගොරක ගෙඩි දෙකක් වගේ පාට සුදු මහත්තැන් දෙන්නෙක්. උංදෑලා කන ගමන් මෙව්ව මටත් දික්කොළා උඹලගේ ගෙදරදි මං කරපිංච කඩන්න ගිය වෙලාවේ. මං ඉතිං අරගෙන හැට්ටේ අස්සේ හංගාගත්තා..."

ගුණාදරී කලබල වූවා ය.

"දෙවි හාමුදුරුවනේ මදුහාමියේ උඹ වගේ ගෑනියෙක්. උංදෑලා උඹගේ ඇඟ දිහාත් බැලුව ද? අතිනුත් ඇල්ලුව ද?"

මදුහාමි සිනා සෙමින් කතා කරයි.

"අනේ වදේ... මූණ දිහා බැලුවා ඉතිං... අතින් අල්ලාවි යැ එහෙම... අපි මෙව්වා කාලා බලමු ද?"

මදුහාමි එසේ කියන්නේ ඉහවහා ගිය ආසාවෙන් ය. ගුණාදරී බෙහෙවින් බියට පත් වි හිඳි. ඇය කතා කරන්නේ වැඩිහිටි ගැහැනියක සේ ය.

"උඹ නං මදුහාමියේ, මහා නරක ගෑනියෙක්. අපේ අම්මා මට කියාදීලා තියෙන්නේ අඳුනන්නැති පිරිමි කටහඬක් දුරින් ඇහුණත් ඇඳි වස්තරේ හරිගස්සාගෙන අහට්ට වෙයං කියලා. උඹට ඔය දීලා තියෙන්නේ නරක බේතක් ද කවුද දන්නේ? පිරිමි මිනිස්සු ගැන උඹට උඹේ අම්මා කියා දීලා නැත්තං අහගනිං අපේ අම්මාගෙන්..."

මදුහාමිත් දැන් බියට පත් වී හිඳී. ඈ බියෙන් මෙන් මුහුණ හකුළුවා කතා කරයි.

"මං රහ බලන්න කියලා ඩිංගිත්තක් කෑවා ගුණාදරියේ..."

"මෝඩි! දොළට බැහැලා හෝදගනිං හොඳට උගුරත් එක්ක... මත් බේතක් ද කවුද දන්නේ...?"



"පුංචි කැරකිල්ලක් වාගේ දැනෙනවා තමයි..."

"හත්ඉලවුවයි... හෝදගං හෝදගං..."

විස්කෝතු දෙක අහල හබරල ගොල්ලට විසි කළ මදුහාමි වහා දොළට බැස ඇඟිල්ලෙන් උගුර මැද, කට සෝදන්නට වූවා ය. ගුණාදරී අසල වූ නැමුණු කඹුක් ගස මුලට ගොස් රෙදි මාරු කරන්නට වූ අතර, ඒ දසුන දැක-බලාගැනීමට පැමිණි මනංසිඤ්ඤෝ පහළ කැකිල්ල ගොල්ලේ සැඟවී උන්නේ ය. ගුණාදරී රෙදි මාරු කිරීමේ දීත් රෙදි ඇඳීමේ දීත් අන් ගැහැනු ළමයි මෙන් නො ව, බොහෝ පරිස්සම් සහගත ය. ඒ පිළිබඳ මනංසිඤ්ඤෝ පසු වන්නේ කෝපයකින් ය.

"චිහ්... අපේ හරකිත් ආවා නේ මෙතනට මේ වෙලාවෙ ම...!"

# 11

වසර මැද අන් කිසිදාක නැති විදිහට ඒ අහස් තීරය බොහෝ සේ දුවෙමින් වර්ෂාවකට ඉඩක් නොතබා ම සිටි හෙයින් මහ පොළෝ තලාව කර වී තිබිණි. ඉදහිට හැමූ සුළඟක තිබුණේ කර වුණු රස්නයකි; ඒ වාගේ ම මහා අමනුස්ස සොහොන් ගඳකි. සන්ධ්‍යාවේ රතු අහස් පසුබිම හරහා මූසල ළතෝනියක් නගමින් ඉගිළ ගියේ කැඳැත්තෙකි. සන්ධ්‍යාව උදා වෙද්දී ම ගංගොඩැල්ලේ ගෙවලින් නැඟෙන ඒ විලාප හඬ වැඩි-වැඩියෙන් ඇසෙන්නට විය.

"හත්ඉළවුවේ... මැරිලා යනවා නං හොඳ යි යකුනේ... ඉන්න බැරියෝ... සමන් දෙවි හාමුදුරුවනේ... සංසාරේ මට එපෝ... වසන්න බැරියෝ..."

ඒ කරුමක්කාර ලෙඩේ වැලඳුණු පිරිස් එසේ දවස් ගණන් අගුවල වැටී මරළතෝනි දෙද්දී ගෙදර වතුර කළඳක් නොවූ බැවින් ගුණාදරී වතුර කළය සහ පොල් කටුවක් ගෙන දොළ දිහාවට ගාටන්නට වූවා ය. විලාපය ගෙපිළවලින් උත්සන්න ව ඇසෙයි. දොළේ වතුර මුළුමනින් ම සිඳී ගොස් ය. පොල් කටුවලින් හාරා සීරුවෙන් වතුර පුරවාගත් වළවල් පවා වියළී ගොස් තිබේ. ගුණාදරී ඒ වළවල් කිහිපයක් අසලට ගොස් දණගසා තෙත බැලුවා ය. එක් වළක වතුර කළඳක් ඉතිරි ව තිබුණෙන් ඈ ඒ අසල දණ ඔබා තව මඳක් පොල් කටුවෙන් හාරා සීරුවට වතුර බිඳෙන් බිඳ ගෙන කළයට දමාගත්තා ය.

ගුණාදරී බොහෝ වේලාවක් ගතකොට එසේ කළයේ අඩිය වැසෙන්නට තරම් ප්‍රමාණයක් දිය පුරවාගෙන ගේ දෙසට යන්නට වූවා ය. පරංගි උණ බෝ නොවූ පිරිස් කුඹුරු යායේ තැන්-තැන්වල කඹුක් ගස් යට ඉඳගෙන කතා කරමින් කාලය ගත කරනු ඇයට ඇසේ. කෙටිහාමි ද අතු පිළට වැටී දවස් ගණනාවක් ගත වූ අතර, පිච්චි සහ දාවිත් ද පැදුරට වැටී දැන් දවස් පහක් නැත් නම් සයකි. ගුණාදරී දවසට දෙවරක් ලුණු කැඳ සාදා උන්ට පෙව්වා ය.

ගෙදර තිබූ සේරම වී ඉවර ය. සහල් පොළා ඉතිරි වුණු සුනු



සහල් ටිකක් වළඳක තිබේ. ඔවුන් සන්තක එක ම වස්තුව එය පමණි. ගංගොඩැල්ලේ සෑම ගෙදරක ම පාහේ පසුගිය කාලය පුරා කෑවේ කෙටිහාමිලා විසින් දුන් වී ය. ඒවා ණය ලෙස සලකන්නට එපා යැයි කෙටිහාමි ගුණාදරීට කියා තිබිණි.

ගුණාදරී වතුර කළය රැගෙන සෙමෙන් ගේ දෙසට යද්දී අසල කුඹුරු යායේ උන් ගැහැනුන් සහ පිරිමින් කියන කතා ඇයට ඇසිණි. ඒ අතර රුයිනිංහාමිගේ පවුල කියනු ඇසුණේ "ඔය කෙරුවෙ යස ලස්සන වැඩක්... දෙමෙල්ලු හැතිකරයක් රෙද්ද අස්සෙ දාගෙන මුළු ගමට ම වසංගත බෝ කොරලා මුළු ගමක් වැනසුවා... හෙණ ගහනවා ඕකුංට..." යි කියා ය. එය තමන්ට කියූ දෙයක් නිසා ගුණාදරී අඩිය ඉක්මන් කළා ය. ගෑනුන් මිනිසුන් තව මොන-මොනවා දෝ කියනු ඇසිණ.

ඇය මිදුලට යද්දී කෙටිහාමිගේ සිහින් කෙඳිරිගෑමක් ඇසුණේ ය. ගුණාදරී වහා කළය තබා පියා වැටී ඉන්නා පිළ අසලට ආවා ය. ඈ පියාගේ ඇඟ අතගෑවා ය. ඇඟ ගිනියම් වී තිබේ. අම්මාගේ සහ මලයණ්ඩිගේ මෙන් කන් පෙති යට, ඇඟිලි කරු අතර, විළුඹ සහ වැලමිටි යට පැළී සැරව ගලනු නෙතට දුනේ. ගුණාදරීට හැඬුම් ආවේ ය.

"උඹලා මං නැතුව නං මැරෙන්න එපා මයෙ රත්තරනේ... මං කී වරුවක් බැලුව ද මේ ලෙඩේ මට බෝ වෙලා ද කියලා. තව ම නෑ... අනේ මටත් ඉක්මනට හැදෙනවා නං මටත් උඹලා එක්ක ම වැටිලා ඉන්න තිබුණා රත්තරනේ... මං දාලා උඹලා මියැදෙන්න නං එපා දෙවි හාමුදුරුවනේ..."

අඳුර වැටෙන්න ඔන්න-මෙන්න කියා තිබිය දී නිරුවත් පුංචි උං පස්-හය දෙනෙකු සුපුරුදු පරිදි කෙටිහාමිලාගේ කඩුල්ල ළඟට පැමිණ තමන් අත වූ පොල්කටුවලින් කඩුල්ලේ උණ බම්බුවට තට්ටු කරන්න වූයෙන් ගුණාදරී වළඳේ ඉතිරි වූ ලුණු කැඳ උන්ට දුන්නා ය. ළමයි ලුණු කැඳ පොල් කටු රැගෙන වෙල් යායට දිවූ අතර ලෙඩුන්ගේ විලාපයත් කෙටිහාමිට කරන බැණ වැදීමත් ක්‍රමයෙන් උත්සන්න වී, හෝරාවක් දෙකක් ගත වූ තැන එය කෙඳිරිගෑමක් ව වියළි සුළඟ සමඟ මුසු විය.

පසු දා උදයේ රතු නිලමේ සමඟ ගම්මණ්ඩියට ආ මුඛවාඩම බැඳගත් හැඩි-දැඩි මිනිස්සු පිරිසක් දරුණතම රෝගීන් ලී මැසිවලට පැටවූ හ. රොයිනාට ද තදබල ලෙස වසංගත රෝගය වැලඳී තිබුණු අතර, රතු නිලමේ ඒ කුණු වුණු කය දෙස නොබලා ම මිනිසුන්ට විධාන දෙනු පෙනිණ. ඔවුන් රෝගීන් තබාගත් ලී මැසි ඔසවාගෙන වෙල් යාය දිගේ පිටතට රැගෙන යන්නට වූ අතර, තවත් පිරිසක් තමන්ගේ ගේ දෙසට එනු ඇසීමෙන් ගුණාදරී විමසිලිමත් වූවා ය. මිදුලට ආ පිරිස කුමක් කරන්නේ ද යන්න ඇයට නිච්චි නොවූයෙන් බියට පත් වූ ඇය ගැහෙන්නට වූවා ය. පැමිණි පිරිස වහා පිච්චිත්, හඬමින් උන් දාවිතුන් මැස්සකට පටවාගත් අතර, කෙටිහාමි මැස්සට පටවද්දී රතු නිලමේ කැගසන හඬ ඇසෙන්නට විය.

"හැඩි දෙමෙල්ලු තුරුලු කොරාන සෙනේ පාලා වසංගත ගමට බෝ කොරලා දැං ඉන්නවා මැරිලා වගේ... සේනාවකට කන්න දීලා සිටුවරෙක් වෙන්න හැදුව ද හිඟන්නො උඹ...?"

කෙටිහාමි දෝත එක් කොට යමක් කීමට තැනුව ද ඔහුට කිසිව-ක් කියාගැනීමට පුළුවන්කමක් තිබුණේ නැත. ඔහුගේ ඇස් අඬවන් වී තිබිණි. ගුණාදරීට තද වෙව්ලිල්ලක් සමඟ කැගැස්සුණා ය. මහා බයකින් ඇයගේ හිත පිරී ගොස් තිබේ. මිනිසුන් එසේ කෙටිහාමිලා පැටවූ මැසි ඔසවාගෙන වෙල් යාය දෙසට යද්දී ගුණාදරී කැගසමින් ඒ පසුපස දිව්වා ය. වෙල් යායේ දී තවත් ගැහැනු දෙන්නෙක් සහ ළමයි පස්-හය දෙනෙක් ගුණාදරීට එකතු වූ හ. රතු නිලමේ උන්ට බැණ වැදුණේ ය.

"පලයව් ගෙවල්වලට කරුමක්කාර හිඟන හැතිකරේ මැරුං නොකා... දූවපියව්... තොපේ කාලකණ්ණිකං හංදා අපිටයි ගෙවල්වලට වෙලා ඉන්න නැත්තේ... පලයව් යන්න හැතිකරේ..."

ගැහැනුන් සහ ළමයි බියෙන් පසුබැස්ස අතර ගුණාදරී නතර වූයේ නැත. ඇය කැගසමින් ම පිරිස අඩි තබන කර වූ ඉපනැලි හඬ ඔස්සේ දිව්වා ය.

"අනේ උං ගෙනියන්න එපෝ... මාව දාලා උං ගෙනියන්න එපෝ... අප්පුච්චේ... අම්මේ... මා දාලා යන්න එපෝ... මාත් එනවෝ..."

දිවගෙන විත් ඇය ඉදිරියේ හිටගත් රතු නිලමේ ඇය අල්ලාගෙන



පිටුපස හරවා පස්සට පයින් එකක් ඇන්නේ ය. ඇය විසි වී ගොස් ඉපනැල්ලේ වැටුණා ය.

"පල යන්න කරුමක්කාර හරකි... කුඹුරුවලට අරක් ගත්ත බහිරවී... කුඹුරු තිගේ කිව්වනෙ... දැං කුඹුරට වෙලා මකබෑවිය. හිටුකෝ... මං උගන්නන්නං තිට හොඳ ම විදියේ පාඩමක්..."

ඔහු එසේ තර්ජනය කොට, ලෙඩුන් ඔසවාගත් පිරිස සමඟ වෙල් යායෙන් එගොඩ වී නික්ම යන්නට වූ අතර, ගුණාදරී වියළි ඉපනැල්ලේ වැටී අත්-කකුල් පොළොවේ ගසමින් හඬන්නට වූවා ය. ටික වේලාවකින් ඈ කැගසන තැනට හැරමිටියක් අනිමින් විත් කතා කරන්නට වූයේ සමහරදාට බත් කන්නට කෙටිහාමිගේ ගෙදරට එන ගොරකහාමිගේ පියාණන් වූ බඩරා මහල්ලා ය.

"බොල කෙල්ල, පල ගෙදර... උං ලෙඩ්ඩු ඇන්න ගියේ ගොඩකේල සුදු ඇත්තන්ගේ ඉස්පිරිතාලෙයි කියන අව්සද ගෙදට්ට. තී මොකෝට ද මේ හැටි බෙරිහං දෙන්නේ? හා පල උක්කුං... ගිහිං ගෙට වෙලා හිටු. සුදු ඒජන්ත උන්නාන්සෙයි පයිංඩ එවලා තියෙන්නේ ලෙඩ ව්ච්ච උං උස්සාන අරං යන්න කියලා. අමාරුවෙං හරි ඔය දෙනවයි කියන බේත ගිල්ල නං හරියාවිලු. නපුරක් වෙන එකක් නෑ කාටවත්. මං මේ දන්න පිළිවෙළට කරණීයමෙත්ත සූත්තරේ හිතිං කියවකියවා ගංගොඩැල්ල වටේ ඇවිදින ගමං තමයි උඹෝව දැක්කේ... ඒ එක්ක ම බොල මං හිතින් බාරයක් වූණා ගංගොඩැල්ලේ එකෙක් වත් මියැදෙන්නැතුව යහතිං ආවොත් සුමන සමන් දෙවියන් වැඩ ඉන්න උළු මාළිගාවට ගිහිල්ලා උන්නාන්සේ ඉස්සරහපිට වරුවක් වැඳ වැටෙනවා කියලා. ඔව් බොල, මං ඒක කොරනවා..."

ගුණාදරී හඬ යටපත් කරගෙන මුත් දිගට ම හඬයි. මහල්ලා දිගින් දිගට ම ඇගේ හිත හැදෙන්නට කතා කළේ ය.

"බය වෙන්නට කාරි නෑ. උන්නාන්සේ මතු බුදු බව ලබන්න දස පාරමීදම් පුරණ ඇත්තෙක් නොවැ. අහක බලන එකක් නෑ මයෙ අප්පේ... හා... පල උක්කුං ගෙදර. ඕං මං උඹේ ඉහ මුදුනේ ගානවා තෙල් ටිකක්..."

මහල්ලා තමන්ගේ හිසේ ගා තිබූ තෙල් ටිකක් ඇඟිලිවල ගාගෙන වචන කිහිපයක් මතුරා ගුණාදරීගේ හිසේ ගෑවේ ය.

"හාං දැං පලයං, මයෙ අම්මා... ගිහිං ගෙට වෙලා හිටු..."

* * *

ගුණාදරීට ගෙදර ඉන්නට හිත දුන්නේ ම නැත. උන්ට උදේට ලුණු කැඳ උගුරක් වත් බොන්නට වූයේ නැත. ඇය ලුණු කැඳ මුට්ටියක් ළිප තබා කොළපත් ගොටුවක් සාදා ඒ මැදට කැඳ ටික දමා දෙකට නමා ගැටගසාගත්තා ය. දර මඩුවෙන් තරමක් දිග දර කෝටුවක් තෝරාගත් ඇය කිහිප වතාවක් ගොස් ඇති ඒ මඟ ඔස්සේ ගමන් කරන්නට පටන්ගත්තා ය. ඇයට මඟ යන්තම් මතක තිබේ. පොළට යන කල සමහර දුෂ්කර තැන්වල දී පියා ඇයව ඔසවා තැබූ තැන් තුනක් පිළිබඳ ඇයට මතක ය. ඇය ඒ තැන්වල දී බොහෝ කල්පනාකාරී වූවා ය. ඈ ගසෙන් ගසට, බෑවුමෙන් බෑවුමට පියවර මැන්නා ය. තද පැවිල්ල නිසා කුඩැල්ලෝ නැත. මඟ දී රිළා රංචු සද්ද කරමින් ගස්වල දඟලන අයුරු ඇසුණෙන් සිත මොහොතකට කැලඹුණත්, මේ පසුබසින්නට වේලාවක් නො වේ. මහ වන මූකළන්, ගල් ගෙඩි, පල්ලම් පසු කර හෝරා දෙක-තුනක් ගත වූ පසු දැනුණු පිළී ගඳ නිසා තමා දැන් දොඹකොඩැල්ල ගඟ අසලට විත් ඇති බැව් පසක් කරගත්තා ය. සිඳුණු ගඟේ වැලිතලාව දෙපයට දැනෙයි. එතැන තරණය කළ පසු කරත්ත පාර වැටී ඇති බැව් ඈ සිත දනී.

අතරමඟ දී ගොළුබෙල්ලෙක් පෑගී පොඩි වී ගිය-එක හැරෙන්නට වෙන කරදරයක් නොවිණි. කරත්ත පාර දිගේ දකුණු අත පැත්ත දෙසට හැරෙද්දී සිහින් සුළං කැරලි අවට ගස් පඳුරුවල හිඳ සද්ද නඟමින් පාර ගැන වග විස්තර කියනු දැනේ. පන්සල, පොළ පසු කර තව ටිකක් ගිය කල්හි සුදු මහත්තුරුන් සැදූ ඉස්පිරිතාලය පිළිබඳ පියා කී අයුරු මතක ය. පන්සල අසල දී පරණ වූ තෙල් සුවඳ දැනිණි. පොළ අසල කිසිදු සද්දයක් නැත. ඈ ඒ මඟ ඔස්සේ ලී කෝටුව අනිමින් ගමන් ගත්තා ය. මඟ දෙපස කිසිදු සද්දයක් නො වේ. සුළඟේ පමණක් වියළි කර සුවඳක් ඇත. තමා අතරමං වී වත් දෝ යි ඇයට බය සිතුණි. ඇයට හැඬුම් එන්නට ආවේ ය. එහෙත් ඇය ගමන අත්හළේ නැත. කිසි දු හෝඩුවාවක් නැති මේ මඟ නිකම් ම යනවාට වඩා හඬමින් යන-එක සුදුසු යැයි ඇය සිතුවා ය. එවිට සමන් දෙවියන් වහන්සේ තමන්ට උපකාර කරනු ඇතැ යි සිතිවිල්ලෙන් ගුණාදරී හඬමින් ගමන් කරන්නට වූවා ය.



ටික දුරක් යද්දී හැඬුම් නතර කළ යුතු බැව් ඇයට හැඟී ගියේ ය. ඈ සුපුරුදු සේ හැට්ට කර සකසාගත්තා ය; හොඳින් ඇහුම්කන් දුන්නා ය. පුරුදු ගඳ දුරින් දැනේ. හැඬුම්, කෙඳිරිගෑම්, සුසුම් සද්ද දුරින් ඇසෙයි. ඇයට තමා ගැන ආඩම්බර සිතිණි. ඇය තව-තවත් සද්දවලට ළං වූවා ය. පාරෙන් එකී තැනට යෑමට පඩියක්, වැටක් තිබිය යුතු ය. ඈ ඒ අනුමානය ද ජය ගත්තා ය. දැන් ඇය ඉන්නේ ඒ සද්ද-බද්ද අතරේ ය. ඈ නොයිවසිල්ලෙන් කැඳ මුළට අත තබා බැලුවා ය. එහි තව මත් ළා රස්නයක් පවතී. ඈ ඒ මිනිස් විලාප, සුසුම් ගඳ අතරේ තමාගේ උන් සොයන්නට වූවා ය. ඒ සියලු හඬවල් නේක හැඩයන් මවා පාමින් ඈ වටා රැව්දෙද්දී ඒ සෙනෙහෙ ස්වරය ඇසී ඇගේ ආත්මය ගැඹුරට ම හැරී යනු දැනිණි. ඒ පියාගේ කැස්ස ම ය. පුංචි ම වෙනසක් ඇත් නම් ඒ ගෙදරින් එන විට තිබුණාට වඩා දැන් එහි යම් පණක් ලත් බවක් දැනෙන-එක ය. ඈ පියවර කිහිපයක් ඊට ළං විය.

"අ...ප්...පු...ච්...චේ..."

කැස්ස කෙඳිරිගෑමකට හැරුණේ ය.

"අ...ප්...පු...ච්...චේ..."

ඇය වටපිටාව අතපතගා සිය සුසුම් සමාන වූ ඒ කාය වස්තුව හඳුනාගත්තා ය. රෝගියා ද තදින් ඇගේ අතින් අල්ලාගත්තේ ය. කෙටිහාමිට හැඬුම් ආවේ ය. ගුණාදරී දුක සතුට පිරි අමුතු ස්වරයකින් කෑගසන්නට වූවා ය.

"මයෙ අප්පුච්චේ... මං උඹලා හොයාගෙන හොයාගෙන ආවා... සමන් දෙවිහාමුදුරුවෝ මා පස්සෙන් ආවා... ලුණු කැඳ මුලත් ඇන්න මං හෙමිං හෙමිං අකුල් අස්සෙන් රිංගරිංගා ආවා. අපේ කුඹුර ගත්ත නපුරු උං මයෙ පස්සා පැත්තට පයිං ඇන්නා පල ගෙදර කියලා. මං උංට හොරෙං ආවා මයෙ අප්පුච්චේ... මටත් ලෙඩ වෙන්න උවමනායි මගේ අප්පුච්චේ..."

ඈ එසේ බොහෝ වේලා දෙඩෙව්වා ය. එහෙත් ඒ හැඬුම්-දෙඩවුම් ඉස්පිරිතාල පාලක වැඩි වේලාවක් ඉවසා සිටියේ නැත. ඔහුගේ කෑගැසීම් පියාගේ සහ දියණියගේ තදින් පැටලී තිබුණු අත් බැම් ලිහා දැමීමට තරම් බලවත් විය. දුගඳින් පිරි ඒ සුවඳවත් හීනයෙන් ගැලවුණු ඈ යළි ඒ දුෂ්කර මාර්ගයට බැස ගමන් කරන්නට වූවා ය.

* * *

මහ ගස් පිස දමාගෙන ආ ඒ අලුත් සුළඟ ගුණාදරීගේ සිත කලබල කරන්නක් ම විය. ගෙපිළේ ඉඳගෙන උන් ඇය වහා නැගිට මිදුලට බැස කඩුල්ල අසලට වුත් හාත්පසට මුව යොමු කළා ය. සුළඟේ වේගය වැඩි වෙයි. අහසේ ඈතින් ඒ වෙනස මතු ව එන්නාක් මෙන් ඇසේ. සුළඟට නව-නවත් ශක්තිය දෙනු වස් ඈ තදින් හුස්ම හෙළුවා ය. සුළං පාරවල් වෙල් යාය හරහා මිදුලට අවුත් වහලයේ පිදුරු අවුස්සා ලී ය. ගුණාදරීට සිනා ආවේ ය. ඇයට සිය පියා සුළං අමතා කියන තාල කීපයක් මතක් විය. ඇය ඒවා කීමට උත්සාහ කළා ය.

වරෙං වරෙං සුළන්නේ..........

සුළං සුළං වරෙන්නේ..........

අපිව බලා යන්න වරෙන්නේ..........

ඉපනැල්ලෙන් වරෙන්නේ..........

අමුණ ළඟිං වරෙන්නේ..........

ඈ එසේ හඬ නගා තාලයට කියා අහස වෙත මුහුණ යොමු කළා ය. සියලු කරදරවල අවසානය උදා කිරීමට අහස සූදානම් වනු දැනෙයි. ඒ පළමු ගන සිහිල් වැසි බිඳුව ඇයගේ දකුණතට වැටිණි. ඇය එය දෙතොලින් සිපගත්තා ය. වැහි බිඳු දෙක තුන වී, තුන හතර වී, හතර පහ වී හතිහතිකට මහ වැස්සක් වන විට ගුණාදරීට සමන් දෙවියන් සිහි වී අත්දෙක එක්කාසු විය. ඒ වර්ෂාවත් සමඟ ම මහ පොළොවෙන් නැඟුණා වූ නැවුම් පුසුඹ ගුණාදරීට දැනිණි. ඇය වැස්සට තෙමුණා ය. මේ වැස්ස ම ගොඩකවෙල ඉස්පිරිතාලෙටත් වහිනවා ඇත. අම්මාත්, අප්පුච්චාත් සන්තෝස වෙනවා ඇත. වැස්ස දිගට ම වැස්සේ ය. ඇය දිගට ම තෙමුණේ ය. ටික වේලාවක් යද්දී අමුණ දෙසින් දොළ ගලන සද්දය ඇසිණි. තව මොහොතක් වර්ෂාව සමඟ උන් ඇය වහා පිළිකන්නට ගොස් පෝරු උදැල්ල අතට ගත්තා ය.

වැහි බිඳු ඉපනැල්ලට පතිත වන හඬ පමණක් නො ව, වසිද්දී වැහි බිඳු එකිනෙක ගැටෙන සී... සී... හඬ පවා ඇයට ඇසිණි. ගුණාදරී



සන්තෝෂයෙන් යුතු ව පොළොවට උදලු පහරක් ගැසුවා ය. කලකින් උදලු පහරක් නොගැටුණු පොළොව තරමක් හිතුවක්කාර ය. එහෙත් එය හනික පෙඟී යයි. අප්පුච්චා ගෙදර එන විට මුළු කුඹුර ම පුරං කොටා තැබිය යුතු යැ යි ඇය සිතයි. ඇය මහත් ජවයකින් කුඹුර කොටාගෙන යන්නට විය. ඇගේ වත තෙතබරිත වී තිබේ. ඇයට මේ වේලේ අසන්නට වුවමනා කළේ වර්ෂාවේ සද්දය පමණි. ඒ සුන්දර සද්දය විසින් ඈ සිත සියුම් බියකට හෝ චකිතයකට තිබූ ඉඩකඩ ද මුළුමනින් ම ආක්‍රමණය කර තිබිණි.

දොළ දෙපස කුඹුක් පැළ ද සුළඟට සැලුණේ ය. එහෙත් ඒවා වර්ෂාවෙන් උදම් වූයේ නැත. කියාගන්නට නොහැකි අනුවේදනීය හැඟීමකින් මෙන් ඒවා ඒ මනුස්සාත්මය දෙස බලාගෙන සුසුම් ලෑ හ. වර්ෂාව පැමිණ තිබුණේ යහපත පමණක් ම රැගෙන නො වේ.

සැම දා ඇය යටිසිතින් සිතාගෙන උන් ඒ නන්නාඳුනන නෙත් ඇති සත්ත්වයා මෙවේලේ ඇය පිටුපස සිටගෙන තෙත් වූ වස්ත්‍ර තුළින් විනිවිද පෙනෙන ඇගේ කය දෙස බලාගෙන සිටියේ ය. වහා ඒ දැත් ඇයගේ පිටුපසින් ඇය අල්ලා තර කොට ගනිද්දී ඇය සිහිනයකින් අවදි වූවාක් මෙන් කල්පනා රේඛාවෙන් පියවි ලොව කරා පිවිසි අතර, ඒ සවිමත් දැත් ඇය මිරිකා කට ද වසා වටයක් කරකවා වෙල් තලාව මත සැතපවී ය. නැවුම් වැසි දියට පෙඟුණු වස්ත්‍ර ඉරී නිරුවත් කය මත මඩ තැවරෙද්දී කිහිප වරක් ඇයට දැනී තිබූ ඒ අප්‍රියජනක රා ගඳ ද දැනී-නොදැනී ගියේ ය. පෙර දා රාත්‍රියක ඇය දුටු කිසි දු හැඩතලයකින් තොර වූ බියකරු සිහිනයක් සේ ඒ මොහොත ක්‍රියාත්මක විය.

ඇගේ අඳුරු ලෝකයට සිය යටි කය ඔස්සේ ඇතුළු වූ උදලු මිටක් වන් වූ තද සත්ත්වයා මහත් නපුරුකම් කොට වේදනා මවා පාද්දී ඇය හැකි තරම් දඟලුවා ය. ඒ තදැති රුදුරු සත්ත්වයා ඇගේ කය තුළට ම ගියේ ය. උහු ඇය ගිල්ලේ නැත; එහෙත් සුනඛයකු සේ ලෙව කෑවේය; තලු ගැසුවේ ය. අම්මා විසින් තමාට පරිස්සම් වෙන්න යැ යි කීවේ මේ රුදුරු දෙයින් විය යුතු බැව් ඇයට විදුලියක් කෙටුවාක් මෙන් සිහි විය.

හෝරා කිහිපයක් ගත වුණු කල හාත්පස අඳුර වැටී ඇති බැව් ඇයට වැටහිණි. පළඟැටියන්ගේ මෙන් ම ගොන්හැරයන්ගේත් කෙළවරක් නැති කෑගැසීම කන් අඩි සිදුරු කරගෙන හිස තුළට

කිදා බසී. වර්ෂාව නතර වී ඇත. තමා ඉන්නේ මහා මඩ ගොඩක බව ගුණාදරීට වැටහුණි. ඇය මඩේ මිරිකී තිබුණු තමාගේ රෙද්ද සහ සැට්ටය සොයාගත්තා ය. මඩ මිරිකා ඒවා ඇගේ දවටාගත් ඇය දිගට ම පපුව මෙසේ ගැස්සෙන්නට ඉඩ හරිනවා ද එසේත් නැත් නම් ගිරිය යටින් කැගසනවා ද යන්න තීරණය කරගත නොහැකි ව මොහොතක් උන්නා ය. ඇයගේ සිරුරේ සහ සිතේ පණ ඉතිරි වී තිබුණේ බොහොම ටිකකි. නැගිටීමට අපහසු බැවින් මඩෙහි ම වැටී සිටියා ය.

ඇය යළි තිගැස්සී ගියේ ගල් අමුණ දෙසින් නැගුණු දියබුං හඬිනි. එය වෙන දාට වඩා උස් ව ඇසුණෙන් ගුණාදරී වහා කලබල වී කෙඳිරිගාමින් බිම අතගාමින් ගේ දෙසට ඇදී යන්නට විය. දියබුං හඬ තමා ගිලින්නට තමාගේ පසුපස එනවා මෙන් ඇයට දැනිණි. වහා කඩුල්ල පැන ගේ දෙසට ගිය ගෙතුළට වැදී දොර වසාගත්තා ය. ගේ මුල්ලට වූ ඇය දෝතින් දෙකන් වසාගත්තා ය. ඉන් පසු සිහින් සුළං රැල්ලක් හුරු-පුරුදු සේ කුඹුක් ගස් පිස වුත් ගේ අසල ගැවසී වහලේ පිදුරු අවුස්සා යන තැනක දී පවා ඇය කළේ තව-තවත් ගේ මුල්ලට වී දෙකන් තදින් වසාගැනීම ය.

* * *

රෝහල් බිමේ කොනක කපන ලද වළක් අසලට දුර්වර්ණ රෙද්දක එතූ රොයිනාගේ මළකඳ ඔසවාගෙන යන මිනිස්සු කිහිප දෙනෙකි. යම් පමණකට සුව වී උන් කෙටිහාමි සහ පිච්චිත් තවත් කිහිප දෙනෙකුත් යාබද තැනකට වී ඒ දෙස බලාගෙන සිටියහ. මිනිය වළට දැමූ පසු පිච්චි එතැනට ගොස් වළට පස් මිටක් දැමුවා ය. ඒ අනුව අන් අය ද පස් මිට බැගින් වළට දැමූ හ. පිච්චිගේ යටිතොල වෙවුලන්නට විය. ඇයට හැඬුම් ආවේ ය. ඒ අනුව තවත් ගැහැනු කිහිප දෙනෙකු හඬන්නට වූ අතර, කෙටිහාමි කරබාගෙන බලා සිටියේ ය.

ඉන් දවස් පහකට පමණ පසු සුවය ලබා කෙටිහාමිලා ගෙදර ආ අතර, ගුණාදරී සිහිසුන් වී ගේ මුල්ලේ වැටී ඉන්නා අයුරු මුලින් ම දුටුවේ කෙටිහාමි ය. ඔහු කෑගැවේ ය.



''සමන් දෙවි හාමුදුරුවනේ... පිච්චියේ... වතුර ටිකක් අරං වරෙල්ලා.. අනෙ අම්මේ මගෙ කෙල්ල.. පණ තියනවා රත්තරනේ.. පණ තියනවා මගෙ අම්මට...''

* * *

තෙල් මැතිරීම් කිහිපයක් ද ශාන්ති කර්මයක් ද ගුණාදරී වෙනුවෙන් සිදු කෙරිණි. ඒවායින් ගුණයක් නොවූ කල නාඹුළුවේ කාණ්ඩයක් ගෙන්වා ගිහි පිරිතක් ද කියවනු ලැබිණි. ඒ සැම දෙයකින් ම අනතුරු වත් ගුණාදරී කළේ තව-තවත් ගේ මුල්ලට වී වසන් වීම ය.

# 12

''කෙටිහාමි මාමේ.. කෙටිහාමි මාමේ..''

රාත්‍රී එසේ කඩුල්ල දෙසින් කවුරුදෝ කෑගසනු ඇසුණෙන් කෙටිහාමි දොර ඇරගෙන මිදුලට වුත් විපරම් කළේ ය. කඩුල්ල අසල කළුවරේ කවුදෝ හිඳිනු පෙනේ. කෙටිහාමි කඩුල්ල අසලට පියමං කළේ ය.

''කවුද මේ මහ රාත්තිරි?''

''මං.. මේ මනංසිඤ්ඤෝ...''

''ඇයි මනං පුතේ.. කරදරයක් වද්ද උඹලට?''

තරුණයා මහත් සේ බියට පත් වී ඉන්නා බවක් පෙනේ. හේ වේගයෙන් හුස්ම ඉහළ පහළ ගනී. ළා සුදු පැහැති තරු එළියට ඔහුගේ ඇඟ පුරා දාඩිය දිලිසෙමින් පෙනේ. තරුණයා කතා කරන්නේ ගැහෙන හඬිනි.

''බුදු මාමේ.. මට උඹලගෙන් කරදරයක් නැති වග බව මං දන්නවා. උඹ අපිට කොයි තරං නං වී දීලා තියෙනව ද? එව්වයිං අපි වේල් කීයක් නං බඩ පුරෝගෙන තියෙනව ද? අපිට කුඹුර දුන්නෙත් උඹ නේ මාමේ...''

තරුණයාගේ හඬ විලාපයක් බවට පත් වීමට ඔන්න-මෙන්න කියා තිබූ නිසා කෙටිහාමි ඔහු අස්වසමින් කතා කළේ ය.

''එව්වා ආයෙමත් කියන්න උවමනා නෑ මනං පුතේ.. කියාපං මේ රාත්තිරි උඹ ආවේ ඇයි කියල..''

තරුණයා සුසුමක් ඉහළට ගෙන කතා කරන්නට විය.

''අපිව විනාස කොරන්න ආ රතු තිලමෙ මං මැරුවා මාමේ.. මේ මල් කපන පිහියේ ලේ...''

ඔහු අත වූ පිහිය කෙටිහාමිට පෙන්වූයේ ය. පිහියේ මුවහත දිලිසේ. කෙටිහාමි වැට කඩුල්ලේ කණුව අල්ලාගත්තේ ය.

''මනංසිඤ්ඤෝ.. මොකක් ද උඹ මේ කරගත්තේ..? ඇයි ඒ තරං අපරාධයක් කොළේ...?''

කෙටිහාමි ද බෙහෙවින් බියට පත් වී හිඳී. තරුණයාගේ හඬ පෙරටත් වඩා වෙවුලන්නට විය.

''ඌ අපේ අපුච්චට කියලා අද රාත්තිරි උගේ කුඹුරෙ පැලේ බුදියගන්න කියලා. මං උන්නෙ ගෙදර අගුවෙ පැදුරක් එළාගෙන බුදියගෙන. ඌ පිටිපස්සෙ දොරෙං ගෙට රිංගලා අපේ නංගිව බලෙං උස්සාන යන්න හදලා. කට මිරිකාන උන්නු හංදා මට දැනුණේ බළලෙක් කෑගහනවා වගේ.. මං උගේ පස්සෙං එළවාගෙන ගිහිං අමුණ උඩදි ඇන්න.. එතන ම යි බුදු මාමේ...''

''හත්ඉළවුවේ පුතේ...''

කෙටිහාමිට කියවිණි. තරුණයා අඩියක් පසුපසට ගොස් බිම බලාගෙන අන්ත පරාජිත ස්වරයෙන් කතා කරන්නට විය.

''මේ කුඹුරු සේරම අයිති කොරගන්න යි ඌ මාන බැලුවේ. ගුණාදරී විනාස කොරලා දාන්නත් මට කිව්වේ ඕකා තමා. ඒ වෙලාවේ මං රා බීලා උන්නේ මාමේ..''

කෙටිහාමිගේ ඔළුව කැරකෙන්නට විය. ඔහු ඈත අඳුර දෙස බැලුවේ ය.

''මං යනවා කැලේ පනින්න.. මගේ නංගිලා - මල්ලිලා ගැන බලාගනිං බුදු මාමේ...''

එසේ කී තරුණයා අඳුරට වැදී නොපෙනී ගියේ ය.

''මනංසිඤ්ඤෝ...''

කෙටිහාමි කෑගෑවේ ය. එහෙත් ඔහු අබියස ඉතිරි වූයේ කිසි දු හැලහොල්මනක් නැති ඝන අන්ධකාරයක් පමණි.

* * *

ගෙරියා?''

''ඇත්ත කියාපිය බල්ලෝ.. කොහෙ ද ඒ ගෙරියා?''

ගාර්ලිස් ආරච්චි උන්නාන්සේ එසේ ගෝරනාඩු කළේ කෝඳුරුහාමිට පහරක් ගසමින් ය. කෝඳුරුහාමිගේ සරමේ මූත්‍ර පිට වන අයුරු කෙටිහාමි දැක්කේ ය. යාබද ලියැද්දක කෝඳුරුහාමිගේ පුංචි උන් බිය වී හඬමින් හිඳිති. ''අනේ මං දන්නෑ රත්තරං හාමුදුරුවනේ..'' යි කියමින් පුංචි ළමයෙකු සේ හඬමින් කෝඳුරුහාමි ආරච්චි උන්නාන්සේට වැඳවැටුණේ ය. ආරච්චි ඔහුට තවත් පයින් පහරක් ඇන්නේ ය. කෝඳුරුහාමි මර ළතෝනි දෙයි. ගමේ මිනිස්සු අමුණ ගාව තැන්-තැන්වල වට වී බලාගෙන හිඳිති. ගුණාදරී ගෙදර තනි ව ම දමා ඒමට නොහැකි නිසා පිච්චි අමුණ අසලට ආවේ නැත.

කොරනැල් විභාගය පැවැත්වෙමින් තිබේ. යුරෝපීය ඇඳුමෙන් සැරසී රක්වානේ සුදු මහේස්ත්‍රාත්වරයා සහ තවත් නිලධාරීහු කිහිප දෙනෙක් අමුණ අසල කොළ-අතුවලින් වට කරන ලද තැනක මිනිය කපති. ලංසි පොලිස් සැරයන්වරයෙක් හා කොච්චි රාලහාමිලා කිහිප දෙනෙක් අමුණ උඩ රැඳී හිඳිති. කලින් දැක නැති මේ නානාප්‍රකාර වූ බලවත් අමුත්තන් දැකීමෙන් ගම්මු පුදුමයටත් බියටත් පත් වී හිඳිති. ආරච්චි උන්නාන්සේ ගම්මුන්ට ඇසෙන්නට සද්දයෙන් කෑගසන්න විය.

''තොපි එකෙක් හරි ඒ ගෙරියට රැකවරණේ දීලා අහු වුණොත් තොපිත් අල්ලලා දෙනවා පොලෝසියට.. රැයිනිංහාමි වර මෙහෙට..''

රැයිනිං හාමි වහා ඉදිරියට ආවේ ය.

''තෝ තව හයිහත්තිය තියෙන නාම්බෝ හය-හත් දෙනෙක් එක්කාසු කොරාන මේ පොලෝසියේ ඇත්තො එක්කලා ගිහිං ඒ ගෙරිය හොයාන එන්න ඕනි. ඕක ඇත්තේ දික්යාය මූකළානෙ ම තමා. පඳුරක් පඳුරක් ගානෙ හරි පීරලා උෟ හොයාපල්ලා.. හ්ම්.. දැම්ම පිටත් වෙයල්ලා..''

ආරච්චි උන්නාන්සේ එසේ විධානය දුන් කල රැයිනිංහාමි වහා ඒ අණ පිළිපදිමින් ක්‍රියාත්මක වනු පෙනේ.

රතු නිලමේට කාත්කවුරුවත් නැති නිසා මිනිය අමුණට යාබදව වළලා දැමීමට ආරච්චි උන්නාන්සේ විසින් නියම කරන ලදී.



කෙටිහාමි සහ තවත් කිහිපදෙනෙකු විසින් පරණ පැදුරු කඩමාල්ලක ඔතාගත් රතු නිලමේගේ මිනිය අමුණට ඉහළින් වූ දොඹ ගහ මුල වළලනු ලැබිණි. වළ වැසූ පසු කෙටිහාමි අරලියා අත්තක් සොයාගෙන විත් ඒ පස්ගොඩේ සිටුවූයේ ය.

''කවුරු උණත් ඒ මනුස්සයා දැං අපි අතරිං වෙන් වෙලා ගිහිල්ලා ඉවර යි. පාංසුකූලයක් දීලා වළදාන්න තිබුණ නං තමයි හොඳ. ඒත් ආරච්චි උන්නාන්සෙ එහෙම දෙයක් නොකිවූ එකේ අපිට ඒක කොරන්න බෑ නෙ. රතු නිලමෙ උන්නාන්සෙ ජීවත් වෙලා ඉංදැද්දි මොනවා කොළත් දැං උන්නාන්සෙ ඉරණං ගමන ගිහිං ඉවර යි. පිහි ඇනුං පාර කන වෙලේ හරි කොරාපු හොඳ-නරක සිහි වෙන්න ඇති නෙ උන්නැහේට. හොඳ තැනක උපදින්න ය කියලා අපි හිතිං හිතමු.. අපිට කොරන්න පුළුවං ඒක නෙව.. හත්දොහේ ගණං බලලා දානෙ වේලක් උයා-පිහාගෙන ගිහිං පංසලට පූජා කරන්න හිත්ගත්තා මං.. හැකි උං සම්මාදං වෙයල්ලා..''

කෙටිහාමි එසේ කී අතර ටික වේලාවකින් පිරිස එකා දෙන්නා එතැනින් සමු ගෙන ගෙවල් දෙසට යන්නට වූ හ. ඉතිරි වූයේ කෙටිහාමිත්, කෝඳුරුහාමිත් ය. ඔවුන් එසේ ඇන තබාගෙන සොහොන ළඟ උන් අතර කෝඳුරුහාමි ඉකිගසන්නට වූයෙන් කෙටිහාමි ඔහු දෙස බැලී ය.

''ඊයෙ රාත්තිරි ඉඳං අපේ මදුහාමි කෙල්ල ගෙදර නෑ රත්තරං කෙටිහාමි අයියේ...''

''හත්ඉළවුවේ! ඒ වගක් කියන්න එපා යි...''

කෙටිහාමි පස්ගොඩට වැඳ නැගී සිට කල්පනා කළේ ය. ඔහුගේ කල්පනාව හරි නම් සිදු වී ඇත්තේ එය විය යුතු ය.

''මගේ හිතේ යං අනුමානයක් තියෙනවා.. ඉස්සෙල්ල ම ඒක බලලා ඉම්මු...''

''උඹට පිං සිද්ධ වෙනවා අයියේ.. මගේ ඔළුව දැං මැඩුවං ගොඩක් වාගේ... හැම තැන ම ඉහිරිලා... කෙල්ල කොහෙ ද ඇත්තේ කෙටිහාමි අයියේ?''

කෙටිහාමි, කෝඳුරුහාමි ද පෙරටු කොට ගෙන අමුණ ළඟ වේලි

කණ්ඩියෙන් ගොඩ වී, අරඹේ වූ පාළුවාගේ ගේ දෙසට යන්නට විය.

අද දිනයේ අමුණ අසලට මුළු ගම ම ආව ද පාළුවා ඇවිත් නොසිටීම ද කෙටිහාමිගේ සැකය තව-තවත් තහවුරු කරගැනීමට හේතුවක් විය. එහෙත් එසේ අරඹ ඔස්සේ ඇවිත් කඩුල්ල පනින්නට වූවා පමණි. උල්පිහියක් දිගු කරගත් පාළුවා කෙටිහාමිටත්, කෝඳුරුහාමිටත් තර්ජනය කරන්නට වූවේ ය.

''කඩුල්ල පැනලා මිදුලට ආවොත් අම්මපල්ල බලන්නෑ කවුද කියලා. මනංසිස්සෝ වගේ මාත් බස්සනවා පිහිය...''

කෙටිහාමිත්, කෝඳුරුහාමිත් වහා නතර වූ හ. ඔවුහු පුදුමයට පත් වි හිඳිති. ''අපි ආපහු යමු කෙටිහාමි අයියේ..'' යි කියමින් කෝඳුරුහාමි පසු බැස්සේ ය. කෙටිහාමි පාළුවා ගැන දනී. ඔහු සෙමෙන් කතා කරන්නට විය.

''ඈ බං පාළුහාමි, තරහකාරෙකුට උණත් තමුංගෙ ගෙරදට ආහම ඔහොම පිහි උලුක් කොරනව ද? කෝඳුරුහාමිලාගේ කෙල්ල කොහෙට ද වහං වෙලා.. අපි මේ ගෙයක් ගෙයක් ගානෙ ඒකිව හොයාගෙන යන ගමං මෙහෙටත් ගොඩ උණේ..''

කෙටිහාමි තව අඩියක් ඉස්සරහට එද්දී පාළුවා යළි කෑගැවේ ය.

''කෙල්ල දෙන්නෑ.. ඉස්සරහට එන්න එපා.. කෙටිහාමි මාමේ.. මේක ආඳා මාළු කපන පිහිය..''

කෙටිහාමි කෝඳුරුහාමිගේ මුහුණ බැලුවේ ය. කෝඳුරුහාමි බෙහෙවින් බියට පත් වී හිඳී. තව දුරටත් කතා කළ යුත්තේ තමා ම බැව් දත් කෙටිහාමි සාමාන්‍ය පරිදි කතා කරන්නට විය.

''ඔන්න ඔහොම නේන්නං තමුංගෙ ගෑනි බලාගන්න ඕනි. මං දැනං උන්නා පාළු පුතේ.. මං දැකලා තිබුණා කුඹුරු කොටන ගමං උඹ මුගේ ගේ දිහා බලා ඉන්න හැටි.. අමුණේ වළේ නාන ගමං ඒකිත් දුරින් දුරට උඹේ කුඹුර දිහා බලා ඉන්න හැටිත් මං දැකලා තිබුණා. කරදරයක් වෙන්න යන වෙලාවේ ඒකි දුවගෙන ඇවිත් තියෙන්නේ ඒකිට විස්වාසවන්ත ම තැනට නේන්නං.. කෙල්ල බලාගනිං පාළුහාමි.. ඔන්න ඔහොම ම බලාගනිං.. ඒකි අම්මත් නැති කෙල්ල. මාව මායිං කොරන්න ඕන්නෑ. එත් මේ ඉන්නේ දැං උඹේ



මාමණ්ඩි. පීහෙ පැත්තකට විසික්කා කොරලා මාමණ්ඩිට කතා කොරපං.. ආසිරිවාදෙ ගනිං.. වෙනදට වඩා හොඳට අද්දර කාරිය සුද්ද කොරලා හෙම කුඹුරෙ වැඩ පටංගනිං..''

පාළුහාමි තරමක් වේලා බලාගෙන සිටියේ ය; පිහිය සහිත ව උලුක් කරගෙන උන් අත පහළ දැමී ය. ඒ අතර ගේපැල තුළ හිඳ කෑ ගසාගෙන ආ මදූහාමි විලාප දෙමින් කෝඳුරුහාමි ළඟ බිම වැඳ වැටුණා ය.

''රත්තරං අප්පුච්චෝ.. මට වෙන කොරන්න දෙයක් තිබුණේ නෑ අප්පුච්චෝ.. මං ඊ කළුවරේ ම වැටිවැටී අරඹ දිගේ මෙහෙට ආවා මගේ අප්පුච්චෝ.. රාත්තිරි කුඹුරු යායෙන් බැහැලා එද්දි මං දුටුවා අප්පුච්චෝ උඹ රතු නිලමේ ඇත්තගේ කුඹුරේ පැලේ බුදියාන ඉන්නවා.. මං දුර ඉඳං උඹට වැඳලයි ආවෙ මගේ අප්පුච්චෝ..''

ඈ එසේ බිම වැටී විලාප දෙද්දී වැවර ගෙඩියේ ඇස්ස කපා සිදුරු කරන කලක මෙන් කෝඳුරුහාමිගේ දෑසින් කඳුළු එළියට පැන්නේ ය. ඔහු දෑස් පිසදාගෙන මදූහාමි නැගිට්ටුවේ ය.

පාළුවා ද සෙමෙන් සෙමෙන් සරමේ කැසපට ලිහා මාමණ්ඩිය අසලට ගාටන්නට විය. කෙටිහාමි මුවග සිනා සහිත ව ගෙපිළට ගොඩ වී බුලත් වට්ටිය අතට ගත්තේ ය.

''ඈ බං මදූහාමි කෙල්ලේ.. තොපි ඉන්නෙ පුවක් අරඹකනේ බොල.. කෝ මේ විට වට්ටියෙ පුවක්..?''

මදූහාමි කඳුළු පිසදා නැඟී සිටියා ය.

''අර යකුහනස්ස පඳුර ගාව රබ්බඩ වැටිලා තිබුණා මාමේ.. හිටහං මං අරං එන්නං..''

ඈ ඒ දෙසට දුවන්නට විය. කෝඳුරුහාමි ද විට කෑම සඳහා ගෙපිළ වෙත ආවේ ය. පාළුවා මිදුලේ වූ බුලත් වැලෙන් කොළ කිහිපයක් කඩාගෙන විත් විට වට්ටියට දැම්මේ ය.

* * *

දිගු මෝල්ගහක් තරම් වූ ලීයක් හරහට තබා, එහි මතං

ගැටගසා කුඹුරු යාය ඔස්සේ ඔහු සිඤ්ඤෝගේ දෑත් දිගහැර ගැටගසා කුඹුරු යාය ඔස්සේ ඔහු රැගෙන යන මිනිස්සු කිහිප දෙනෙකි. කළු කබා සහ දිගු කලිසම් ඇඳගෙන තුවක්කු අතින් ගත් කොච්චි රාලහාමිලා දෙදෙනෙක් ද ආරච්චි උන්නාන්සේගේ අතවැසියෝ ද ඒ අතර හිඳිති. ගමේ මිනිස්සු තැන්-තැන්වල රැඳී ඒ ජවනිකාව දෙස කම්මුලේ අත ගසාගෙන බලාගෙන හිඳිති. කෙටිහාමි සහ පිච්චි ද කඩුල්ල අසල හිඳ ඒ දෙස බලාගෙන සිටියහ. කෙටිහාමිගේ කුඹුරේ ඒ ලියැද්ද අසලින් යද්දී මනංසිඤ්ඤෝගේ දෙපා නතර විණි. ඔහු සුසුමක් හෙළා කෙටිහාමිලා දෙස ද බැලුවේ ය. කෙටිහාමිත් පිච්චිත් අනුකම්පාවෙන් යුතු ව මනංසිඤ්ඤෝ දෙස බලාගෙන සිටියහ. ආරච්චි උන්නාන්සේගේ අතවැසියෙකුගෙන් ලත් පා පහරක් හේතුවෙන් මනංසිඤ්ඤෝ යළි [illegible]මෙන් කරන්නට විය. පිරිස අමුණ දෙසින් නොපෙනී ගිය අතර ඒ පිටුපස ටික දුරක් ගමන් කළ කෝඳුරුහාමි අමුණ උඩ නතර වී ඔළුවේ අතගසාගෙන ඉඳගන්නවා දුටුවෙන්, කෙටිහාමි කඩුල්ල පැන අමුණ දෙසට දුවන්නට වූයේ ය.

* * *

කාලය ගලාගෙන යන්නේ ගොයම් කපා පාගා සුළඟට අල්ලන කල ගසාගෙන යන කාටුව රොඩු වාගේ ය. සිදුවීම්වල දුක හා සන්තෝෂය පිරී මතකය ගමේ උන්ගේ හිත්වල ඉතිරි වන්නේ සුළඟට ගසා නොයන බැත මෙනි.

අස්වනු කපා - පාගා බැත මනින දා සුපුරුදු සේ වලවුවේ ඇත්තෝ යායට පැමිණ සිටියහ. ගබ්බෙල උන්නැහේ කුඹුරෙන් කුඹුරට ගොස් වී මැනීම් පරීක්ෂා කළ අතර, මෙවර අස්වැන්න වෙන දාට වඩා සරු වී ගියෙන් බිංපංගු කොටස ද කලින් යල්වලට වඩා වැඩි විය. බිංපංගු මලු ඔසවා වලවුවට ගෙනිහින් දුන් දා සවස දාවිත්ලා ගමේ තරුණ කාණ්ඩය සමඟ එක්කාසු වී හෙළඋඩ කන්දේ ගියහ. එසේ ගිය දාට උන් යළි එන්නේ මධ්‍යම රාත්‍රියේ ය.

කෙටිහාමි සන්ධ්‍යාවේ කමතේ මැඩුවන් ගොඩ උඩ ඉඳගෙන උන්නේ ය. අස්වනු පාගා මෙසේ බිංපංගුව දී ආ දා සවසට ඔහුගේ සිතට මහා සාංකාවක් දැනේ. මෙදින ද එය එසේ ම ය. පා රස්නයෙන්



හුරතල් වුණු ඒ අලුත් ම තෙත් වී ඇටවල සිහිල ඔහුගේ සිතින් ඊළඟ පල දක්වා ම මැකී නොයයි. ඔහු තමාගේ පාද දෙස බලා සිටියේ ය. මේ කාලය තුළ දී ඒවායේ නියපොතු මඩ කහටින් රත් පැහැ ගැන්වී තිබේ. දැන් හරියට ම ඒවා සිය පියාගේ පා නියපොතු සේ ය. හොඳ ගොවියෙකුගේ නියපොතු එසේ බැව් සිතෙන විට සිත ආඩම්බරයකින් පිරී ගියේ ය. ඔහු සෙමෙන් හිස ඔසවා දුර මාදම්පේ වතු යාය දෙස බැලී ය. කන්දේ දලු නෙළන උන්ගේ තිත් ඡයා පෙළ කඳු මුදුනට ම ගොස් තිබේ; දුරට පෙනෙන්නේ ගිනි පෙට්ටියේ කූරු වාගේ ය.

කොකුන් කිහිප දෙනෙක් කුඹුක් ගස් මුදුන්වල වසා හිඳිති. කුඹුරු යායේ තමා පමණි. අන් සියල්ලෝ ම තම අස්වනු කොටහ රැගෙන ගෙවල්වලට ගොස් ය. දොළ ළඟට ආ පිච්චි ඔහු අමතනු ඇසුණෙන් කෙටිහාමි දොළ දෙසට පියමං කළේ ය.

''ආං කවුදෝ මං දන්නෑ ගැටව් වගයක් ඇවිදිල්ලා, ගමරාල දොරේ ඉන්නව ද' අහනවා. කවුද මං දන්නෑ..''

ඔවුහු ගේ දෙසට ආ හ. කඩුල්ල අසල මින් පෙර දැක නැති තරුණ පහේ පිරිමි ළමයි කිහිප දෙනෙකි. කෙටිහාමි ඔවුන්ට ළං වුණේ ය.

''කාව ද බැලුවේ මේ ළමයි...?''

ඉන් එක් තරුණයෙකු අත තරමක් ලොකු දුඹුරු පැහැති කඩදාසි මුළකි. හේ අඩියක් ඉස්සරහට විත් කැඩුණු සිංහලෙන් කතා කරන්නට විය.

''අපිලා මාදම්පෙ වත්තේ තමා වැඩ කරනවා.. ගමරාල දොරේට මෙව්වා දෙන්න කියලා කීවා අපේ අප්පා.. අප්පලා - අම්මලා මේට එන දවසේ ගමරාල දොරේ කෑම දුන්නා ලු.. මේවා උණු වතුරේ දාලා තේ තන්නි හදාගෙන බොන්න පුළුවං...''

කෙටිහාමි මහත් පුදුමයකින් යුතු ව ඒ පැස අතට ගත්තේ ය. අමුතු සුවඳක් ඉන් නික්මිණි. අසා තිබුණාට ඔවුන් කිසි දාක තේ කහට වතුර වී තිබුණේ නැත. පිච්චි ද පුදුම වී බලා සිටියා ය. තරුණයෝ යෑමට සැරසුණහ.

''අපි යන්නං ගමරාල දොරේ...''

''හිටපල්ලා ළමයිනේ.. වී ටිකක් අරං පලයල්ලා...''

කෙටිහාමිත් පිච්චිත් ඉක්මන් ගමනින් ගේ දෙසට යන්නට විය.

* * *

ඔවුහු ඒ අපූරු තේ කුඩු උණු දියේ දමා, පොල්කටුවලට වක්කරගෙන කටින් පිඹ බොන්නට වූ හ. ඊට තදින් ම ඇබ්බැහි වූ කෝඳුරුහාමි කහට රසින් යුතු වූ ඒවා බීමට සැම සැන්දෑවකට ම වාගේ කෙටිහාමිලාගේ ගෙදරට එන්නට විය. ඒ පුවත ගම පුරා පැතිරී ගිය අතර, කල් යත් ම පොළෙන් තේ කුඩු මුල් ගෙනැවිත් උණු කරගෙන බීමට ගම්මු පුරුදු වූ හ.

* * *

කුඹුක් පැළ මහ දැවැන්ත ගස් බවට පත් වූ නිසාත්, පුංචි දාවිත්ලා ගජ ඉලන්දාරීන් බවට පත් වූ නිසාත් කාලය බොහෝ දුර ගමන් කර ඇති බැව් පැරැන්නන්ට වැටහෙන්නට පටන්ගෙන තිබුණි. මෙතුවක් මොහොතින් මොහොත ගලාගෙන ගිය කාලය යලෙන් යලට මාරු වී තිබුණේ ය. ඊයේ බලද්දී දූව පැන ඇවිදපු කෙල්ලන් අද බලද්දී බඩින් ය. උන්ගේ විලිරුදා හඬ යටපත් වූයේ පිච්චිහාමිගේ කරුණාබර හඬිනි. ඕ 'ඉවසහං කෙල්ලේ.... ඉවසහං මයෙ අම්මා.... තව ඩිංගිත්තක් තටමහං මයෙ රත්තරනේ....' යි කියමින් ගැහැනු දෙකකුල් මුලින් පොඩි පැටවුන් දෝතට ගෙන, සිනා මුවින් ලොවට පෑවා ය.

දාවිත්ගේ පලෝලේ උන්ට කෙල්ලන් වුවමනා වූයෙන් උන් ගස් ගල් යට කල් ගත කරමින්, තොටුපළ මංකඩවල රැක හිඳමින් තමුන් කැමති කෙල්ලන් වසඟයට ගත්හ.

කිසිදු දෙයක් සිදු නොවන තැනක දී පවා එක ම එක දෙයක් සිදුවන බව ස්ථිර විය.

ඒ කාලය වේගයෙන් ගමන් කරන බවයි.

# 13

වරෙං වරෙං සුළන්නේ..........
සුළං සුළං වරෙන්නේ..........
අපිව බලා යන්න වරෙන්නේ..........
පැටවු බලා යන්න වරෙන්නේ..........

මීදුලේ වේළෙන වී මාගල මත රවුමට ඇවිදින කෙටිහාමි එසේ ඇවිදින ගමන් කවි කියමින් එක් කකුලක් වී මත පරිස්සමින් ඇදගෙන යන්නට විය. එවිට පැදුරේ යට තිබූ වී සීරුවෙන් උඩට මතු වෙයි. දාවිත්ගේ පුංචි කෙල්ලන් වූ මැංචි, මැයිහාමි සහ රංසෝ ද එසේ ආතා පසුපස මාගලේ වූ වී කානුව දිගේ ගමන් කරති. ඔහු සුළං කවිය නතර කර සිනා සී, මිනිපිරියන්ට කතා කරයි.

"වී බිම හලන්න නං එපා මී පැංචියනේ.."

දාවිත්ට කැන්දන් ආවේ හෙළඋඩ කන්දෙනි. ගමේ තරුණ කාණ්ඩය එක්කාසු වී විනෝදයට කිතුල් රා බොන්නට හෙළඋඩ කන්දේ ගිය දාක ඔවුන් දැන-හඳුනාගෙන තිබිණි. දාවිත් පිච්චි වාගේ සුදු පැහැති වන අතර, ඔහුට කෙටිහාමිට වාගේ පටු නළලක් තිබුණේ ය. දාවිත්ලා දැන් වෙසෙන්නේ කෙටිහාමිගේ නිවෙසට යාබද ව තනාගත් පිදුරු සෙවිලි කර මකුළු ගෑ නිවෙසේ ය.

"කොහෙන් ද කිරි ආතෙ හුළං එන්නෙ?" යි ලොකු කෙල්ල වූ මැංචි ඇසූ කල "ආං අර පේන මාදම්පෙ කන්දෙන්" යැ යි කෙටිහාමි උත්තර දුන්නේ ය. ඒ අතර පිච්චි කෙටිහාමිගේ කහට පොල්කටුව රැගෙන කඩුල්ල අසලට ආවා ය. කෙටිහාමි බෙහෙවින් කැමැති වූයේ තද කළු කහට බීමට ය.

"ඕං කහට වක්කොළා... හිංචියනේ උඹලා ඉතින් කහට බොන එකක් යැ. මේං උඹලට වැලි හකුරු. මූණෙ ගාගන්නෙ නැතුව කාහල්ලා."

ඈ පොල් කටුවක වූ වැලි හකුරු ගෙන කෙල්ලන්ගේ පුංචි අත්වල තැබුවා ය. කෙටිහාමි කහට උගුරක් පානය කරමින් ඇත මාදම්පේ

කඳු දෙස බැලී ය. කඳු මුදුනේ තේ දලු නෙළන දෙමළ කාන්තාවන්ගේ දසුන් පුංචි තිත් සේ කඩුල්ල ළඟට පෙනේ.

ඒ අතර අමුණ දෙසින් ඇසුණු අණබෙර සද්දයක් හේතුවෙන් එය විපරම් කළ කෙටිහාමි පුංචි උන් සමඟ අමුණ දෙසට දුවන්නට විය. පිච්චි ද කුස්සියෙන් මිදුලට බැස විපරම් කළා ය. ගෙයි සිටි දාවිත්ගේ වැඩිමලා වූ ගැටවර නන්දෝරිස් ද උරුහම්බාමින් ගෙන් එළියට අවුත් අමුණ දෙසට දිව්වේ ය. ගංගොඩැල්ලේ අන් පිරිස් ද අමුණ අසලට එක් වූ අතර, අමුණ උඩ හිටගත් අණබෙරකරු පිරිස දෙස බලා ශෝකී මුහුණක් මවාගත්තේ ය. සුදු ආණ්ඩුවෙන් සිමෙන්ති දමා තැනූ අමුණු බැම්ම දූන් පෙරටත් වඩා උස ය.

"අසව්... අසව්... අසව්... අටකළං කෝරලේට දෙයියන්නාන්සේ කෙනෙක් වාගේ ම වූ අහල හැම ගංගොඩැල්ලකට ම ඉස්ට කෙනෙක් වාගේ ම වූ අපේ අන්ත්‍රෑකුරුප්පු දේවතාවුන් වහන්සේ කෙනෙක් වාගේ ම වූ අපේ අන්ත්‍රෑකුරුප්පු ගාර්ලිස් ආරච්චි උත්තමයාණන් වහන්සේ අද උදේ පැයේ දී පපුවේ අමාරුවක් හැදී මිය-පරලොව වැඩම කෙරුවැයින් ඒ මහා අවමංගල උස්සවේට රත්නපුර රට මහා ඒජන්ත උන්නාන්සේගේ පටන් සුදු මහත්තුරු, සුදු නෝනාමහත්තුරු ඇතුළු ලොකු ලොකු උදවිය අතර ඉද්දමල්ගොඩ, මහවලතැන්නේ, ඇලපාත, එක්නැලිගොඩ, එල්ලාවල, මොලමුරේ ආදී රදල උතුමන්ලා සැපත් වෙනවා ය. එහෙම සැපත් වී හිස නමා අවසන් ගවුරව දක්වනවා ය. අද පටන් මේ දින ටිකේ ගොයිපළවල්වල කොයියම් ම විදියකින් වත් වැඩකටයුත්තක් නොකළ යුතු අතර, කොටින් ම උදැල්ලක් අතින් අල්ලන්නට තරම හිතන්නේ නැති ව, පවුල්වල පිරිමියාගේ පටන් වැඩ කළ හැකි ඉලංදාරි, ගෑනු, ළමිස්සියෝ දක්වා සේරම උං කාංඩ හැදී හෙට උදෑහැනැක්කේ ඉඳලා හත් දොහේ බණ දානේ අහවර වන තැන් දක්වා වලවුවට පැමිණ ඒ ඒ කටයුතුවලට අතගසා බලා-කියා කටයුතු කොරන ලෙස දන්නා සිටිනවා ය..."

අණබෙරකරු එසේ සිය රාජකාරිය නිමා කළ පසු එය ගම්මුන්ට මාස ගානක් කතා කිරීමට තරම් මාතෘකාවක් බවට පත් විය. ඔවුහු වලවුවට යෑමට නොයිවසිල්ලෙන් පසු වෙති. මොන තරම් වැඩ කන්දරාවක් තිබුණත් ඒ වාගේ කටයුත්තක දී බඩ-කට පුරා බත් කන්නට ලැබෙන බව ඔවුහු දනිති. ගැහැනු ළමිස්සියන්ගේ මේ උනන්දුව



එනවා ය කියූ සුදු නෝනාමහත්වරුන්ගේ ඇඳුම්-ආයිත්තම් විලාසිතා දැක-බලාගැනීමට ය. කෙටිහාමිට යම් ප්‍රශ්නයක් තිබේ. ඔහු සෙමෙන් බූලත් විටක් කමින් උන් අණබෙරකරු අසලට කිට්ටු විය.

"ආයිබංඩ... අපේ ගෙදර ගෑනු කෙනාට එන්න හැටියක් නෑ නේ... අසනීප ළමයෙක් ඉන්නව නේ ගෙදර. ඒකි තනියම දාලා කොහෙ වත් ම යන්නෑ අපි... අපේ ලේලිටත් ඉතිං මේ ඇබින්දන් හිරමණා තල දෙක තුන දාලා එන්න බෑ නෙව. මටයි මයේ පුතාටයි එතැකි. අපේ ලොකු මුනුබුරත් ඉලංදාරියා..."

ඔහු එසේ කීවේ අසල උන් නන්දෝරිස් දෙස බලමිනි.

"හ්ම්... ආං එහෙම කලිං දනුං දීලා තියන-එක හොඳයි. නැත්තං ඉතිං දන්නව නේ ආරච්චි උන්නාන්සෙගෙ පුත්‍රයා වීරවන්නි අප්පොගේ තරම? උන්නැහෙට ආරංචි වෙලා ගෙවල් කීපයක ම රජ පවුලේ පිංතූරේ ගලෝලා කියලා. ඒකටත් විස්සෝප වෙලා ඉන්නේ..."

අණබෙරකරු එසේ කියා බූලත් විට මඩිස්සලය ඉණේ ගසා ගත්තේ ය.

ගමේ ගෙවල් කීපයක ම රජ පවුලේ පිංතූරය ගැලෙවුවත් කෙටිහාමි එසේ නොකළ-එක ගැන හේ සැහැල්ලු සුසුමක් හෙළුවේ ය. ඔහු සිදුහත් කුමාරෝත්පත්තිය පින්තූරය එල්ලුවේ රජ පවුලේ පින්තූරය නොගලවා, ඊට මඳක් ඉහළිනි.

* * *

පණිවිඩය අනුව පසු දා උදයේ ම ගම්මු කාණ්ඩයක් වශයෙන් සැදී වලවුව කරා ගියහ. ගමනට ගෙබෝහාමි, අයඩිංසිඤ්ඤෝ, ගොරකහාමි, රුයිනිංහාමි, නිදුක්හාමි, මතෙස් සිඤ්ඤෝ, සම්බුලාහාමි සහ උන්ගේ පවුල්වල උන් ද එක් වී සිටි අතර පාළුවා සහ ඔහුගේ ගැහැනිය වන මදුහාමි ද ළමයි ද ඊට සහභාගි වූ හ. කෙටිහාමිලාගේ පවුලෙන් කෙටිහාමි සහ දාවිත් එක් වූ අතර,

නන්දොරිස් ගැටවර කාණ්ඩය සමඟ එකතු විය. ගැටවර කාණ්ඩය වැඩිහිටියන් එන තුරු උඩපිඟාන කුඹුරු යාය ඉස්මත්තේ ඉන්නම් කියා උදයේ ම පිටත් වී තිබිණි.

මේ කාණ්ඩයට අයත් වූ පාළුවාගේ හා මදුහාමිගේ දියණිය රොසලින්ට උරුහම් බාන්නට උගන්නන්නම් කියා නන්දෝරිස් පොරොන්දු වී දැන් දවස් ගානකි. එහෙත් ඒකට කාලයක් ලැබුණේ ම නැත. කාලයක් පමණක් නො ව, ඊට සුදුසු වාතාවරණයකුත් වුවමනා වේ. හේ මේ ගමන ඊට අවස්ථාවක් කරගති. ගැටවර පිරිසකගේ එක්කාසු වීමක් නිසා ගමන මහත් විනෝදයකි. සමහරු වැඩිහිටියන් එන මග විපරම් කරමින් ජෝඩු වශයෙන් එක්කාසු වී ගඳපානා අකුල්වලට රිංගූ හ.

ඒ විසල් වලවුවේ පිටුපස තනා තිබූ තාවකාලික මඩුවල වී කෙටීම, හාල් පෙළීම්, පොල් ගෑම් සිදු විණි. ළිප් තනා තිබුණේ වෙන ම මඩුවල ය. ගැහැනු-පිරිමි එක පුමේට වී කොටති. හාල් පොළති. ළමිස්සියෝ ශූනු සුද්ධ කළහ. ඔවුන්ගේ දෑස්වලින් කඳුළු වැහෙයි. නන්දොරිස් හාල්මැස්සන් කඩන ගමන් රොසලින් දෙස බැලුවේ ය. ගඳපානා ගාලේ දී උරුහම්බෑම් පුරුදු-පුහුණු කිරීම දුරදිග ගොස් සිදු වූ දේවල් සිහි වී දෙන්නාට ම බකස් ගා සිනා යයි. මදුහාමි රොසලින්ට රැව්වා ය.

ඉවුම-පිහුම් කටයුතු බාර ව උන් ගබ්බෙල උන්නැහේ වී ගබඩාවෙන් වී මැන රැගෙන එන ලෙස බාර කළේ කෙටිහාමිට සහ දාවිත්ට ය. කෙටිහාමි සහ දාවිත් වලවුව පිටුපසින් ඇතුළු වී ඒ මහා වී ගබඩා ගේ වෙත පිවිසුණහ. කෙටිහාමිගේ පපුව හිරි වැටී ගියේ ය. දාවිත් ද කට ඇරගෙන බලා හිඳී. ඒ විසල් ගබඩා ගේ පුරා වී මලු සිය දහස් ගණනක් තිබිණි. කෙටිහාමි වී මලු අසලට ගොස් වී මලු අතගෑවේ ය. ඔහු එසේ අතගා එක් මල්ලකින් වී අහුරක් ගෙන බලා මුවට ළං කළේ ය.

"අපේ යායෙන් ගෙනා මඩතවාලු වී..."

දාවිත් ඇස්දෙක ලොකු කරගෙන පුදුම වී හිඳී.

"මෙවුවා පුස් කන්නැද්ද අප්පුච්චේ...?"



කෙටිහාමි කරබාගෙන ම වී මලු අතගෑවේ මහත් සෙනෙහසකිනි. ඔහුට දැනී ඇත්තේ ළඟ ම ඥාති පිරිසක් මැද්දට ආවා වැනි හැඟීමකි. තමන් පමණක් නො ව, ගමේ අන් මිනිසුන් ද වී හිඟය නිසා බඩගින්නේ උන් වාර සිහි වී කෙටිහාමිගේ හිතේ දැවිල්ලක් හටගත්තේ ය. ඒ වී හිඟ කාලවල පිරිමි කාණ්ඩ එක් වී මහ කැලේ කටු අල ගලවන්නට ගොස් විඳි පීඩා ඔහුට සිහි විය. ඒ කාලවලට ගංගොඩැල්ලේ නොදරුවන් "බත් දියන්... බත් දියන්..." කියා කෑගසන හඬවල් ගමේ බොහෝ කුස්සිවලින් ඇසිණි. කෙටිහාමි සෙමෙන් සුපුරුදු සිනාව පා වී මලු යාය දෙස බලා එකිනෙක මලුවලින් වී අහුරු ගෙන පිරිමැද බලන්නට වූයේ ය.

"පච්ච පෙරුමාල්... කුරුලු තුඩ... මා වී හෙමත් තියේ... මේක මේ ඇත්තන්ගේ වාසනාව ළමයෝ... අපි ඒ ගැන ඊට වඩා දෙයක් නොහිතා ඉන්න පුරුදු වෙන්න ඕනි..."

එසේ කියූ හේ යළි සිනා සෙන්නට විය. ඔහු හිල් වුණු වී මල්ලක් අසල නතර වී එය පිරික්සා බලා, තම කරෙහි වූ රෙදි කැල්ලෙන් කොටසක් ඉරා, වී මල්ල ඇතුළෙන් අත දමා රෙදි කෑල්ල එතැනට සිර කළේ ය. දැන් එතැනින් වී ඉහිරෙන්නේ නැත. දාවිත්ට සිය පියා පිළිබඳ පුදුම සිතිණි. එළිය දෙසින් ගබ්බෙල උන්නැහේගේ කටහඬ ඇසුණෙන් ඔවුහු වහා වී මලුවලට වැඳ, මලු ඇල කොට හිස් මලුවලට වී පුරවන්නට වූ හ.

* * *

වත්ත පහළ කෙසෙල් වළවල් කිහිපයක් කපා ගෙදර ආ කෙටිහාමි උදැල්ල ගේ පිටුපස බිත්තියට හේත්තු කොට "ගුණාදරියේ... මයෙ කෙල්ලේ" යි කියාගෙන ගේ දොර ඉඳගත්තේ ය. හැන්දෑවට දවසේ විස්තර ගුණාදරීට ඇසෙන්නට රසවත් කොට කීම දැන් බොහෝ කාලයක සිට පුරුද්දක් හැටියට සිදු වන්නකි. ගුණාදරී හූමිටි තබන්නේ නැත; ඒත් ඒ විස්තර ඉතා කැමැත්තෙන් අසා ඉන්නා අතර බොහෝ තැන්වල දී සිනා සේ. ගේ අඳුරු මුල්ලට වී ඉන්නා ඇය සිය පියා මෙසේ කතා කරන්නට වන තැන දී පමණක් මඳක් අඳුරෙන්

එළියට විත් දොර අසලට එයි.

කතා කිරීම ඒ සන්දියේ සිට ම ඇය වෙතින් මඟහැරී ගොස් තිබිණි.

"ගුණාදරියේ... මයෙ සූටියෝ... ඕං අද පාංදරින් මං කුඹුර දිහාවට යද්දි අතරමං වුණු නරි නාම්බෙක් ලියැදි පෙළ හරහා දුවගෙන ඇවිත් ගොඩපර ගහ දිහාවෙන් කැලෑ වැදුණා... හා... හා... බය වෙන්න කාරි නෑ. උංදෑ මේ පැත්තට එන්නෑ... ආ... දවාලියේ අර නිදුක්හාමිට අමුණ ළඟ වැලි අහක්කොරද්දි හම්බු වෙලා තිල් ම තිල් පාට රවුම් ගලක් බෙලි ගෙඩියක් තරං... උංදෑ ඒක ගබ්බෙල උන්නැහේට පෙන්නලා. පස්සෙං පහු ආරච්චි උන්නාන්සේගේ පුතා වීරවන්නි අප්පො ඇවිත් ඒක අරගෙන ගියාලු..."

කුස්සියේ උන් පිච්චි ද ඒ කතාවට හිස ඔසවා බැලුවා ය.

"මටත් හම්බුණා නෙව මැණික් ගලක්... මේං බලාපල්ලාකෝ..."

කෙටිහාමි එසේ කියද්දි එය බැලීමට පිච්චිහාමි ද කුස්සියේ සිට ආවා ය. කෙටිහාමි සිනාසී අතේ ගුළිකරගෙන උන් යමක් පෙන්වී ය. පිච්චිට එය හරිහැටි නොපෙනේ. එය ඉතා කුඩා එකකි.

"මොකක් ද බොලං...? මට නං පේන්නෑ..."

ඈ කෙටිහාමිගෙ අතට වඩාත් ළං වූවා ය. ඇයට ඒ පිළිබඳ නිච්චියක් නැත. ඒ කුඩා පබලු ඇටයකි. පිච්චි පුදුමයෙන් යුතු ව කෙටිහාමි දෙස බැලුවා ය.

"බොලංට මතක නෑ පිච්චියේ... මතක ද කොළ දිවියා පැන්න දා කෙල්ල අතේ බැඳගෙන නටනටා උන්නු පබළු වැල... ඊට පස්සේ අපි ඒ ඉහිරිච්චි පබළු ඇට අතුගාලා දැම්මේ... පහළ කෙහෙල් වළක් කපද්දි මේක මතු උණානේ පොළොව යට තිබිලා... මයේ අම්මේ... කොයි කාලේ එකක් ද...?"

පිච්චිගේ කල්පනාව මහා දුර ඈතට විහිද යයි. ඇය ඉවත බලා මදක් කල්පනා කළා ය.

"හ්ම්... කල්පනාවට නොගත්තාට මහ හුඟ කාලයක් ගතවෙලා... උඹලා මොකට ද ඕක අහුලං ආවේ? විසික්කා කොරලා දාපල්ලා... කෙල්ලට ඔන්න ඔය වෙන මොනව හරි කියාපල්ලා. ඕකි දවස ම



උන්නෙ සාංකාවෙං..."

එසේ කී පිච්චි යළි කුස්සියට ගියා ය. කෙටිහාමි පබළු ඇටය අතේ ගුළි කරගෙන යළි සැහැල්ලු ලෙස සිනා සී කතා කරන්නට විය.

"හාං ඉතිං මයේ කෙල්ලේ... ඒ ඇරුණ ම අද උදේ වරුවේ කහ ම කහ සමනල්ලු මහ හුඟක කාංඩයක් ඉගිල්ලුණා කැලේ දිහාවෙ ඉඳලා සිරීපාදේ දිහාවට. උං වන්දනා ගමනක් යනවා කියලා අවිච්චියන්ට වගක් වත් නෑ. උංට අවුරුදු වාගේ... අවිච්චියෝ අර අමුණ ගාව තියෙන සොහොන් අරලියා ගහේ පිපෙන මල් වාගෙ ළා කහ පාට සමනල්ලු කාංඩෙ කන්නෙ විනෝද වෙවී. ඒ ඉතිං උං බඩවල් පුරෝගන්න විදිහ නේ. මොක ද උංට පුළුවනෑ අපිට වාගෙ කුඹුරු වැඩ කොරාන කන්න...? හෙහ්... හෙහ්... ඔන්න ඔවුවා තමා ඉතිං අද දවසේ විසේස කාරණා..."

එසේ කී කෙටිහාමි යළි නැඟිට උදැල්ල රැගෙන වත්ත පහළ තැනක පුංචි වළක් කපා පබළු ඇටය වළලා දැමුවේ ය. එය පිච්චිගේ සිත රිද්දවූ බැව් දැනගත් ඔහුගේ සිත විස්සෝපයෙන් පිරී ගියේ ය.

# 14

නන්දෝරිස් සහ රොසලින් පෙරටු කරගත් මංගල පෙරහර අරඹේ පාළුවාලාගේ ගෙදර සිට අමුණ හරහා ඉන්නියර දිගේ දාවිත්ලාගේ දෙසට එන්නට විය. ගුණාදරී ගෙදර නිසා කෙටිහාමි නතර වී ගේ දෙසට එන්නට විය. ගුණාදරී ගෙදර නිසා කෙටිහාමි නතර වී පිච්චි ගමනට පිටත් කළා ය. කෙටිහාමි කඩුල්ල අසල සිට පෙරහැර දෙස බලාගෙන හිඳී. දාවිත් සහ බිරිඳ සුගුණාහාමිල්ලා ඉස්සරහින් එති. නන්දෝරිස් සහ රොසලින් ජෝඩුව ඊළඟට ය. පාළුවා, මදූහාමි සහ උන්ගේ පවුලේ නෑදෑයෝ කිහිප දෙනෙක් පසුපසින් පෙළට එති. පිච්චි මුල් වරට රෙද්දකින් ඔසරියක් වැනි එකක් ඇඳ සිටිනු දකින කෙටිහාමිට සන්තෝෂ සිතෙයි.

සේරොම වාගේ ගැහැනු ගෙදර තිබූ අලුත් ම පන්නයේ රෙදි හැට්ටා ඇඳගෙන හිඳිති. පාළුවා ද ජීවිතේ මුල් වරට බැනියමක් ඇඳ සිටියේ ය. මංගල පෙරහරේ පෙරමුණ ගෙන උපදෙස් සපයමින් කටයුතු කරන්නා රොසලින්ගේ මාමණ්ඩිය වූ නිදූක්හාමි ය. ඔහු මනමාලියගේ ඇඳුම්-පැළඳුම් සහ අඩුම-කුඩුම සහිත වේවැල් පෙට්ටිය ද ඔසවාගෙන එයි. දාවිත්ගේ දූලා ද අලුත් ම රෙදි හැට්ටා ඇඳ කොණ්ඩේ කට්රොල් මල් ගසාගෙන හිඳිති. නන්දෝරිස් ඉතා නුහුරු සේ ආරියසිංහල ඇඳුම ඇඳගෙන ඉන්නා අතර, රොසලින්ට ඔසරිය අන්දන්නට ආ ගොඩකවෙල සමරක්කුඩි මහත්මයාගේ නෝනා මහත්මිය ද මංගල පෙරහරේ ගමන් කරයි.

කඩුල්ල ළඟ ගැසූ ගොක්කොළ තොරණ සාදා දුන්නේ සම්බුලාහාමි සමග පෙළවහක් වී බින්න බැහැපු පැන්සහාමි ය. හේ තොරණට හතරැස් හැඩයට ඉංග්‍රීසි අකුරු ද එක් කර තිබිණි. කෙටිහාමි තොරණ සාදන වේලේ ඒ පිළිබඳ විමසූ අතර, පැන්සහාමි කියා සිටියේ එහි ඇත්තේ රත්නපුර ලොකු උදවියගේ මංගල්‍ය තොරණවලට යොදන 'වැල්කොම්' යන අකුරු බව ය. ඒවා ඉතා සුබ අකුරු බව හේ තව දුරටත් කියා සිටියේ ය.

මේ මංගල්‍යය පිළිබඳව කෙටිහාමිට ඇත්තේ නන්දෝරිස් තමාගේ මුනුපුරා කියනවාට වඩා වෙන ම සන්තෝෂයකි. නන්දෝරිස් සහ



රොසලින් ඇඳා ගම පුරා කටකතා පැතිරී යන්නට වුව ද දාවිත්ලා ඉන්නා නිසා කෙටිහාමි ඒ පිළිබඳ වැඩිපුර හොයා බැලුවේ නැත. එහෙත් පහුගිය දාක දොළ පහළ කැකිල්ල ගාලේ තැනක් සෙලවෙනු අහම්බෙන් දුකගත් කෙටිහාමි ඊට ළං වූයේ කවුරුන් හෝ විසින් ඇටවූ උගුලකට ඉත්තෑවෙකු වත් හසු වී ඇතැයි යන සැකයෙනි. එහෙත් කැකිල්ල ගාලේ සිටියේ නන්දෝරිස් සහ රොසලින් ය. කෙටිහාමි උන්ට එතැන දී ම අවවාද කළේ උන් බිම බලාගෙන ඉද්දී ය.

"උඹලගේ පඳුරු ගැන්නිල්ල අපට නතර කොරන්න බැරි වග උඹල දන්නවා... විසේසෙන් කෙල්ලේ උඹ බවලතියක්. ආසාවල් ඇති වෙනවා තමයි. ඒ උණාට සිහි කල්පනාවට ගනිං, ගොයම කපන්න කලියෙන් වී පාගන්නෑ. ඉස්සෙල්ලා ම ගොයම හොඳට පැහෙනකල් ඉන්න ඕනි. ඊට පස්සෙං පහු යි පැහුණු ගොයම කපාගන්නේ. ඊට පස්සෙ යි කැපූ ගොයම පාගලා අස්වනු එක්කාසු කොරගන්නේ. ඊට කලියෙං කුඹුරට පැනලා දඟලුවා ම මොකෑ වෙන්නෙ? ආයෙ කැපිල්ලට ගොයමක් ඉතුරු වෙන්නෙ නෑ... මේකා ඉලංදාරියා කොයියම්ම දේ උණත් මේකාට අමුණු වලේ එබිලා අමුඩ ලේන්සුව මිරිකලා ඒකෙන් ඉහ පිහදාගෙන ගෙදර යන්න ඇහැකි. හැබැයි උක්කුං කෙල්ලේ, උඹට ඒක එහෙම කොරන්න බෑ..."

නන්දෝරිස් රොසලින් යුවළ බිම බලාගෙන ම සිටියහ. කෙටිහාමි නන්දෝරිස් දෙස බලාගෙන කතා කරන්නට විය.

"රූව ලස්සනට තිබුණට, අඬගහපු පමාවට ආපු පළියට, අතපත ගාද්දී මද්දුවෙ මිනිස්සු හදාපු පුලුං කොට්ටා වාගේ හිනිඳුවට අතට දුනුණට බවලතියක් කියන්නේ කෙළිබඩුවක් නෙවෙයි නන්දෝරිස් පුතේ. එවුවා අපට කියා දුන්නේ පුරාණෙ උන්නු උතුම් මිනිස්සු. ඔය අකුල් ගැන්නිලා කොරන කාරිවලිං පස්සෙං පහුත් උඹට ඒකි උවමනයි වගේ හැඟෙන්න ඕනා... උඹට එහෙම හැඟෙනව ද?"

සෙමෙන් හිස ඔසවා ආතා දෙස බැලූ තරුණයා "ඔව්" යැයි අඟවා හිස වැනී ය.

"ආං හරි... මං උඹලගේ මහ උං එක්ක කතිකා කොරන්නං..."

එසේ කී කෙටිහාමි එතැනින් ඉවත් ව ගිය අතර, නන්දෝරිස් සහ රොසලින් තම තමාගේ ගෙවල් දෙසට දිව ගියහ.

මේ කටයුත්ත මෙසේ නොවුණා නම් ගමේ බොහෝ ළමිස්සියන් වාගේ රොසලින් ද අමාරුවේ වැටෙනු ඇත. ඉන් පසු ඇයට සිදු වනු ඇත්තේ ජීවිත කාලය පුරා මිනිසෙකුගෙන් ගුටි කකා ජීවත් වීමට ය. අද එසේ නැත. උන්ගේ චාන් මංගල්‍යය නිසා ගංගොඩැල්ල කලඑළි වී තිබේ. මේ කුඹුරු යාය හරහා මෙසේ මංගල පෙරහරක් යනු දැකීමට තමා කොතරම් ආසා කළා දැ යි කෙටිහාමිට කල්පනා විය.

කඩුල්ල දක්වා ආ මංගල පෙරහර කඩුල්ල පැන්න අතර, නව යුවළ කෙටිහාමිට දණගසා වැන්දා හ. රොසලින්ගේ පැත්තේ නෑදෑයෝ ද එසේ ම කළහ. කෙටිහාමි උන්ට 'සුවපත් වේවා... නිදුක් වේවා... බත බුලතින් සරුසාර වේවා... යි' කී ය. පෙරහර යාබද දාවිත්ලාගේ ගේ දෙසට ළං වෙද්දී රබන් ගසන්නට සූදානම් ව උන් බවලත් කාණ්ඩය රබන් ගැසීම ඇරඹූ හ.

සපරගමුවෙ දෙමට පඳුර
කපල පලච්චි
තුන් තුන් දෙන කඳ බැඳගෙන
ගමට පලච්චි
තක දොං ගමට පලච්චී

ඒ රබන් හඬින් ගුණාදරී කලබලයට පත් වනු ඇති බැව් දැනගත් කෙටිහාමි සහ පිච්චි මූණින් මූණ බලාගති. පිච්චි ගේ තුළට එද්දී ගුණාදරී තව තවත් ගේ මුල්ලට වෙමින් උන්නා ය.

"ගුණාදරියේ... මයෙ අම්මේ... ඒ රබං සද්දේ... මඟුලක් ගන්න කොට එහෙම තමා... බය වෙන්න එපා මයෙ අම්මා. දැන් ඉස්සර වාගෙ හිතුමනාපෙට 'කෝ වරෙං මා එක්ක යන්න' කියල ගෑනු කැන්දාන එන්නෑ. මුලින් දෙපාරුසවේ එක්කාසු වෙලා කතා-බහ. එයින් පස්සෙ තීන්දුව... එතනින් පස්සෙන් පහු කැන්දාන එනවා. රබං ගහනවා, කනවා, බොනවා, හිනා වෙනවා... සුගුණ කෙල්ලගේ කුසෙන් නන්දෝරිස් ළමය එළියට ගත්ත වාගෙ රොසලින් කෙල්ලගෙ කුසෙන් නන්දෝරිස්ගෙ ළමයිනුත් එළියට ගන්න මයෙ අත්දෙක පිං කොරල ඇති මයෙ අම්මා... "



පිච්චි සන්තෝෂයෙන් යුතු ව එසේ කිවුවේ සිය රැළි වැටුණු දෝත දෙස බලාගෙන ය. ඇගේ මේ දෝත ගම්මණ්ඩියේ ළමයි සිය ගණනකට මෙලොව එළිය දකින්නට වින්නඹු මෙහෙවරේ යෙදී තිබේ. ගම්මණ්ඩියේ කොයි ගෙදරක ළමයෙකු උපන්න ද තුන් මස පිරෙද්දී ඒ දරුවා පිච්චි අතට දී ඇය ලවා ළමයාගේ නළල සිඹිබවාගෙන යාම වාසනාවක් සේ ගම්මුන් විසින් සලකන ලදී.

* * *

මහ කුඹුක් ගස් අස්සෙන් පෙරී ආ හැන්දෑව නන්දෝරිස්ලාගේ ගෙයි අලුත සුදු තැබූ බිත්ති මත පතිත වෙයි. ඒ සුදු බිත්ති කෙටිහාමිගේ සිතේ හැම විට ම ජනිත කළේ පිච්චිගේ සිල් රෙදි සුද යි. බිත්ති තව තවත් හැඩ වූයේ පොල් අතු සෙවණැලි බිත්ති මත සෙලවෙද්දී ය. ඒ සෙවණැලි කියන්නට දඟලන්නේ ඉතා දිගු කතාවකි. ගුණාදරී පමණක් නො ව, දාවිත්ගේ කෙල්ලෝ ගෙට වී වතුර නෑ දා බින්දේ මේ පොල් ගසේ ගෙඩි ය. මී පැංචියන් සේ නෙක නෙක දෑ අසමින් තමා පසුපස දුව ඇවිදි ඒ කෙල්ලන් අද වෙනත් ලෝක හරිගස්සන්නට ඉගිළ ගොසිනි. ගන අඳුරු වැහි වලාවක් විසින් ගුණාදරීගේ සිනාහඬ හංගා ගත්තා සේ ම උන්ගේ සිනාහඬවල් ද කාලය විසින් හංගා ගෙන තිබේ.

සියල්ල දැනහුන් ඒ සුළං ධාරාවෝ සෙනෙහසින් යුතු ව දුර කඳු දෙසින් ඉපිද හමා එති. දුක් මුසු කුඹුරු යාය සහ කුඹුක් ගස් පිස පොල් අතු සොලවා කෙටිහාමිලා අසල දැවටී ඔවුන්ගේ සුදු කෙස් අතරින් රිංගා ජීවිත සිහිල සිහි ගන්වති.

කුඹුරු යාය දෙස උදේ-හවා බලා හිඳින්නට කෙටිහාමිට තදබල වුවමනාවක් තිබුණෙන් දාවිත්ලා විසින් කඩුලු කණුවේ කැඩුණු ලී පුටුවක් ගැටගසා ඔහුට එතැන වාඩි වී හිඳීමට සලසා දී තිබුණි.

# 15

කෙටිහාමි වෙල් යායට ඉහළින් පෙනෙන මාදම්පේ වතු යාය දෙස බලා සිටියේ ය. ඒ කන්දේ දලු නෙළන දෙමළ ගැහැනුන් වැඩ නිම කර පෙළ ගැසී ලැයිමට යන තිත් ඡායා යාන්තමින් පෙනෙයි. එහෙත් ඔහුගේ කල්පනා රැහැන් සහ දැකුම් පරාස වෙල් යායෙන් පිටතට විහිදී නොයන තරමට පටු වී තිබේ. කොහොම වෙතත් ඈතක් පිළිබඳ දකිමටත්, සිතීමටත් ඔහුට වුවමනාවක් නො වී ය. තව මොහොතකින් කුඹුක් ගස් පෙළ නින්දට යනු ඇත. සුළං, ගස් අතු මත තැන් තැන්වල නතර වී විඩා හැරීමට මග බලන යාමය ද කෙමෙන් ළං විය. පිච්චි මැහැල්ල ගෙපිළේ ඉඳගෙන කෙටිහාමිට කෑගැවා ය.

"හීතලේ ඔතන ඉන්නැතුව ගෙට වරෙල්ලා..... මේං කෙල්ලත් දොසැරයක් කෙඳිරිගෑවා උඹලගේ කටහඬ නැති හංදා..."

කෙටිහාමි සෙමෙන් සෙමෙන් ගෙට ගොඩ වී සිනා සී දොරෙන් එබී බලා "මයේ කෙල්ලේ... ගුණාදරියේ... බත් කාහං මයෙ අම්මා..." යි කියා ඉස්තෝප්පුවේ ලණු ඇඳ උඩ ඉඳගත්තේ ය. ඔහු උදේ පාන්දරටත් එසේ ය. අවදි වූ ගමන් ම ගෙට එබී "ගුණාදරියේ.. මයෙ කෙල්ලේ..." යි කියා සිනා සී සෙමෙන් සෙමෙන් කඩුල්ල ළඟට ගොස් වාඩි වී කුඹුරු යාය දෙස බලා හිඳින්නට පටන් ගනී.

ඒ පමාවෙන් ම නන්දෝරිස්ලාගේ පුංචි ම එකා වූ තිලකරත්න දුවගෙන විත් කෙටිහාමිගේ ඔඩොක්කුවට පනී. කෙටිහාමි මහල්ලා සිය මී මුනුපුරා ඔඩොක්කුවේ හිඳුවාගෙන සුළං අමතා කවි කියන්නට වෙයි. ඔහුට දන් අනුව පැන ඇති බැව් ගංගොඩැල්ලේ පැරැණියෝ කියති.

වරෙං වරෙං සුළංනේ..........

සුළං සුළං වරෙන්නේ..........

මෙවේලේ ද වෙල් තීරයේ දොළ දෙපස වූ මහ කුඹුක් ගස් පිස සුළඟක් ආවේ ය. ගොයම් කපා බැත පාගන දිනයක් වූ හේතුවෙන් ඒ සුළඟේ වෙනදාට වඩා කාටුව පුසුඹ පිරී තිබිණි.

තමන්ගේ කුඹුරේ සේ ම තවත් කුඹුරු දෙක-තුනක ම ගොවීන්



ගොයම් පාගා අවසන ලී අට්ටාල මත නැඟී බැත හුළඟට අල්ලනු පෙනේ. කෙටිහාමිගේ කවි තාලවලට සුළං තව-තවත් දඟකාර වනවා මෙනි. අහස් පසුබිම ළා රත් පැහැ ගනිද්දී කොක්කු ඒ ඔස්සේ ඉගිළ යන්නට පටන් ගත්හ. සුළඟට අල්ලන ලද බැත මලුවලට පිරවූ ගොවි පිරිස් ද ඒවා පාවරේ ම තබා මැඩුවන්වලින් වසා දමා අමුණු දෙසින් ගොඩ වී ගෙවල් මණ්ඩියට යෑමට වූ හ.

* * *

රාත්‍රී පාවර මුර කළ කිහිප දෙනෙකු උදේ අවදි වී සීතලේ හැකිළී තාවකාලික මැඩුවන් පැල් අසල ගිනි තපිනු පෙනේ. සුපුරුදු සේ සුළං රැල්ලක් අවුත් කුඹුක් ගස් ඇහැරවා ඒ අවට ගැවසුණේ ය. කෙටිහාමි පුංචි මී මුනුපුරු සිහි වී දාවිත්ලාගේ ගේ දිහා බැලුවේ ය. තිලකරත්නට වැඩිමහලු වූ පිරිමි ළමයා සිරිනයන සහ ගැහැනු ළමයා සීලවතී ගල්ලෑලි ද අතින් ගෙන අකුරු ලිවීමට ඉස්කෝලේ යෑමට සූදානම් වී "කිරි ආතේ... අපි යනවෝ..." යි කියාගෙන කෑගසමින් දිව ගියහ. ඒ සමඟ ම පුංචි තිලකරත්න බකල ගහගෙන දුවගෙන විත් මහල්ලාගේ ඔඩොක්කුවට පැන්නේ ය. මහල්ලාගේ සිත සන්තෝෂයෙන් පිරී ගියේ ය.

"මේං බලාපියෝ... සුළං මලේ... සුළං මලේ.. අපේ පුංචා ඔඩොක්කුවට ආවෝ..."

පාන්දර ම කෙසෙල් කැන් රැගෙන ගොඩකවෙල පොළට ගිය දාවිත් සහ බිරිඳ සුගුණහාමිල්ලා ගේ දෙසට එනු පෙනිණ. අලුත් ම කවි කොළයක් සහ පුංචි කඩදාසි මුළක් රැගත් දාවිත් කඩුල්ල ළඟට ආවේ ය.

"මේං අප්පුච්චේ... පනාමුරේ ඇත් රාජාට වෙඩි තියාපු-එක ගැන කවි කොළයක් අච්චු ගහලා පුරසිද්ද කොරලා... කවි කොළකාරයා කවි කී හැටියට පොළේ උන්නු හැමෝගෙම ඇස්වලට කඳුළු පිරුණා. ළමයි ඉස්කෝලෙ ඉඳලා ආවා ම උන්ට කියලා කියවාගනිල්ලාකෝ..."

ඔහු කව් කොළය පියාගේ අතට දුන්නේ ය. කෙටිහාමි සිනා සී කොළය දිගහැර බැලුවේ ය. එහි අකුරු සමග අඳින ලද ඇත් රාජයාගේ පින්තූරයක් ද විය. ඔහුගේ සිත බොහෝ දුර ගමන් කරන්නට ගත් උත්සාහයක් මතු වී මැකී ගියේ ය. 'කුවින්' ලකුණ දරන ලොසින්ජර මුළ දාවිත් තිලකරත්න අත තැබී ය.

"මේ මං උඹට ලොසින්ජර ගෙනාවා. කිරි ආතාටත් දීලා කාහං..."

ළමයා ඉතා ආසාවෙන් එය ගෙන කන ගමන් කෙටිහාමිට ද එකක් කැව්වේ ය.

"කොළඹ මහ කලබලලු... කාංඩ ගැහිලා රංඩු සරුවල් කොරගන්නවාලු. ඇහිල්ලක් බැලිල්ලක් නෑ... පොලෝසියෙන් ආ ගමන් වෙඩි තියනවාලු බුරුතු පිටින් මියැදෙන්න. ඔය අපේ පුංචි උංට ඉස්කෝලෙන් දෙන දවල් කෑම පතත් නවත්තාවිලු... අපිටත් ඉතුරු වෙන වී ටික හොඳට ම මඬි ඊළඟ යල එනකං කන්න. නන්දෝරිස්ගෙ කල්පනාව කට්ටංගෙ පතල් වැඩට යන්න... අනේ මං දන්නෑ... ඉස්සරහට ජීවත් වෙන එක අමාරු වෙයි කියලා තමයි කඩේ ළඟ මිනිස්සු කතා උණේ..."

එසේ කී දාවිත් කුඹුර දෙසට ගියේ ය. කෙටිහාමි ඒ පිළිබඳ කල්පනා කරන්නට ගියේ නැත. ගමෙන් පිටත දුර ලෝකවල නිතර කෝලාහල ඇති වන වග ඔහු අසා ඇති බවක් මතකයේ තිබේ. කෙටිහාමි මහල්ලා කුඹුර දෙස බැලුවේ ය. මොහොතකින් පාවරට එකතු වුණු ගොවීන් වී ගෝනි කර තියාගෙන පෙළ සැදී අමුණ දෙසින් ගොඩ වී වලවුව දෙසට යනු පෙනිණ. ඔහු නිහඬ ව ම බලාගෙන සිටියේ ය. එය දැන් පරම්පරා කිහිපයකට විහිදී ගිය කාරියකි. අවුරුදුවලින් මැන බලන්නේ නම් අවුරුදු හැට-හැත්තෑවක අතීතයකි.

ගොයම් වැඩෙන්නේ, පැසෙන්නේ, සෙලවෙන්නේ දරු-මුනුපුරන් වාගේ ය. කාටුව පුසුඹ ඉතිරි කර ඒ වී, මලුවල පිරී යාය මඟහැර යන සෑම මොහොතක ම නොකියා කියන්නේ බුදුහාමුදුරුවන් දෙසූ සියල්ලෙහි ම ඇති අනිත්‍යතාව ම නො වේ දැ යි ඔහු කල්පනා කළේ ය. ඔහුගේ දෑස් තෙත් වී, පිරී එක ලොකු කඳුළු බින්දුවක් ඇසෙන් පිටාර ගලා ඔඩොක්කුවේ හුරතල් වෙමින් උන් තිලකරත්නගේ වම් පිටි අත්ල මතට වැටිණි. පොඩි එකා ඉස්සී කිරි ආතාගේ මුහුණ දෙස බැලුවේ ය.



"ඇයි කිලි ආතේ අඳන්නේ...?"

මහල්ලා කිසිත් කීවේ නැත. ඔහුගේ මුහුණේ මහලු රැළි රේඛා හැඟීම් සමග පිරී මතු වූයේ හරියට ම කුඹුරේ නියර රටා මෙන් ය. ළමයා ඇඟිලි පැනයට නිසි පිළිතුරු ඒ රැළි රටා අතර පිරී තිබිණි. නොදරුවා ඒ රැළි රටා අතගෑවේ ය.

"කිලි ආතේ... තව කඳුළු එකක් දාන්නකෝ..."

ළමයා සිය දකුණු අතේ පිටි අල්ල ද පෑවේ ය. මහල්ලා ඒ පුංචි අත ගෙන සිඹබේ ය. ඔහු යළි සුළං අමතා කියන කවි කීමට පටං ගති.

"හුළං මලේ... හුළං මලේ... අපේ පුංචාට බලන්න වරෙන්නේ...

වරෙං වරෙං සුළන්නේ....."

කුඹුක් අතු සෙලවෙනා තැනක් දැක තිලකරත්න සතුටින් ඉපිලෙන්නට විය.

* * *

රාත්‍රී කිහිපයක ම එළි වෙන යාමයේ දිගින් දිගට ම උලමා කෑගෑවේ ය. කෙටිහාමි ගෙපිළේ වූ තමා නිදන ලණු ඇඳෙන් නැගිට ගෙට කරපොවා බැලුවේ ය. පිච්චි ශාන්තවත් සේ නින්දේ ය. ගුණාදරී සුපුරුදු සේ ගේ මුල්ලේ ගුලි වී නිදයි. කෙටිහාමි සෙමෙන් සෙමෙන් මිදුලට බැස කඩුල්ල අසළට ආවේ ය. කුඹුක් ගස් ද තද නින්දේ ය. උලමා දිගට ම හඬයි. නිසසල වූ ඉපනැලි යාය දකින කල ඔහුගේ පපුවට යළිත් ඒ මහා බරැති නාඳුනන හැඟීම දැනුණේ ය. උලමාගේ මේ ළතෝනිය නිසා ඒ හැඟීමට සාංසාරික දුක්මුසු බවක් එක්කාසු වී තිබිණි. ඔහු සිහින් හඬින් දුර ඈතට කතා කළේ ය.

"කටවහගෙන බුදියාගං උලමා හාමියේ අපේ හිත් කලබොල නෙ-ාකර.. කොයි යම් ම විදිහෙ ආරෝවක් වත් කිසි ම දාක අපියි උඹලයි අතරෙ තිබුණෙ නෑ නෙ.. හා.. කට වහගෙන බුදියාගං ගොයියෝ.."

එසේ කී කෙටිහාමි කඩුල්ල ළඟින් කුඹුරට බැස යාබද කුරුළුලු ලියැද්දේ නියරක් මත හිඳගත්තේ ය.

# 16

"ආං බලාපල්ලා... සුදු පාටින් ඇඳගත්තු මිනිස්සු හය-හත් දෙනෙක් ගෙයි මුලුවල ඉඳගෙන මට අත වනනවා නේ... අර... ආං බලාපල්ලා... ඉතිං මං කොහොම ද ඒ මිනිස්සු එක්කලා යන්නේ... අර... සුදු ජටාවක් බැඳගත්තු මිනිහා ටිකක් කේන්තියෙන් වාගේ අත වනනවා... පිං පිරුණ උදවිය... සුදු ම සුදු පාට වස්තර ඇඳගෙන... කිරි වැඳුණු මඩතවාලු ගොයම වාගේ... පුසුඹකුත් දැනෙනවා සමන් දෙවි හාමුදුරුවනේ.. බත් මුට්ටිය ඉස්සිස්සෙල්ලා ම වහුං අරින කොට දැනෙන පුසුඹ වාගෙ එකක්... ඔය... ආං සේරෝම එක වංගියේ අත වනනවා..."

අවුරුදු අසූවකටත් වඩා කාලයක් ආයු වළඳා පිච්චි මිය පරලොව ගියා ය. මිය යෑමට දවස් තුන-හතරකට කලින් සිට ඇය දිගින් දිගට ම දෙඩෙව්වා ය. කෙටිහාමි පිච්චි ළඟට ම වී ඉඳගෙන සිටියේ ය. පෙර දින පාන්දර ජාමයේ හයියෙන් හුස්ම ඉහළ පහළ ගත් ඇය එකවර ගතට විරිය ගෙන ඒ අවසන් හුස්ම පිට කළා ය. කෙටිහාමි දෙතොල් තද කරගෙන හඬන්නට වූ අතර, ඒ සද්දය ඇසී දාවිත්ලා අඬාගෙන ආ හ. ගුණාදරීට වෙනසක් වැටහී තිබිණි. ඇය තව තවත් ගේ මුල්ලට වූවා ය. මළ ගෙදරට සෙනග පැමිණෙද්දී ඉන් ගුණාදරී කලබලයටත් බියටත් පත් වන නිසා දේහය තබනු ලැබුවේ දාවිත්ලාගේ ගෙදර ය. වඩුවැඩ දන්නා පැන්සහාමි ලුණුමිදෙල්ල පිට පළු ලෑලිවලින් පෙට්ටිය තැනුවේ ය.

කෙටිහාමි වරින් වර පිච්චිගේ දේහය ළඟට ගියේ ය. හිස අතගෑවේ ය. මිනියේ කටයුතු කළ මිනිසුන් සුදු පිරුවටවලින් ඔසරියක් අන්දවා තිබේ. පිච්චි ඉතා හොඳ තැනක ඉපදී ඇතැ යි කෙටිහාමි කල්පනා කළේ ය.

බොහෝ දුර ගෙවාගෙන වුත් මහා වන මූකලානේ තමා සමඟ දිවි ඇරඹූ ගැහැනිය අද බොහෝ දේ කොට නික්ම ගොස් ය. මේ වෙල් යාය, ගේ-දොර පටන් සිය පරම්පරාවේ අවසාන පුරුක... පුංචි තිලකරත්න දක්වා වූ සෑම සම්පත්තියක් ම පිච්චි නම් වූ ඒ වටිනා



ගැහැනිය නිසා නො වේ ද යි කෙටිහාමිට කල්පනා විය. පිච්චි උතුම් ගැහැනියකි. පළමු දරුවා ලබන්නට අප්‍රමාණ දුකක් විඳි ඇය ඉන් පසු ව ගැහැනු සිය ගණනකට වින්නඹු අම්මා වූවා ය. ඇය රැස් කරගත් පින් සුළු-පටු නො වේ.

"පිච්චි කිරිඅම්මගෙ මිනිය වටේ තියන්න අරලියා මල් කඩාගෙන එන්න අපි යනවෝ..."

එසේ කෑගසමින් දිව යන්නේ නන්දෝරිස්ගේ දුව වන සීලවතී සහ ඇගේ වයසේ තවත් ළමයි කිහිප දෙනෙකි. තිලකරත්තන ද බකල් ගසමින් දිව ගොස් උන් හා එකතු විය. උන් දිව යන්නේ අමුණ අසල වූ අරලියා ගහ ළඟට ය. ගසට නැගි පිරිමි ළමයෙකු මල් කඩනු පෙනේ.

නොසැලී විරාජමාන වුව ද ජීවිතය තුළ කිසිදාක හරියාකාර පිළිතුරක් නොදුන් නමුත් මේ ගම්මානයට පපුව බඳු වූ කුඹුරු යාය... හේ අද බෙහෙවින් නිසොල්මන් ය. පිච්චි මෙලොව හැර ගිය නිසා කුඹුරු යාය පසු වන්නේ සාංකාවෙන් ය. පිච්චි අතින් මඩ එක්කාසු කර නියර තැනූ ඒ පළමු ලියැද්ද, දූන් එය කුරුල්ලන්ට වී ඉතිරි කර තබන කුරුලු ලියැද්ද යි. ඒ පින් ද පිච්චිට ය.

ළමයි අරලියා මල් කඩා ගෙන වුත් පිච්චි උන් ලී පෙට්ටිය වටා සරසද්දී කෙටිහාමි ද ඊට එක් වූයේ ය. වෙල් යායෙන් ආ සුළංවල පුංචි කොටසක් ගෙට වුත් පිච්චිහාමිගේ හිස අද්දර දැල්වූ පොල්තෙල් පහන් දැල්ල සෙලවූයේ ය. කෙටිහාමි අසල පුටුවක ඉඳගෙන පහන් දැල්ල අතින් ආවරණය කළේ ය. ඒ බලා උන් පුංචි තිලකරත්න තම පුංචි බසින් "තුළං මලේ... තුළං මලේ... හිමිං හිමිං වලෙන්නේ..." යි කී ය. කෙටිහාමි ඔහු උකුළට ගත්තේ ය.

"දැං මේ හුළංවල උඹලයෙ කිරි අම්මාගේ අන්තිම හුස්ම පංගුවක් තියනවා පැංචෝ..."

# 17

කෙටිහාමි මහල්ලාට කඩුල්ල අසල ඉඳගෙන බලාගෙන සිටීමට බොහෝ දේවල් තිබේ. ඒ අතර පිච්චිගේ සොහොන ද වේ. ඔහු උදේ ම ගෙතුළට එබී ගුණාදරීට හුරතල් හඬින් කතා කොට, රොසලින් ගෙනත් දුන් කහට කෝප්පය පානය කර, කඩුල්ල දෙසට ගැටුවේ ය.

තුනටිය රිදුම් දෙයි. වම් කකුල එක එල්ලේ තැබීමට අපහසු ය. එය ඇද වී ඇත. කුඹුක් ගස් දෙසින් එන සුළං පිච්චිගේ සොහොනේ වියළි ගොක්කොළ සොලවයි. කෙටිහාමි මාදම්පේ වත්තේ කඳු මුදුන දෙස බැලී ය. වෙන දා නම් මේ වේලාව වන විට දලු නෙළන දෙමළ ගැහැනුන්ගේ තිත් ඡායා පෙනේ. එහෙත් අද ඒ බැව් පෙනෙන්නට නො වේ. ඔහු ඇස් සිහින් කර, හිස ඔසවා බැලුවේ ය. එහෙත් ඒ තිත් ඡායා කිසිවක් පෙනෙන්නට නො වේ. එය පුදුමයකට කාරණයකි. ඒ බැව් කාට හෝ කිව යුතු ය. ඔහු දාවිත්ලාගේ ගේ දෙස බැලී ය.

"දාවිත්... දාවිත්..."

මොහොතකින් දාවිත් ගේ දෙස සිට එනු පෙනිණි. ඔහු සමඟ පුංචි තිලකරත්න ද එයි. තිලකරත්න මහල්ලාගේ ඔඩොක්කුවට පැන්න අතර, කෙටිහාමි දාවිත්ට ඇසෙන සේ කතා කළේ ය.

"ඈ බං... මට දැහැ පේන්නෙ නැතුව ද? එහෙම නැත්නං දලු කඩන කාංඩෙ අද කන්දට ඇවිත් නැතුව වත් ද?"

දාවිත් මොහොතකට නිහඬ විය. තමාගේ වචන පැටලේ යැ යි සිතූ හේ කිව යුතු කුමක් ද? නොකිය යුතු කුමක් ද? යන්න සිතේ ගළපාගෙන කතා කළේ ය.

"කලබල දූං රට මැද්දටත් ඇවිදිං... සිංහල කාණ්ඩයක් කියනවලු සිංහල විතරක් කතා කොළා ම ඇති ය කියල. දෙමළ කාංඩේ කියනවලු බෑ එහෙම බෑ කියල. ඕං ඕකට එකට එක කියෝගෙන



තමයි රංඩු ඇවිළිලා තියෙන්නේ. අගමැතිතුමත් තව ලොකු ලොකු උදවිය එක්කලා තීරණයක් ගන්න බැරුව කල්පනා කොරකොර ඉන්නවලු. අද ගොඩකේල කඩමණ්ඩියම කතා උණේ ඔය ගැන. රට ම ගිනි ජාලාවක් වෙයි කියලත් හුඟක් අය කියනවා. බඩුත් ගණං යාවිලු..."

"ඉතිං රංඩු-සරුවල් නොවී ඔවුවා බේරගන්න බැරි ද?"

කෙටිහාමි එසේ කීවේ මහත් කම්පනයට පත් වූ සිතින් ය. පොඩි එකා කෙටිහාමිගේ සමේ වූ රැළි අතගා බලයි.

"අපි එහෙම කිව්වට එහෙම බැරුව ඇති. සෙල්ලං වැඩ යැ? උන්නාන්සේලා කාංඩ ගැහිලා මේස වටේ ඉඳගෙන වරු ගණං කතිකා කොරනවාලු හරි හමං කෑමක් බීමක් වත් නැතුව..."

"අනේ ඒ රත්තරං මිනිස්සු සමන් දෙවියෝ ම බලාගන්න ඕනි..."

මහල්ලා එසේ මුමුනද්දී දාවිත් තරමක් අදි-මදි කරමින් ඊළඟ කාරණය ද කියා දැමීමට තීරණය කළේ ය. එහෙත් එය කීමේ දී වචන නොපැටලෙන ලෙස පැවසීමට හේ වගබලාගත්තේ ය. කාරණය කෙටිහාමිට සරල නොවන බැව් දාවිත් දනී.

"හැමෝම ආදරෙයි නොවැ තමුංගෙ රට-රාජ්ජෙට. දරුමපාල උත්තමයලා උණත් දත කෑ හැටි අපට මතකයි නෙ. ඊයේ රාත්තිරි කාණ්ඩයක් මාදම්පෙ වත්තෙ දෙමළ ලැයිංවලට ගහලා තියෙනවා. ගිනිත් තියලලු..."

මහල්ලා පුදුමයෙන් දාවිත් දෙස බැලුවේ ය.

"දෙවි හාමුදුරුවනේ..."

ඔහු යළි මාදම්පේ වත්ත කඳු යාය දෙස බැලී ය. යළි බිම බලාගෙන "ඒ මිනිස්සු ජීවත් වෙන්න මොන තරං දහිරියක් ගන්නව ද?" යි තමාට ම කියා ගත්තේ ය.

ලැයිං කාමර විනාශ කිරීමට පතල් වැඩ කරන තරුණ කාණ්ඩය සමඟ නන්දෝරිස් ද ගිය බැව් නොකියා සිටීමට දාවිත් වග බලා ගත්තේ ය. නන්දෝරිස් ඉන්නේ මංමුළා වැලක් පෑගුණු එකෙකු පරිද්දෙනි. මේ අසාධාරණ බිංපංගු පලහිලව්ව නිසා හේ කුඹුරට බැසීමට ද මනාපයක් නොදක්වයි. ඒ නිසා මේ වාගේ දේ ඉක්මනින් ම පැටලෙයි.

වියදම් හවුලක් දී පතලයක් මුදල් ටිකක් එකතු කරගෙන බැසීම ඔහුගේ බලාපොරොත්තුව වී තිබේ. එවැනි පතල් රැසක් අහල ගම්වල වැඩ කෙරෙයි. ගොඩකවෙල තරුණ පිරිස් රක්වාන ගඟේ පතල්වල වැඩට යනවා දාවිත්ට හමු වී තිබේ.

කෙටිහාමි මහල්ලා දොළ දෙපස වූ මහ කුඹුක් ගස් පෙළ දෙස බලාගෙන සෙමෙන් මුමුනනු ඇසිණි.

"මිනිස්සු හැම කොට්ටාසෙකට ම ඇයි බැරි අර කුඹුක් ගස් පෙළ වාගෙ එකට ගෑවිගෑවී සංතෝසයෙන් ඉන්න? මනුස්සෙකුට කරදරයක් කොරනවා තියා කුඹියෙක් වත් පාගන්න තරම හිතන්න නාක යි... එව්වා මාත් හරිහරියට ඉගෙන ගත්තේ උඹලගේ අම්මාගෙන්..."

මහල්ලා පිච්චිගේ සොහොන දෙස බැලී ය. වියළි ගොක්කොළ රැහැන් සුළඟ විසින් බිම දමා තිබේ. එතැන පරිසරය ඉතා නිවුණු ගතියකි.

"ඒ ගෑනි බඩිං ඉන්න කිරිල්ලියන්ට බිත්තර දාන්න පහසු වෙන්න ය කියලා එළඟිතෙලෙන් බත් පිහලා ගුළි හදලා මිදුලේ ලැල්ලේ තිවුවා. ගොයං කපන කොට ගොයමේ පුංචි කුරුලු කූඩු හම්බුණා ම ඒ තැන්වල වටේට ගොයම ඉතුරු කොරල යි ගොයම කැපුවේ. ගෙවල් කඩලා ගිහි තිවුවා ම ඒ මිනිස්සු කොහෙද ඉන්නේ... හාල් හුණ්ඩුවක් ලිප තියා ගන්නේ කොහොම ද? අරියාදු කොරන්න නරක යි කවුරුත් ම, කාට වත්."

එහෙත් දූන් කාරණය පමා වැඩි ය. ලැයිම් කඩා විනාස කොට එක එක අය විසින් නොයෙක් දෑ ගෙනත් තිබුණු අතර, නන්දෝරිස්ට හමු වුණු රත්රන් පිරවූ බෙලෙක් ටින්-එක ඔහු කාට වත් ම හොරා ගෙනැවිත් පෙන්වූයේ තමාට පමණක් බැව් දාවිත්ට කල්පනා විය. ඒවා රත්නපුරයට ගෙන ගොස් විකුණන ලෙස උපදෙස් දුන්නේ ද දාවිත් ම ය. නන්දෝරිස් අද උදේ රැයින් ම රත්රන් ටික රෙදි උරයක ඔතාගෙන රත්නපුර ගියේ ය. දාවිත් සිතුවේ පවුල මුහුණපා තිබෙන අඟ-හිඟ කම් පිළිබඳව පමණි. හේ අප්පුච්චා තරම් දුරට ඒ ගැන සිතුවේ නැත.

"ලෝකෙ වෙනස් වෙලා අප්පුච්චේ... රත්නපුරේ මහ ඔරලෝසු කණුව අහසේ ගෑවෙනවා. අලුත් පරම්පරාවේ ළමයි දං 'අප්පුච්චා' කියන්නෑ. කියන්නේ 'තාත්තා' කියලා. ටවුන්වල හැම



ගෙදරක ම වාගෙ රෑට පත්තු කොරන්නේ පැට්රෝල් මැක්ස් ලාම්පු. මිනිස්සු සල්ලි හොයන්න ගම් අතැරලා ටවුන්වලට යනවා.. රත්නපුරේ ඉඳලා දියබඩගම් පත්තුවට ම පාර කැපිලා. ඒකෙ එක හුස්මට යකඩ වාහන යනවා. කොළොංපුරේ ඉඳං යකඩ යකා එනවා ඉපනායකට ම. මිනිස්සු බත් මුල් බැඳගෙන ළමයි පැටවුන් එක්ක යන්නේ ඒක බලන්න. ඒ විතරක් ද? දැන් මිනිස්සු පිල් බෙදිලා. රට-රටවල් වෙන වෙන ම රණ්ඩු කරගන්නවා. මෙහෙත් කාණ්ඩයක් යූඇන්පී; කාණ්ඩයක් සිරිලංකා; තව පොඩි කාණ්ඩයක් සමසමාජෙ. මේ ඉඩම්වලටත් සිරිලංකා ආණ්ඩුවෙන් බලකඩදහි දෙන්න යනවලු... ඉලන්දාරි දැන් කොණ්ඩෙ වවන්නෑ; ඉස්සරහින් යැංකි-බම්ප් එක ද මොකක් ද එකක් තියලා වටේ කපනවා. ලෝකෙ හොඳට ම වෙනස් වෙලා. ගංගොඩැල්ලේ මිනිස්සුත් හරිහරියට කඩ හාල් කනවා..."

* * *

කෙටිහාමි ගෙපිළ මත හිඳගෙන පුංචි වී මලු කිහිපයක් ළඟ තබාගෙන ඒවායේ වූ වී අතගා බලමින් ඉන්නා අතර, තිලකරත්න ද ඒ අසල හිඳගෙන බලාගෙන සිටී. වී මිටක් ගෙන එය යළි රටාවකට මල්ලට හලන කල උපදින සිරි-සිරි සද්දයට තිලකරත්න ඇහුම්කන් දුන්නේ ය. ඔහු ද වී මිටක් ගෙන කිරි ආතා අනුකරණය කළේ ය. මහල්ලා සෙමෙන් මුමුනන්නට විය.

"දැන් ඔය නානාප්පරකාර වී වර්ග තිබුණට මේ මඩ තවාලු වීය තමයි අපි මෙහෙට ආ දා ඉඳල අපිව රැක-බලාගත්තෙ; ඇහැ නොවී අවුරුදු ගානක් වුණත් අටුවට වෙලා ඉදීවි කරබාගෙන; වෙනස් වෙන්නෑ දෙයියො බුදුන් වාගෙ."

ඔහු එසේ කියා ඒවාට වැඳ-නමස්කාර කරන කල තිලකරත්න ද පුංචි අත් එක් කොට වී මලුවලට වැන්දේ ය. ඒවායේ කට ගැටගසා පසෙකට කළ මහල්ලා සෙමෙන් නැඟී සිට තිලකරත්නගේ අතින් අල්ලාගෙන කඩුල්ල දෙසට ගමන් කරන්නට පටන් ගත්තේ ය.

"තුන්වේල බත් කාල, කහට උගුරක් කාරිය බීල බඩ පුරෝගෙන මිනිස්සු සන්තෝසෙන් ඉන්නව නම්, ඒක ම තමයි මහ පොළොවෙත් සන්තෝසෙ සූටි එකෝ. ඒත් මිනිස්සුන්ට ඉස්පාසුවක් නෑ. ජීවිත කලබල වෙලා..."

ඔවුන් කඩුල්ල අසලට වීත් ඈත වෙල් යාය දෙස බලාගෙන ඉද්දී කුඹුක් ගස් සෙමෙන් සැලෙන්නට විය. ඒ අතර පොල් ගසේ අත්තක් ගැලවී පිච්චිගේ සොහොන මත පතිත වනු දුටුවෙන් මහල්ලා සහ මුනුපුරා කලබලයට පත් විය. ඔවුහු මුහුණට මුහුණ බලාගත්හ.

"ඒක අරන් දාන්න වෙයි."

ඔවුහු සෙමෙන් සෙමෙන් කඩුල්ල පැන පිච්චි නිදා ඉන්නා තැනට ගොස් පොල් අත්ත එතැනින් ඉවත් කර දැමූ හ. සොහොන මත වූ වල් පැළෑටි ගලවා ඉවත් කිරීමට ද එය ම අවස්ථාවක් කරගති. එතැන වූ ඇඹුල් පලා පැළයක පත්‍රයක යටි පැත්තේ වූ පිනි කැටිති දෑසට ළං කර බැලූ කෙටිහාමි ඒවා ළමයාට ද පෙන්වී ය.

"මේ තියෙන්නේ මහපොළොව පිට කොරාපු හුස්ම ගතිය.."

* * *

නන්දෝරිස් එදා රාත්‍රී රත්නපුර ගොස් ආවේ ඒ අපූරු වටිනා වස්තුවත්, ඒ මහා විස්මයජනක වූ ආරංචියත් අරගෙන ය. ඔහු ගෙදර එන තුරු දාවිත්ලා නිදිවරාගෙන බලාගෙන සිටියහ. මේ පිළිබඳ කටෙන් කෙළ බිඳක් නොහෙළන ලෙස දාවිත් සිය බිරිඳ සුගුණාහාමිල්ලාටත් ලේලිය රොසලින්ටත් කියා තිබිණි. නන්දෝරිස් රත්නපුරයෙන් ගෙනා අපූරු වස්තුව නම් ග්‍රන්ඩික් රේඩියෝව ය. විස්මයජනක පණිවඩය නම් හෙට-අනිද්දා ම ක්‍රියාත්මක වන කුඹුරු පනතක් පිළිබඳ ව රත්නපුරේ මිනිසුන් කී ආරංචිය යි. එවැනි පුදුම හිතෙන අලුත් අලුත් දෑ පිළිබඳව ගෙදර ඉඳන් ම මේ රේඩියෝවෙන් අසා දැනගත හැකි බැව් රේඩියෝ සාප්පුවේ උන් මහත්මයා කියා තිබිණි. කිරල ඇබයක් තරම් වූ මූඩියක් කරකැවූ කල රේඩියෝවෙන් ෂූ... සද්දයක් නික්මිණ.



"දං හුඟක් රෑ වෙලා... කතා කොරන ඇත්තො හොඳට ම බුදි ඇති. හෙට උදේට බලමු..." යි නන්දෝරිස් කී ය.

එදින රාත්‍රී කාටත් නින්දක් නො විණි. සුගුණාහාමිල්ලා, රොසලින්ලා සහ ළමයින් ගෙබිම ඉඳගෙන රේඩියෝව දෙස බලාගෙන උන් අතර, මිදුලේ දී දාවිත් සෙමෙන් නන්දෝරිස් හා කතා කළේ ය.

"කරදරයක් උණේ නෑ නේද...?"

"නෑ... රුපියල් හත්සිය හතළිස් හතයි සත පනහක් හම්බුණා... හප්පා... රත්තරංවලටයෑ මැණික්වලට නෙව ඉල්ලුම...! මං තුං-හතර දෙනෙක් ම අඳුරගෙන ආවා. අපි කොරන්නේ කුඹුරු වැඩය කිව්වම තමා ඔය පනතෙ කතාව කිවුවේ. රේඩියෝ සූත්තරෙන් අහගතෑකි ඒ ආරංචි සේර ම අපට..."

* * *

කිරල ඇබයක් වැනි මූඩියක් කරකැවූ කල සද්ද ඇසෙන්නට පටන් ගන්නා මේ ආරංචිය සැල වූ වහා ම මුළු ගම ම ඒ පුදුමය නැරඹීමට පෙරහැරේ ආ හ. එවැන්නක් මුලින් දැහින් දැක තිබුණා නම් ඒ පැන්සහාමි පමණි. ඒ දවස් දෙක-තුනේ ම ගම්මු සියලු වැඩකටයුතු නතර කොට රේඩියෝ සූත්තරයේ සද්ද ඇසීමට දාවිත්ගේ ගෙදර රොක් වී සිටියහ. සුගුණාහාමිල්ලා සහ රොසලින් මිනිස්සුන්ට කහට වතුර වක්කර-කර දුන්හ. පිරිස රොක් වී ගේ මිදුලේ තැන්-තැන්වල බිම වාඩි වූ පසු දොරකඩ වූ රේඩියෝව වැසූ පිරුවටය ඉවත් කරනු ලබන්නේ සීලවතී විසිනි. සිරිනයන මූඩිය කරකවයි. සද්ද එන්නට පටන් ගන්නේ ඉන් අනතුරු ව ය. මිනිස්සුන්ට ගෙවල්වලට යෑමට කල්පනාවක් නොවූ කල "පලයව්... පලයව්... ගිහිං වැඩපොළ කොරලා හැංදෑවට වරෙල්ලා..." යි දාවිත් කෑගැවේ ය.

ඒ අපූරු පණිවිඩය සුගුණාහාමිල්ලා විසින් සිය දූවරුන් වන කොස්නාතොටට දීග ගොස් උන් මැයිහාමිටත්, ආගරේගමට දීග ගොස් උන් මැංචිටත්, පන්නිල් පත්තුවේ ඇන්දානට දීග ගොස් උන් රන්සොටත් කී කල උන් ද ළමයි-පැටවුන් එල්ලාගෙන එය බලන්නට

මහගෙදර ආ හ. ගම්මුන්ට කතා කිරීමට වෙන කිසි ම මාතෘකාවක් නොතිබිණි. සමහරු එහි වරක් ඇසූ සින්දු කටපාඩම් කරගෙන ගැයූ හ. අගමැතිතුමා කොළඹ ඉඳන් කරන කතා-බහ පවා ගමේ දාවිත්ගේ ගෙදර ඉඳන් ඇසීමට ලැබීම හේතුවෙන් දාවිත්ලාගේ පවුලට මුළු ගමේ ම මිනිස්සු ගරු කළහ; හිස් නැමූ හ.

* * *

කෙටිහාමි ගේදොරකොඩ බිම ඉඳගෙන ගුණාදරීට ඇසෙන සේ කතා කළේ ය. පුංචි තිලකරත්න ද කිරිආතා අසල දැවටෙමින් සිටියේ ය.

''ඔය කියන හැටියට රේඩියෝ සූත්තරේ කතා කොරන්නෙ අකුරු දන්නා කියන කාංඩයක් නං, ඒ කියන දේවල් මනුස්සයින්ට නරක් දේවල් වෙන්න බෑ නෙ. ඒත් ඔවුවා ම අහ-අහ ඉඳල මිනිස්සු කුඹුරට බහින්-එකත් අමතක කොරල දාවි ද මන්දන්නෑ..''

ඔහු එසේ කියන කල්හි කුඹුර දෙසින් මහා සද්දයක් ඇසුණෙන් තිදෙන ම කලබල වූ හ. ගැස්සී ගිය ගුණාදරී ගෙමුල්ලට වූ අතර, මහල්ලාත් තිලකරත්නත් නැඟී සිටිය හ.

ඒ උස් පොල් ගස හිටි වන ම මුලින් ගැලවී බිම ඇද වැටී තිබේ. ඒ බැව් තේරුම් යැමටත් පෙර කෙටිහාමිගේ පපුව හරහා ඇදී ගියේ ගිනියම් වූ සුසුමකි.

''පිච්චි විස්සෝප වෙලා වත් ද මං දන්නෑ..?''

මහල්ලා එසේ ප්‍රශ්නාර්ථයකින් යුතු ව තමාට ම කියාගෙන පුංචි එකා දෙස බැලූ අතර, තිලකරත්න නිරුත්තර ව ඇස් ලොකු කරගෙන මහල්ලා දෙසත් වැටුණු පොල් ගස දෙසත් බැලුවේ ය.

මොහොතකින් කුරුම්බා බීමටත් පොල් බඩ කෑමටත් එගොඩහ ගැටවුන් කිහිපදෙනෙකු ඒ දෙසට දුවගෙන එනු පෙනිණි.

# 18

හිටි හැටියේ ම කුඹුරු යාය වටා ඇවිදින්නට ආ වලවුවේ මද්දු අප්පෝ වැඩ නොකර අතැර තිබුණු කුඹුරු දෙකක් වැඩ කිරීමට වෙන දෙදෙනෙකුට පැවරී ය. කුඹුරු කීපයක ම අඳ ගොවීන් ඉවත් කර අලුත් ගොවීන් දැමීමට කළ තැතක් අසාර්ථක ව ගියේ එතැන දී දාවිත්ලා එකා වන් ව පෙළ ගැසී සිටි බැවිනි. දිස්නේරිස් පමණක් එක් යලක් වැඩ කිරීමට අප්පෝ නම් කළ පුද්ගලයාට කුඹුර දීමට කැමැති විය. එසේ කළ ඔහු දාවිත්ලාගේ ගෙවත්තේ වැඩකටයුතුවලට සහාය දීමට තීරණය කර තිබුණේ රේඩියෝව ඇසීමට ඇති කැමැත්ත නිසා ය. ඔහු වත්ත උදලුගාමින් සිටිනා කල දාවිත් සෙමෙන් ඔහුට කිට්ටු විය.

"දිස්නේරිස්... උඹට කල්පනාවට ආවෙ නැද්ද මේ හිටිඅඩියේ අප්පො යායට ඇවිදිල්ලා ඊළඟ යල විතරක් වැඩ කොරන්න ඉල්លුවේ ඇයි කියලා...? පනතක් එනවලු බොල ඉස්සරහට... ගොයියන්ට වාසි වෙන විදියේ එකක්..."

දාවිත් එසේ කී කල දිස්නේරිස් උදලුගෑම නවතා හුස්මක් හැර සරල ලෙස සිනාසුණේ ය.

"කමක් නෑ රත්තරං මාමේ... එක යල යි නේ..."

"හත්... එක යල යි නේ...? බලාගෙන හිටපංකෝ එක යලේ තරම..."

* * *

ඒ මහා විස්මයජනක වූ පුවත රේඩියෝ සූත්තරය ඔස්සේ ඇසීමට මුළු ගම ම දාවිත්ලාගේ ගෙදරට එක්කාසු වූ හ. රේඩියෝව ගේ ඉදිරිපිට

කනප්පුවක තබා තිබූ අතර, පිරිසට ඉඳගැනීම සඳහා මිදුල පුරා මාගල් එළා තිබිණි. දවිත්ලා කහවත්තෙන් ගෙනා අලුත් ම පැට්‍රෝල් මැක්ස් ලාම්පුව ද ගේ ඉදිරිපිට එල්ලා තිබේ. එය වටා එකතු වූ ගොයම් මැස්සන්ට දැනී තිබුණු සන්තෝෂයට වඩා වැඩි සතුටක් රේඩියෝව වටා උන් පිරිසගේ මුහුණුවල තිබිණි. එපමණක් නො ව මුළු රටට ම වැදගත් වූ ඒ පුවත රේඩියෝවෙන් අසා දැනගැනීමට ඉඩ-කඩ ලැබීම පිළිබඳ මහත් අභිමානයකින් ද සැවොම පසු වෙති.

පොඩි අප්පුහාමි නමැත්තා සිය දියණිය වූ පුංචි සෙනෙහෙලතා කිහිල්ලට වඩාගෙන කඩුල්ලට එපිටින් සිටගෙන සිටියේ ය. ඔහුගේ මුහුණ බියකින් පිරී පවතී. සෙනෙහෙලතා ගමේ අන් ළමයි අතරට එනවාටත්, ගමේ සුබ කටයුතුවල දී ගෙවල්වලට එක්ක ගෙන එනවාටත් ගම්මු ප්‍රියතාවක් නොදැක්වූ හ. කඩුල්ල අසල ඉඳගෙන උන් කෙටිහාමිට කාරණය වැටහී තිබේ.

''ඔන්න ඔය පැටික්කිත් එක්කලා කඩුල්ල පැනලා ඇවිත් ආං අර මිදුලට ගිහිල්ලා අහ ඉඳපල්ලා. මොන විගඩමක් ද මේ..? හ්ම්.. වරෙල්ලා වරෙල්ලා ඔය කඩුල්ල පැනලා...''

මහල්ලා එසේ කිව ද තරුණයා ඊට අදි-මදි කළේ ය.

''කමන්නෑ ආතේ. අපි මෙහෙම බලාගෙන ඉන්නම්.''

මලක් වන් පුංචි දැරිය ඇස් ලොකු කරගෙන සෙනග දෙස බලා හිඳිනු කෙටිහාමිට පෙනෙයි. දාවිත් ඒ දෙසට එනු දුටුයෙන් පොඩි අප්පුහාමි යටහත්-පහත් විය. දාවිත් කෙටිහාමි අසලට විත් කතා කරන්නට වූයේ ය.

"අප්පුච්චේ... යමංකෝ අපේ මිදුල දිහාට. අර මං කී කාරණේ ගැන දැං රේඩියෝ සූත්තරෙන් කියනවලු මුළු රටට ම ඇහෙන්න... එතැනින් පස්සෙ කාට වත් ම ඒක එහෙම නෙවෙයි කියන්න බෑලු... යමංකෝ අප්පුච්චේ..."

අසල උන් දැරිය සහ පියා දෙස බලාගෙන කෙටිහාමි කතා කළේ ය.

''මේං මේ ඉලන්දාරියයි කෙළි පැංචියි අඬගහගෙන පලයල්ලා. මෙකි උපදින කොට ඒකිගෙ අම්මා මියැදුණේ ඒ ගැනි ගෙනාපු ආයුස ඉවර හන්දා. ඒකට මේ නොදරුවා මක් කොරන්න ද?''



දාවිත් පොඩි අප්පුහාමි දෙස බලා, ''වරෙං වරෙං අප්පුහාමි'' යි කීවේ ය. ඒ අවසරයෙන් කඩුල්ල පිනූ ඔහු පුංචි ගැහැනු ළමයා ද වඩා ගෙන දාවිත්ගේ මිදුල දෙසට දුවන්නට විය. කෙටිහාමි සන්තෝෂයෙන් ඒ දෙස බලා සිටියේ ය.

"ඔච්චයේ කියන එව්වා හැබෑට ම විස්වාස ද උඹලට...?"

"අප්පුච්චා මේ මොනවා කතා කොරනව ද? එහේ ආණ්ඩුවෙන් කියන දේ තමයි මෙහෙ අපට ඇහෙන්නේ..."

"හා... හා... උඹල අහපල්ලකෝ... අහල මටත් කියාපල්ලකෝ..."

එසේ කී මහල්ලා මුවග මඳ සිනාවක් මවාගෙන ඈත බලා ගත්තේ ය.

දාවිත් යළි ගේ දෙසට යන විටත් සීලවතී විසින් රේඩියෝව වසා තිබූ පිරුවටය ඉවත් කරනු ලැබිණි. සිරිනයන විසින් රවුම් මූඩිය කරකැව්වේ ය. ඉන් මුලින් ඇසුණේ බටනළා සද්දයකි.

"ඔන්න බුරම්පි අයියගෙ බටනළාව" යැයි එකෙකු කී කල පිරිස සිනා සෙන්නට වූ හ. නන්දෝරිස් සියල්ලන්ට ම සද්ද නැතුව ඉන්නැයි විධානය දුනි. පසු ව එහි මිනිස්සු කථා කර, මිස් ලැවැන්ඩරා පවුඩර් ගැන කී ය. ගුණතිලක නම් වූ සාන්තවත් තරුණයාට කිට්ටු තැනකින් සීලවතී ඉඳගත්තා ය. යුවතියගේ රවුම් ලොකු සුදෝසුදු පිරුණු මුහුණ, පමණටත් වඩා දිලිසෙමින් පෙනේ. මුලින් මුලින් රේඩියෝ ඇසීමේ දී ඈ අම්මලා අසලින් ඉඳගෙන පිරිස අතරින් ගුණතිලක දෙස බලාගෙන ඉන්නට වූ අතර, ඔවුන් දෑස්වලින් බොහෝ කාරණා කටයුතු සිදු කරගෙන තිබිණි. දවස් කිහිපයක් ගත වෙද්දී කාටත් නොදැනෙන සේ යුවතිය ඉඳගත්තේ ගුණතිලකට කිට්ටුවෙනි. රේඩියෝ රාවය අවට රැව්දෙද්දී ඔවුන්ගේ අත් ළං වී තිබුණු අතර, ඒවායේ සීතල පමණක් නො ව, ඉතා සිහින් රේඛා හැඩතල පවා ඔවුනොවුන් හරිහැටි හඳුනාගෙන තිබිණි. ඊළඟට ඇසුණේ බයිස්කෝප් පටයක් ළඟ දී එන බව කියන විස්තරයකි.

"බෞද්ධ පසුතලයක් මත නිපදවන මෙම චිත්‍රපටිය නරඹන ඔබ බුද්ධාලම්බන ප්‍රීතියෙන් ඔදවැඩී යනු නොඅනුමාන ය. ශ්‍රීපාද අඩවියේ එළිමහන් දර්ශන, භක්ති ගීතිකා, ඉර සේවය සියැසින් දැකගැනීමට 'දෙයියන්ගෙ රටේ' එන තුරු ඉවසන්න."

ඒ මහා ආශ්චර්යය ගැන සිහි වී ඇහුංකන් දෙමින් සිටි උන්ගේ පපුවේ වේගය වැඩි වූවා සේ ය. ඉන් පසු ව ඇසුණු බෙර සද්දයකට පසු බරැති පිරිමි කටහඬක් ඇසිණි.

"ලංකා ද්වීපයේ කොඳු නාරටිය බඳු වූ ගොවි ජනතාව වැටී සිටින අසරණ තත්ත්වයෙන් ඔවුන් මුදවාගෙන රට ආහාරවලින් ස්වයම්පෝෂිත කිරීමේ අරමුණින් මහජන එක්සත් පෙරමුණු, ආණ්ඩුවේ කෘෂිකර්ම හා ආහාර ඇමැතිතුමා වන පිලිප් ගුණවර්ධන මහත්මයා විසින් ඉදිරිපත් කරන ලද එක්දහස් නමසිය පනස්අට, අංක එක දරන කුඹුරු පනත පාර්ලිමේන්තුවේ සම්මත වූ බව මහත් සන්තෝෂයෙන් කියා සිටිමු."

දාවිත්ට උන් තැනින් නැගිට්ටුණේ ය. දනුම් තේරුම් ඇති කිහිප දෙනෙකු අතර යම් කසුකුසුවක් හටගත් අතර ඒ සැමට නිශ්ශබ්ද ව ඉන්නැයි දාවිත් ඇඟවී ය. ඒ ගම්භීර හඬ තව දුරටත් ඇසේ.

"...අද ගොවීන්ට ස්ථිර තත්ත්වයක් උදා කරමින්, අස්වැන්නෙන් වැඩිපුර කොටස ගොවි ජනතාවට කිසි ම ආධාරයක් නොදෙන ඉඩම් හිමියන්ට නොදී, මුළු අස්වැන්නෙන් බුසල් පහළොවක් නැත් නම් හතරෙන් පංගුවක් යන මේ දෙකෙන් එක ක්‍රමයක් අනුගමනය කරමින් වැඩි කොටස මහන්සි වන ගොවියාට ලැබීමට මේ මඟින් කටයුතු කර තිබේ... ඒ වාගේ ම සියලු ම කුඹුරුවල අද ගොවි අයිතිය දූන් මේ මොහොතේ සිට කුඹුරු වැඩ කරගෙන ඉන්නා ඒ ඒ ගොවීන්ට හිමි වන අතර ඒ ගොවියන්ගෙන් පසු ඒ ගොවියන්ගේ ඊළඟ පරම්පරාවලට හිමි වේ..."

දාවිත් දිස්නේරිස් දෙස බැලුවේ අනුකම්පාවෙනි. හේ කට ඇරගෙන අසා හිඳී. සමහර ගොවියෝ රේඩියෝවට වැඳගෙන සිටියහ. මේ පුවත සිය පියාට කියන තුරු දාවිත්ට ඉවසුම් නැත. ඔහු කඩුල්ල දෙස බැලුවේ ය. කෙටිහාමි සුපුරුදු සේ ඉඳගෙන ඈත බලාගෙන හිඳී.

"කන්නයක අස්වැන්න වැඩි වන්නේ නම් ඒ වැඩිපුර අස්වැන්න ගෙදරට වී නිකං නිදාගෙන ඉන්නා ඉඩම් හිමියාට නො ව, වෙහෙස මහංසි වී වැඩ කළ අඳ ගොවියාට ය. එසේ අස්වැන්නෙන් වැඩි වන කොටස මෙයට පෙර ඉඩම් හිමියා විසින් ගැනීම ඉඩම් හිමියා සිදු කළ නින්දිත නිවට හොරකමක් හැටියට සලකන බවත් ඒ මහතා පාර්ලිමේන්තු කතාවේ දී බය නැති ව ම කියා සිටියේ ය."



පිරිස අත්පුඩි ගැසූ හ. සමහරු සාධුකාර දුන්හ.

දාවිත්ගේ මිදුලේ එක ම සතුටු සාගරයකි. අවුරුදු දවසක් වාගේ ය.

හිරු කඳු වළල්ලට මුවා වීමට ආසන්න ය. වලාකුළු ඒ අන්තිම හිරු අසල කැටි වී රොක් වී හිඳී. කුඹුක් ගස් සහිත අහස් පසුබිම රත් පැහැ ගැන්වී තිබේ. සිහින් සුළඟක් අවට සැරි සරයි. පිච්චි නිදන තැන වටා වූ ගස් පඳුරු වරක් සැලිණ. පිච්චිහාමි කල්පනා කරන හොඳ දේවල් නිසා එසේ ගස් සැලෙන, දිලෙන බැව් කෙටිහාමි දනී. දාවිත්ලාගේ ගෙදර සතුටු සිනා කතාබහ තව-තවත් උස් ව ඇසෙන්නට විය.

* * *

නන්දෝරිස් ගොඩකවෙලින් පොල්ගහ ලකුණ ඇති අරක්කු බෝතල් තුනක් ගෙනැවිත් තිබිණි. අරක්කු නොබොන උන් පවා එදා රාත්‍රියේ අරක්කු ඩිංගක් බිවූ හ. සන්තෝෂය නිසා ම රේඩියෝව දිගට ම දමා තැබීමට නන්දෝරිස් තීරණය කළේ ය. නන්දෝරිස් මොහොතකට ගෙට යන්නේ දාවිත්ට ඉඩ දෙමිනි. ඒ පමාවෙන් දාවිත් වඩියක් උගුරට හලාගත්තේ ය. යන්තේනිස්ලා, හෙයාදිරිස්ලා, සෙදෝරිස්ලා, නිදුක්හාමිලා, පැන්සහාමිලා, කරනිස්ලා, රොමානිස්ලා, පොන්තේනිස්ලා, දිස්නේරිස්ලා ජීවිතේ කිසිදාක කියාගැනීමට නොහැකි වූ දේවල් කතා කිරීමට පටන් ගෙන තිබේ. තිලකරත්න පුදුමයෙන් යුතු ව ඒ පුද්ගල මුහුණු දෙස බලාගෙන සිටියේ ය. දාවිත් සැමට උපදෙස් දෙමින් එකිනෙකා අසලට යමින් ආඩම්බරයෙන් පසු වේ. දිස්නේරිස් කඳුළු පිරි දෑසින් දාවිත්ට ළං වුණේ ය.

"දාවිත් මාමේ... උඹ කී දේ තේරුණා රත්තරං... මට කුඹුර නැති උණා... අප්පෝ ඒක කපටිකමින් මගෙන් උදුරාගත්තා... මට සේරම නැති උණා රත්තරං..."

ඔහු දාවිත්ගේ කරේ එල්ලී හඬන්නට විය. දාවිත් තරුණයාගේ උරහිසට තට්ටු කළේ ය. ඒ දෙස බලාගෙන උන් නන්දෝරිස් දිස්නේරිස් රැගෙන කඩුල්ල දෙසට ගියේ ය. එය තරමක් හෙමින් සිදුවන කතා බහක් ලෙස පැවැත්වීමට නන්දෝරිස්ට වුවමනා වී තිබේ.

"උඹට තේරෙනව ද දිස්නේරිස්, අප්පෝ උඹව රැවැට්ටුවා කියලා...?"

"මාමා මට කිව්වා... මට දැනුයි තේරෙන්නෙ නන්දෝරිස් අයියේ... අනේ මගේ ළමයි පැටවු..."

"අප්පො තනිකඩයා. උඹ දරු පවුල්කාරයා... උඹට මා එක්ක ඉස්සරහට වැඩ කොරන්න පුළුවනි. බය නොවී ඉඳහං... කෙරෙන්න ඕනි විදිහ මං උඹට කියන්නං... දැං මේ කුඹුරුවල අයිතියක් අපිටත් තියෙනවා... අඬන්නැතුව සන්තෝස වෙයං.''

* * *

පසු දා උදය මීදුමෙන් පිරුණු එකක් විය. පැවුම දිගට ම අල්ලන්නට විය යුතු ය. රාත්‍රියේ සිදු වූ ඒ විනෝදජනක ගී නැටුම්වලින් පසු දාවිත්ගේ මිදුලේ තැන්-තැන්වල වැටුණු පිරිස් තව ම නින්දේ ය. උදේ ම අවදි වුණු පුංචි තිලකරත්න මිදුලට බැස, තැන්-තැන්වල වැටී උන් ඒ පිරිස් දෙස පුදුම වී බලාගෙන සිටියේ ය. දුවගෙන ගොස් ඒ පිළිබඳ ව කිරි ආතාට කීමට පුංචි එකාට වුවමනා වී තිබේ. කිරි ආතා කඩුල්ල අසල පුටුවේ ඉඳගෙන හිඳිනු පෙනේ. හීතල පිනි කැටිති කිරි ආතාගේ ඇඟ පුරා ම ය. කොණ්ඩය පුරාත් රැවුළ පුරාත් සමේ රැළි පුරාත් පිනි කැටිති නදට තැවරී සුදු පැහැ වී තිබේ. සරම පින්නට තෙත් වීලා ය. ඒ අමුත්ත පුංචි තිලකරත්නට පුදුමයකි. ඔහු මහල්ලාගේ උකුළට පැන්නේ ය. ටිකකින් මහල්ලා සොලවා කෑගැවේ ය.

"කිලි ආතා හයි වෙලා. කිලි ආතා හයි වෙලා..."

කුස්සිය පැත්තේ සිට මහල්ලාට සහ ගුණාදරීට කහට කෝප්ප දෙක රැගෙන එමින් උන් රොසලින් ඒ හඬට කලබල වී කඩුල්ල අසලට ආවා ය, කහට කෝප්පය බිම තබා මහල්ලාගේ ඇඟට අත තැබුවා ය; වහා තිලකරත්න වඩාගත්තා ය. ඒ පිනි තැවරුණු මහලු කය පුටුවෙන් පෙරළී 'ඩොග්' ගා පහළ ලියැද්දට වැටුණේ ය. රොසලින් යටිගිරියෙන් කෑගැවා ය.

"අනේ සමන් දෙයි හාමුදුරුවනේ අපේ කිරි ආතා..."

# 19

යායේ ඉතා උස් කුඹුක් ගසක් ගමේ පුංචි එකෙකුගේ කඩදාසි සරුංගලයක් සදාකාලික ව ම අත්පත් කරගෙන ඉන්නා අයුරු පෙනේ. එහි ඉතිරි වුණු රැළි සවස් සුළඟට සෙලවෙමින් තිබුණේ ය. ඒ සිහින් සුළඟට ම කෙටිහාමිගේ සොහොනේ වියළි ගොක් රැහැන් වරක් සැලිණි. කෙටිහාමි ඉද්දී දාවිත්ට කියා තිබූ පරිදි පිච්චිගේ වළ ළඟින් ම ඔහු ද භූමදානය කර තිබිණි. ඔහුගේ මරණය සැල වී බාරවත්තේ සහ මාදම්පේ වත්තේ දෙමළ පිරිමි කිහිපදෙනෙකු සහභාගී වී තිබුණු අතර ඔවුන් රාත්‍රියක් නිදිවරා වළ කැපීමට ද උදව් දී ගොස් තිබිණි. ඒ බව දුටුවත් නන්දෝරිස්වත් දාවිත් වත් ඒ පිළිබඳ කිසිවක් කතා නොකළහ. භූමදානය සඳහා ඒ කුඩා බිම් පෙදෙස වල් සුද්ධ කළ ද යළි සෙමෙන් වල් පැළ හිස ඔසවමින් කාලය ගත වීමට රුකුලක් දෙමින් සිටියේ ය.

නැමුණු කුඹුක් ගහ ළඟ නන්දෝරිස්ලා පටන් ගත් පතලය තව ම වැඩ ය. පාසල් ඇරී ගෙදර ආ තිලකරත්න පතල්පොළට යන ගමනේ අතරමඟ දී කිරි ආතාගේ සොහොන ළඟ නතර වෙයි. ඔහුට නිතර ම කිරි ආතාගේ සුළං කවි සිහි වෙයි.

ඔහු නියරෙන් ගොඩ වී මහල්ලාගේ සොහොන අසලට ගියේ ය. පස්ගොඩ මත පැළ වුණු ගඳපානා, ඇඹුල්පලා පැළවල පත්‍ර යටි පැත්තේ පිනි කැට ඉතිරි වී තිබේ. තිලකරත්න ඒවා අතගා බැලුවේ ය. අතට සිහිලක් දැනිණි. තමා කිරි ආතා අවසන් වරට දුටු, අතගෑ දිනයේ ද මෙවැනි ම වූ පිනිකැට රාශියක් ඔහුගේ රැවුළ පුරාත් සම පුරාත් තැවරී තිබුණු ආකාරය තිලකරත්නට සිහිනයෙන් වාගේ සිහි විය. මේ ඒ පිනිකැට ම ය. ඔහු එසේ කල්පනා කරමින් යළි ලියැද්දට බැස පතල්පොළ දෙසට යන්නට වූයේ ය.

පතල් වාඩියේ දිස්නේරිස් කහට උණු කරන විට නැඟුණු දුම ඉහළ නැඟී කුඹුක් ගස් මායිමේ දී දිය වී තුනී වී යයි. තිලකරත්න සෙමෙන් සෙමෙන් පතල් පොළට ආ කල ''සොහොන් බිම පාගල පතල් පොළට එන්න එපා පොඩිමහත්තය'' යැ යි අකැමැත්තෙන් යුතු ව තිලකරත්නට කියයි.

*  *  *

ඉල්ලං කුඩ අතින් අත මාරු වී මහපොළොවෙන් මතුපිටට එයි. ඒ අසල හිඳ සිරිනයන ඒ අපූරුව දෙස බලාගෙන හිඳී. වළේ සිට අතින් අත ඉල්ලං කුඩ ඉහළට එද්දී හිස් කුඩ අතින් අතට යමින් යළි වළ පතුලට යයි. නන්දෝරිස් සිරිනයනට ඉල්ලං කුඩ පෝලිමට කතා කළේ ය. ඔහු අතින් ගිලිහෙන්නට ගියේ ඒ පළමු ඉල්ලං කුඩය පමණි. හේ ඒ රටාව හරියට ම අල්ලාගත්තේ ය. ඒ කහ පැහැති බොරලු ඉල්ලම ගරන දා කලින් රාත්‍රියේ සිරිනයන සුදු නාගයෙක් සිහියෙන් දැක තිබිණි. ඔහු උදේ පාන්දර ම ඒ බැව් පියාට කීවේ ය. ඒ අසා නන්දෝරිස් සහ දිස්නේරිස් පුදුමයට පත් වූ හ.

"සුදු නාගයෙක්...? ඌ මොනව හරි වමාරන්න හෙම හදනවා වාගෙ පෙනුණ ද?"

විමසිල්ලෙන් යුතු ව එසේ ඇසුවේ නන්දෝරිස් ය.

"ඔවු... නැමුණු කුඹුක් ගහ මුල ඌ දඟලුවා..."

නන්දෝරිස් සහ දිස්නේරිස් මූණට මූණ බලාගත්හ.

"කෝකටත් ගරන්න කලියෙන් සමන් දේවාලෙට ගිහිල්ල එමු..."

*  *  *

රාත්‍රී පතල්වාඩිය පුරා බජව් හඬ මහ ජයට ඇසුණේ ය. කඩුල්ල අසලට වී තිලකරත්න ඒ දෙස බලාගෙන සිටියේ ය. පතලයෙන් වාසි වූ පසු ආතාත්, තාත්තාත්, දිස්නේරිස් බාසුන්නැහේත් ගල රැගෙන කහවත්තේ ගිය අතර, ඒ එන ගමනේ දී වැඩ කරන අයට අරක්කු ගෙනැවිත් තිබිණි. ගෙදර ඇතුළේ අමුතු ම පරිසරයක් සැදී තිබේ. ගෙදර සියලුම සැලකිලි අයියා-සිරිනයනට ය. අම්මලා ඔහුට පැයෙන් පැයට තේ සාදා දෙයි. තිලකරත්න පොත් පාඩම් කර රෑ මැදියමේ නින්දට යන විටත් පතල්වාඩිය දෙසින් බජව් හඬ ඇසුණේ ය.

# 20

''වරෙල්ලා... වරෙල්ලා... යකුනේ වරෙල්ලා... පතලෙ කඩාගෙන වැටුණෝ... අප්පුහාමි යට උණෝ... ''

පතල් සේවකයෙකු එසේ යටිගිරියෙන් කළ කෑගැසිල්ලට කාමරයේ පොතක් කියවමින් උන් තිලකරත්න ගැස්සී ගියේ ය. ඔහු වහා මිදුලට බැස කුඹුරු යාය දෙස බලන විටත් දිය බෙරලිය ලියැද්දේ පතලය අසලට යායේ සෑම පතලයක ම වැඩ කරමින් උන් මිනිස්සු දුවමින් සිටියහ. තාත්තාත් අයියාත් පතල්පොළේ ලොකු බාස් උන්නැහේ වූ දිස්නේරිසුත් ඒ දෙසට දුවනු පෙනේ. පුද්ගලයා පතල් වළ අසල හිඳ දිගට ම කෑගසයි. තිලකරත්න ද කුඹුරු යාය පුරා වූ පතල් වළවල් අසලින් අඩියට දෙකට එතැනට දිව ගියේ ය. දිය බෙරලිය ලියැද්දේ වූ ගැඹුරු පතලයේ කැකිල්ල ගැසූ පතල් බිත්තියක් කඩා වැටී තිබේ. මිනිස්සු එතන වාඩි වී කෑගසති. තිලකරත්න ද මිනිසුන් අතරට ආවේ ය.

පොඩි අප්පුහාමි මාමා පතලයට යට වී ඇත. ඔහුගේ හිස පමණක් පස් ගොඩෙන් මතු වී ගැහෙනු පෙනේ. තිලකරත්න වෙවුලන්නට වූයේ ය. ඔහුට සෙනෙහෙලතා මතක් විය. මිනිස්සු පිස්සුවෙන් මෙන් කෑ ගසමින් පස් ගොඩ ඉවත් කරන්නට වූ හ. තිලකරත්න මිනිසුන් අතරට පැන, දෝතින් පස් ඉවත් කරන්නට වූයේ ය. නන්දෝරිස්, සිරිනයන සහ දිස්නේරිස් බාස් උන්නැහේ ගොඩට වී, 'ඉක්මන් කරපල්ලා' යි කෑ ගසති. කිහිප වරක් ගැහුණු පොඩි අප්පුහාමි මාමාගේ හිස තරමක් වේගයෙන් ගැහී, මඩෙහි එබී, නිසල වනු තිලකරත්න දැක්කේ ය.

''පොඩි අප්පුහාමි මාමේ...'' වෙවුලන හඬින් යුතු ව තිලකරත්නට කියැවිණ.

''ඉවර යි.''

තව අයෙකු කියනු ඇසිණි.

ආරංචිය ලද සැණින් ම ගම්මු සියල්ලෝ ම වාගේ පතල්පොළට රොක් වූ හ. තිලකරත්න බලාපොරොත්තු වූවා සේ ම ඒ අතර ගිරිය යටින් කෑගසාගෙන පැමිණියේ සෙනෙහෙලතා ය. ඇය ගවුමට උඩින් දැලි චිත්තයක් ඇඳගෙන හිඳී. ඇය කෑගෑවේ පුංචි දැරියක සේ ය.

"අනේ බුදු තාත්තේ... අනේ මේ මගෙ තාත්තා... අනේ ඇයි දෙයියනේ මෙහෙම වුණේ...? අනේ මගෙ තාත්තා ගොඩට ගන්න... අනේ මාමේ මගෙ තාත්තා ගොඩට ගන්න.."

ගැහැනු කම්මුලේ අතගසා ගත්හ. යුවතිය නොනවත්වා ම කෑගසන්නට විය. මිනිසුන් තව ම පස්ගොඩ ඉවත් කරන්නට මහන්සි වන බව පෙනේ. ගමේ ගැහැනු කිහිප දෙනෙක් සෙනෙහෙලතා අල්ලාගෙන ඇයව අස්වසන්නට උත්සාහ කරති. තිලකරත්නගේ ඇස්වලට කඳුළු පිරී තිබේ. සෙනෙහෙලතා පතල් වළට පනින්නට තනයි.

"අනේ මට ඉන්නෙ මගෙ තාත්ත විතර යි මාමෙ. මගෙ තාත්ත ගොඩට අරන් දෙන්න රත්තරං මාමෙ."

තිලකරත්නට ඒ විලාපය අසා සිටීමට පුළුවන්කමක් තිබුණේ නැත. එහෙත් තාත්තා සහ අයියා අසල සිටින නිසා සෙනෙහෙලතාගේ ළඟට ගොස් ඇය අස්වැසීමට ද පුළුවන්කමක් නැත.

ඒ අතර පොලිසියට දැන්වීමට නන්දෝරිස් පතල් සේවකයෙකු පිටත් කර හැරියේ ය. වුණු විපත ගැන මිනිසුන් හිත් තද කරගත් අතර, දිගින් දිගට ම කෑගැසූ සෙනෙහෙලතාගේ හැඬීම නතර වී සිහිසුන් වී ගියේ ය.

"පව්! අන්ත අසරණ කෙල්ල. ඒකිට තාත්තත් නැති උණා."

ගැහැනියක එසේ කියන අයුරු තිලකරත්නට ඇසුණේ ය. බොහෝ අය ඇයට කීවේ 'මවු මරා උපන් එකී' කියා ය. එහෙත් ඇගේ වැලපිල්ල අසා අද එතැන උන් සෑම කෙනෙක් ම පාහේ කඳුළු සැලූ හ.

කොරනෙල් විභාගයෙන් පසු ලී මැස්සක පොඩි අප්පුහාමිගේ දේහය වෙල් යායෙන් එගොඩ පිහිටි ඔවුන්ගේ පැල වෙත ගෙන යද්දී තිලකරත්න ද ඒ පසුපස ගියේ ය.



* * *

"තිලකරත්න, මම කල්පනා කළේ මාරගල අපේ නැන්දලගෙ ගෙදර යන්න. මෙහෙ තනියම ඉන්න බෑ නෙ. එහෙ ගියා ම මට නැන්දලගෙ කුඹුරුවල බතල වැඩ කරන්න පුළුවනි."

පොඩි අප්පුහාමිගේ හත් දවසේ දානයේ කටයුතුවලින් පසු තිලකරත්න හා සෙනෙහෙලතා හමු වූයේ අමුණ අසල දී ය. ඇය රෙදි සේදීමට ඇවිත් සිටියා ය. ඔහු නාන්නට ආ ගමන් ය. සෙනෙහෙලතාගේ සන්ධ්‍යාව බඳු නෙත් තවත් අඳුරු වී තිබේ. නෙත් වටා කළුපැහැ ගැන්වීලා ය. මුහුණේ සිනාවක් තිබුණේ කලාතුරකිනි. එහෙත් තමා දුටු තැන්වල දී ඒ ඇස් සිනා සුණු අයුරු තිලකරත්නට සිහි විය. මළගෙදර දවස් ටිකේ ම ඇය එක දිගට ම පියා ගැන කියමින් හැඬූ හැටි... ඈ මාරගල යනවා යි කියන විට ඇයගේ හඬෙහි වූ ඒ අන්ත අසරණ ස්වරය තිලකරත්නගේ සිත් ගැඹුරේ හු චලනයක් වැනි එකක් ඇති කිරීමට සමත් විය.

"අපේ නැන්ද දවසක් මගෙ කේන්දරේ බලල තිබ්බ. මම බෙරණ නැකතෙලු; කාලකණ්ණිලු; වගතුවක් නැලු. ඒක ඇත්ත තමයි. අපෙ අම්ම මළේ මං නිසා. තාත්තත් මළේ මං නිසා. ඒත් මට මහන්සි වෙලා වැඩ කරල නැන්දලාගෙ හිත දිනාගෙන ඉන්න පුළුවන් වෙයි."

ඇය එසේ කියා සුසුමක් හෙළා, යළි රෙද්දක් දියේ එබුවා ය. ඉස්කෝලෙ දී කොල්ලෝ ඇයට හොටු පෙත්තී, කරපිංච නැට්ටී වැනි වන්නගම් කියද්දී ඒ කොල්ලන් පන්නා දමා තමා ඇය බේරාගත්තේ ය. එහෙත් ඇය වැඩිකල් ඉස්කෝලේ ආවේ නැත.

පුංචි කාලේ ළමයි එක්කාසු වී දැමූ සෙල්ලම් ගෙවල්වල දී බොහෝ විට ගෙදර ගැහැනිය සහ මිනිසා වූයේ සෙනෙහෙලතා හා තමා ය. ඇය පුංචි කෝම්පිට්ටු අනෙක් ළමයිට දී ලොකු ම කෝම්පිට්ටුව කැන්ද කොළයක තබා තමාට දුන් විදිහ පුදුම ය. එහෙත් ඒ බොහෝ තැන්වල දී අම්මලා 'හා හා ඔය ළමය යනව යන්න ගෙදර..' යි කියා සෙනෙහෙලතාව ගෙදර පිටත් කර හැරියහ.

කුඹුරු යාය පුරා වූ පතල්වල පිරිස් කඩි මෙන් වැඩෙහි යෙදී හිඳිනු පෙනේ. අඩුවකට ඇත්තේ පොඩි අප්පුහාමි මාමා පමණි. එහෙත් ඒ අඩුව කිසි කෙනෙකුට හැඟී ඇති බවක් නො පෙනේ.

පතල් ඇංජින්වලින් පිට වන බොරවතුර දොළදියට එක් වෙයි. ඇංජින් සද්ද කුඹුරු යාය සිසාරා යයි. ඒවායෙන් නැගෙන තෙල් මිශ්‍ර දුම ගඳ අවට සුළඟේ පිරී ඇත. මිනිස් අතින් අතට ඉල්ලං කුඩ යුහුසුලු ව පොළොව ගැඹුරේ සිට මතුපිටට විත් ගොඩගැසෙනු පෙනේ.

පොඩි අප්පුහාමි මාමා මැරුණු දිනයේ පතලය අසල මඩ ගොඩේ ගැහැනියකගේ උකුළේ වැටී අසිහියෙන් මෙන් කෑගසන කල සෙනෙහෙලතාගේ එහෙ මෙහෙ වුණු රෙදි අතරින් පෙනුණු කලවා දෙස බලා උන් සුමතිපාල කැකිල්ල මිටියක් කර තබාගෙන පතල්පොළට එනු පෙනේ. තිලකරත්න සෙමින් හඬ අවදි කළේ ය.

''කොච්චර සල්ලි හම්බ වුණත් තාත්තලගෙ පතල් වැඩවලට මගෙ කැමැත්තක් නෑ. අපේ කිරි ආතා මේ කුඹුරුවලට කොයි තරම් ආදරේ කළා ද? ඒත් අද මේ යාය අඳුරගන්න වත් බෑ. සේරම විනාස වෙලා. මං ඉක්මනට රස්සාවක් හොයාගන්නව. ඊට පස්සෙ සෙනෙහෙලතාව බඳිනව..''

පතල්වල ඇංජින් හඬ යටපත් කරගෙන දොළේ දිය ගලන හඬ ඇසෙන්නට විය. පිටට නොපෙනුණු සිනාවක් ඇගේ මුහුණ අභ්‍යන්තරයේ කැටි වනු පෙනේ.

''සත්තයි ද තිලකරත්න?''

''ඔව්.''

* * *

"මුත්තෙට්ටුවගම අප්පො කලවාන ආසනේ පරාද වුණු එකට තාම රත්නපුරේ කලබල. අප්පොගෙ පක්ෂෙ අයගෙ ගෙවල් හිටං ගිනි තියලා. කාර්-එකත් කුඩු කරලා... ටික දවසක් කලබල අල්ලා හිටීවි. අපි හිතාන හිටියට වඩා ලොකු වෙනසක් වේවි රටට. බිස්නස්වලටත් හොඳට හිටීවි. ගොඩකවෙල අලුත් කඩපෙළක් හදන්න යනව. මුත්තෙට්ටුවෙගම අප්පොට දැන් තියෙන්නේ හිමින් යූඇන්පියට එක්කාසු වෙලා ඔය රත්නපුරේ අනිත් මන්ත්‍රීගොල්ල වගේ හොඳ පතල් ටිකක් කරවන්න යි..."



සිය අලුත් ම 7 ශ්‍රී ලාන්සර් මෝටර් රියෙන් රත්නපුර සමන් දේවාලයට ගොස් පැමිණි සිරිනයන සිය පියාට එසේ කිවුවේ අලුත් ගෙයි පෝටිකෝව යට රථය නතර කර, ඉන් බසින ගමන් ය. නන්දෝරිස් ගෙතුළ හිඳ එළියට ආවේ කාර්-එකේ සද්දයට ය. සිරිනයන ගමන ගියේ දිස්නේරිස් සමඟ ය. ඒ අමුණ ළඟ ලියැද්දේ අලුත බැසීමට කටයුතු සූදානම් කළ පතලය වෙනුවෙන් බාරයක් වීම සඳහා ය. ඔවුහු පුරුද්දක් විදිහට සෑම පතලක් පටන් ගැනීමට පෙරත්, ඉල්ලං ගැරීමට පෙරත් රත්නපුර මහ සමන් දේවාලයට බාරයක් වීම අනිවාර්ය කටයුත්තක් සේ කරගෙන ගියහ. එය සෑම විට ම සිරිනයනලාට වාසනාව රැගෙන ආවේ ය. ඔවුන් සාලයට පියමං කර අලුත් ම කුෂන් පුටු සැට්යේ අසුන් ගනිද්දී නන්දෝරිස් විදුලි පංකාව ක්‍රියාත්මක කළේ ය.

"ගිය කාරිය හරි නේද? මං නැහැ යි කියලා අඩුවක් උණේ නැනේ?"

නන්දෝරිස් එසේ ඇසූ කල පුතු සිරිනයන උත්තර දුන්නේ ය.

"හිතුවටත් වඩා හොඳට කෙරුණා. පතල් කණ්ඩායම හුඟක් දේවාලෙට ඇවිල්ලා හිටියා. ඒත් රස්තියාදු වෙන්න උණේ නෑ..."

තමාට විටින් විට හටගන්නා පපුවේ අමාරුව නිසා නන්දෝරිස් දැන් දුර ගමන් යන්නේ නැත. ඔහු ඉංග්‍රීසි බෙහෙත් බොයි. වසරක් පාසා සිරිතක් ලෙස යන කතරගම වන්දනා ගමනට වත් ඔහු මෙදා පාර ගියේ නැත්තේ මේ කරුමක්කාර අසනීපය නිසා ය. ඒ නමුත් ඔහු සියලු කටයුතු පිළිබඳ ව සොයා බලයි. එහෙත් පතල් කටයුතුවල සියලු වගකීම් දරන්නා සිරිනයන ය. අද ඔහු පතල් පොළවල් කිහිපයක් දක්වාත්, සිරිනයන මැණික් සාප්පුව දක්වාත්, පැරණි ගේ කඩා ඉදි කළ මේ දෙමහල් මැඳුර දක්වාත්, පොසොන් පෙරහරේ බස්නායක නිලමේ තනතුර දක්වාත් දිගු ගමනක් පැමිණ තිබේ.

ඔහු සුදු සරම හැඳ රැපියල් සියයේ කොළය පිටට පෙනෙන්නට සාක්කුවේ ඉස්සරහින් දමාගත් විනිවිද පෙනෙන ඩිපි කමිසය ඇඳගෙන, උඩ බොත්තම නොදා චේන් පොට පෙනෙන්නට ඉන්නා විට පෙනුමෙන් කහවත්තේ ටීසන් මුදලාලි වාගේ ය. රූපය විසින් අනාගතය කියාපාන ජාතියේ පෙනුමකි. ඔහුට කසාද බඳින්නට කතා කර ඇත්තේ පැල්මඩුල්ලේ මැණික් පවුලකින් ය.

නැකැත්කරුවන්ගේ උපදෙස් පිට විවාහය තව වසරක් පමා කරන්නට සිදු වී තිබේ. බැලූ බැලූ අත වාසනාව ය. ගේ පරාද වෙනවා නම් ඒ උපසේන මුදලාලිගේ ගෙදරට ය. එක ම එක පරහක් වේ නම් ඒ කෙට්හාමිලා විසූ අප්‍රියජනක පරණ ගෙපැල පමණි. නෙත් අද මැහැල්ල තව ම ගෙතුළ වෙසේ. ඇය ජීවත් ව ඉන්නා තුරු ඒ ගේ කඩා දමනවාට ලෙඩ ඇඳේ ඉන්නා දාවිත් කොහෙත් ම කැමැති නැත.

මැහැල්ලගේ කටයුතු බලා-කියාගැනීමට වෙන ම ගැහැනියක කුලියට පත් කර ඇති අතර ඕ උදේ වින් ගුණාදරීගේ කටයුතු ඉටු කර දී සවස යයි. මැහැල්ල මිය ගිය විගස එතැන ඒ ගේ කඩා, නාන තටාකයක් සෑදීමට සිරිනයන සැලසුම් කරගෙන හිඳී.

"ඒකයැ තාත්තේ... ගෙවුඩ ගණං ගිහිං තියන එකනෙ පුදුමෙ... රත්නපුරේට අලුත් ම වෙළෙන්දො වගයක් බැහැලා... ගෙවුඩ දූං මිල යි නිල්, රතු ගානට... මුල් සංදියේ ගරද්දී අපි ගණං ගත්තේ නැ නේ දූංගල් කියල... යූඇන්පිය ආවයි කියන්නේ ඔන්න බලන්නකෝ... මැණික් මිල තව නඟීවි. තව කාලයක් යන කොට කට්ට කැලිත් මිලට ගන්නව කියලා ආරංචි වෙයි... හෙහ්... හෙහ්..."

දිස්නේරිස් බාස් උන්නැහේ ද හිස වනා එය අනුමත කළේ ය.

"එහෙම යි, රත්තරං නන්දෝරිස් අප්පෝ..."

"රත්නපුර හැම තැන ම ඇදුම් පතල්. අපි උන්නේ කළු ගඟේ විතරයි කියලනේ. නෑ... වේ ගඟේ, දෙනවක ගඟේ, කුරු ගඟේ... හැම තැන ම. මං දිස්නේරිස්ට කිව්වා සාස්තරේ බලාගන්න ය කියලා. යායට ම ලයිසනුත් ගත්තු-එකේ මං කල්පනා කළේ දොළ අදින්න..."

පොතක් අතැති ව සාලය හරහා ගමන් කරමින් උන් තරුණ තිලකරත්නට ඒ කතාව ඇසුණේ ය. හේ බිම බලාගෙන එතැනින් මඟහැර යද්දී නන්දෝරිස් ඔහුව ඇමතුවේ ය.

"තිලකරත්න, මෙහෙන් ඉඳගනිං. පොත් පෙරළපෙරළා ඉඳලා ම හරියන්නේ නෑ. මේ කියන කතාත් අහගනිං ටිකක්... උඹත් මේ සාස්තරේ ඉගෙනගන්න එපැ යි... මාතර මහත්තය හවුල දෙන පතලේ මිනිහගෙ පොඩි පුතා වැඩ කොරනවා. ඇයි ඒ...? සල්ලි නැතුව ද...? නෑ... තමුන්ලයේ කර්මාන්තෙට තියෙන ආදරේ හිංදා. ටිකක් ඇහැරලා බලාපං... ඉලංදාරි කී දෙනෙක් ටෝච් අතේ තියාගෙන



ටවුමට බැහැලා ගල් එනකං ඉන්නව ද කියලා... ඒ මොක වත් ඕන්නෑ. නාඹු බලන වෙලාවට වත් ටිකක් ඇහැගහගෙන ඉන්නව නං... පෙරේදාත් ඇන්දානෙ ධනපාල මුදලාලිගෙ පතලක ගලක් හොරකම් කොරලා..."

තිලකරත්නට දොස් කියනා ස්වරයෙන් එසේ දිගින් දිගට ම කී නන්දෝරිස් යළි සිරිනයන වෙත යොමු විය.

"හ්ම්... ලියැදිවල ඉල්ලං බැස්ම තියන්නේ දොළ සීමාවට තමයි."

තිලකරත්න මඳක් කල්පනා කොට අසල පුටුවක ඉඳගෙන ඔවුන්ගේ කතාවට ඇහුම්කන් දීගෙන සිටියේ ය. ඉල්ලං කඩන විට කකුලේ ඇඟිලි අතර ගලක් හංගාගත් මිනිසෙකුට තාත්තලා පහර දුන් අයුරු තිලකරත්නට සිහි විය. පතල් ආයුද කාමරයට ගෙනා ඒ තරුණයාට කකුලක් කැඩෙන තුරු පහර දී තිබිණි. ඔහු යළි වැඩට ගත්තේ ද නැත. තාත්තලා ඒ තරම් දරුණු වූයේ කෙසේ ද යන්න තිලකරත්න කල්පනා කළේ ය. පොඩි අප්පුහාමි මාමාගේ මරණය වෙනුවෙන් තාත්තලා කර තිබුණේ පෙට්ටිය අරගෙන දුන්-එක පමණි. පොඩි අප්පුහාමි මාමා මැරුණේ තාත්තලාගේ පතලේ වැඩ කරන අතරතුරේ ය. එහෙත් තාත්තලාට එහි වගක් නො වී ය.

"බිංපංගු ආරවුලකුත් නැති එකේ ලයිසන් ගත්තු සීමාව එහෙම්පිටින් ම සුද්ධ කරන-එකයි කොරන්න ඕනි..."

නන්දෝරිස් එසේ කී කල දිස්නේරිස් නන්දෝරිස් දෙස බලා බිම බලාගන්නා අයුරු තිලකරත්න දුටුවේ ය. වලවු පරම්පරාවේ අවසාන පුරුක වූ මද්දු අප්පෝ වලවුවේ නිදි පැදුරේ ම මිය ගොස් උන් අතර ඒ මරණය ගැන කියමින් සමහර දිනවල රාත්‍රියට පතල් වාඩියේ දී දිස්නේරිස් හීනෙන් බිය වී ගිරියයටින් කෑගසන බැව් පතලේ වැඩ කරන අය කතා වෙනවා තිලකරත්නට ඇසී තිබේ. ඉස්සර දිනෙක තිලකරත්න ඒ බැව් පියාගෙන් ඇසූ කල පියා තමාගේ කට මිරිකු සැටි මතක ය.

"මෙදා සැරෙත් කහවත්තේ සංගීත සංදර්සනේ තියනවා. බැනර් ගහලා තිබුණා. නම යන්න නං තොරණක්, සංගීත සංදර්සනයක් තියන්න ම ඕනි... කැලැන්ඩර් අච්චු ගහලා බෙදලා විතරක් මදි..."

අයියා කතා කරද්දී ඔහුගේ ගෙලෙහි වූ මහත රන් මාලය සහ රනින් කෙටූ 'සිරිනයන ජේම්ස්' අකුරු සහිත මාල පෙත්ත සෙලවී දිස්නය දෙන ආකාරය තිලකරත්න දුක්කේ ය.

* * *

සිරිනයන හවස කී ගෙවුඩ කතාව හේතුවෙන් නන්දෝරිස්ට නින්දක් නොවී ය. ඔහු මැදියම් රැයේ පතල් බඩු ගබඩා ගෙට ගොස් යකඩයක් හා පුංචි උදැල්ලක් ද විදුලි පන්දමක් ද ගෙන, සෙමෙන් සෙමෙන් කෙටිහාමිලා විසූ පරණ ගෙපැල දිහාවට ගමන් කරන්නට විය. ගෙපැල සාදන දා අත්තිවාරමේ නැඟෙනහිර මුල්ලේ දුංගලක් වැළලූ බැව් කලකට ඉහත කිරි ආතා ඉන්දැද්දී ගෙදර කතා වුණා මතක ය. මැහැල්ල මිය යන තෙක් සිටිය යුතු නැත. එය සෙවිය යුතු ය. සෙමෙන් ගෙපැල අසලට ආ නන්දෝරිස් විදුලි පන්දම දල්වා අසල තබා, යකඩයෙන් අත්තිවාරමේ නැඟෙනහිර කොන හාරන්නට පටන් ගත්තේ ය.

ඒ වන විටත් උඩු සිතක් හරිහැටි නොවුණු මැහැල්ලගේ යටි සිත සිනා උන් දේ ඒ අයුරින් ම සිදු වන බැව් හැඟී ගියේ ය. ඒ රුදුරු සත්ත්වයා පැමිණ හිඳී. ඌ මේ වේලේ මතු වන්නේ මහපොළො-වෙනි. ඌ පොළොව හාරාගෙන විත් තමා ගිලගන්නා බව ඇය දැන උන්නා ය. ඈ සෙමෙන් අඳුරු ගෙයි මුල්ලේ හිඳ හිස එසෙව්වා ය. සෙමෙන් දොර කිට්ටුවට ගැටුවා ය. මහපොළොව හාරාගෙන එන සත්ත්වයා දිගින් දිගට ම තමා සොයාගෙන එන බැව් ඇයට වැටහිණි. ඇය වසර ගණනකට පසු සෙමෙන් කෙඳිරිගෑවා ය; ඉතා සෙමෙන් මිමිණුවා ය.

"අප්පුච්චේ... ඕං ඌ එනවා... මහපොළොව හාරාගෙන එනවා. මාව ගිලින්න එනවා අප්පුච්චේ. ඌ තමයි මයේ පස්සට පයින් ඇන්නේ... අපේ කුඹුරු විනාස කොළේ... කුඹුරෙදි මාව ගිලින්න හැදුවේ... ඒ ඌ තමයි අප්පුච්චේ... මෙදා පාර මහපොළොව යටිං එනවා... මං උඹලාව හොයාගෙන එනවා... මං උඹලා ගාවට එනවා අප්පුච්චේ..."



ඇය තදින් හුස්ම ගනිමින් එසේ 'කුටු-කුටු' ගෑවා ය; ඉතා සෙමෙන් දොර විවර කරගත්තා ය. මිදුලට බැස කුඹුර දිහාවට දණගෑමට පටන් ගත්තා ය. මහපොළොව සිදුරු කරගෙන එන නපුරු සත්ත්වයා දිගට ම එනු ඇසේ. ඇය කොහෙන් දෝ තැනකින් කුඹුරට බැසගත්තා ය. නියර රටා තව මත් ඇයට මතක තිබේ. ඒ ඔස්සේ අමුණ දිහාවට යෑමට පටන් ගත්තා ය. එහෙත් නියරක් කෙළවර දී කිසි දා තමාට හමු වී නොතිබුණ මහා ප්‍රපාතයක් ඇයට හමු විය. එය සිහිනයක් සේ හැඟී ගියේ ය. සීතල මඩ ගොහොරුවක සිය කය පතිත වන අයුරුත්, ඒ මඩ ගොඩ ඔස්සේ ඒ සත්ත්වයා විසින් තමාව පොළොව තුළට ඇද ගන්නා අයුරුත් ඇයට වැටහිණි.

* * *

මේ බිමට පත් පළමු මිනිස් ප්‍රාණීන් දෙපළ විසින් බිම සකසා, දිවි අරඹා සංසාර දිවි පොටට අමුණන ලද පළමු ජීව වස්තුව එසේ ඉරණම් හර නොලබා ම මහපොළෝ පතල් පතුලක ගැඹුරේ සැඟවී යද්දී නන්දෝරිස් ඒ මහඟු වස්තුව-කිකිළි බිත්තරයක් තරම් වූ ගෙ වුඩය අතට ගෙන විදුලි පන්දමට අල්ලා බලා ඇස් ලොකු කරගෙන සුසුමක් හෙළුවේ ය. හේ කෙළ බිඳක් ගා එය ඉඳුල් කොට, සිය පුතු පළාතේ පළමු පෙළේ මැණික්කරුවා වන සිහිනය සිතින් දකිමින් නැඟී සිටියේ ය.

# 21

පරණ ගෙපැල කඩන දවස යි. නන්දෝරිස්ගේ විධානය අනුව පතල් සේවකයෝ කිහිප දෙනෙක් ඉතා පහසුවෙන් ඒ කාරිය සිදු කරති. තිලකරත්න ද ඒ අසල ගැවසුණේ ය. එක්තැන් ව ඉන්නා දාවිත් ද අලුත් ගෙදර පෝටිකෝව යට වූ හාන්සි පුටුවේ අසුන් ගෙන ඒ දෙස බලා හිඳී. මුලින් ම පිදුරු වහලය කඩා දැමිණි. ගේ තුළට අත් කිසි දාක නොවූ ආලෝකයක් වැටුණේ ය. එහෙත් එය පවතින්නේ තව ටික වේලාවකි. තිලකරත්න ගෙට එබුණේ ය. ගුණාදරී කිරිඅම්මා, ගේ මුල්ලේ විසූ තැන බිත්ති මුල්ල ඇගේ කොන්දට මැදී සිනිඳු වී තිබේ. පිට පඩිය අසල බිම කිරි ආතාගේ පැරණි විට කෙළ සලකුණු මලකඩ පැහැයක් ගෙන තව මත් ඉතිරි වී ඇති අයුරු පෙනේ. බිත්තියේ එල්ලා තිබූ වී කරල් මිට දිරා ගොස් ය. මුට්ටියක් හිල් කොට තැනූ ගේ කුරුල්ලන් නැති ගේ කුරුලු කූඩුව තව මොහොතකින් බිඳී යෑමට නියමිත ය.

මිනිසුන් කටයුතු කළේ හිත්-පිත් නැති උන් සේ ය. ඔවුහු ගේ තුළ තිබූ අල්ප අඩුම-කුඩුම අතර වූ බිඳුණු වළං, දිරා ගිය මලු පැදුරු, රෙදි, කැඩුණු වේවැල් පෙට්ටි, පුංචි වංගෙඩිය ආදිය එළියට විසි කළේ ඒවායේ අසරණ බවට, කුඩා බවට සිනා සෙමින් ය. වරිච්චි බිත්ති සතර - සතර අතට පෙරළුණේ දූවිලි නංවමිනි. මිනිස්සු ඒ පස්ගොඩවල් එතනින් ඉවත් කරන්නට වූ හ.

පසෙක ගොඩ ගැසූ ඒ අහිංසක බඩුබාහිරාදිය කිරි ආතලාට ජීවත් වීමට ශක්තිය සැපයූ ඒවා ය. ඒ අතර වූ කට ගැටගසා තිබූ මල්ලක් විවර කර බලන්නට තිලකරත්නට සිතුණි. ඔහු එය ගැටගසා තිබූ දිරූ ලණු පොට කැඩුවේ ය. මල්ල තුළ වූයේ වී ස්වල්පයකි. රවුම් වී ඇට ය. හේ ඒවා දෝතට ගෙන බැලුවේ ය. ඒ බොහෝ වී ඇට බොල් වී තිබේ. තිලකරත්න කටින් පිඹ බොල් වී ඉවත් කළේ ය. ඉතිරි වී ඇට ස්වල්පය නාසයට ළං කළේ ය. ඉතා දුරක සිට පැමිණි කාටුව සුවඳක සේයාවක් දැනී ගියෙන් ඔහු ඒ මහඟු සම්පත දෝතේ ගුළි කරගත්තේ ය.



* * *

දොළ දිගට ඇදුම් පතල් හේතුවෙන් කුඹුක් ගස් පෙළ කපා බිම හෙළන ලදි. ඒවා අවසන් වරට මහල්ලාගේ සුළං කවි සිහි කර සුසුම් ලනු තිලකරත්න දුර සිට බලාගෙන සිටියේ ය. ඒ කවි ගයද්දී මේ ගස් සලිත වූ පුදුමය පිළිබඳ තිලකරත්න කල්පනා කළේ ය. බොහෝ කලක් මේ කුඹුක් ගස් පහස ලබමින් කුඹුරු යාය හරහා හමා ගිය සුළං අද අලස වතින් හමා යනු පෙනේ. මහපොළොවේ මිණි කැට සියල්ල මෙසේ ගොඩගත් පසු යළි මේ කුඹුරු නිලට දිලෙනු ඇත; යළි කුඹුක් ගස් වැවෙනු ඇත. තිලකරත්නට එසේ සිතුණේ ය.

දොළ දිගට ඇදුම් පතල් ය. කුඹුරු පුරා ගොඩ පතල් ය. සියයක හමාරක පිරිසක් දිගට ම වැඩෙහි යෙදී හිඳිති. ඉතා දිගු මිට සහිත උදලුවලින් පිරිස් දොළ අදිති.

තැන් තැන්වල වූ පතල් වාඩිවලින් නැඟෙන දුම් හිස් අවකාශ පසුබිමේ අයාලේ ගොස් නැති වී යනු පෙනේ. අඳ කුඹුරු හිමියෝ සෑම කෙනෙක් ම පාහේ මේ පතල්වල දවසේ කුලියට වැඩ කරති. දවාල තිස්සේ මහන්සි වන ඔවුහු රාත්‍රියට පතල් වාඩිවල බජව් දමති. ඔවුන්ගේ ගී හඬවල් ගම පුරා පැතිරී යයි. ඒ ගී හඬවල් පුරා දවසේ මහන්සිය කැටි වී තිබේ. කැපූ කුඹුක් ගස් යෝධයන් ඒ තැන්වල ම පලංචි බැඳ ඉරා, ඒ ලී මිනිසුන් පිරිසක් විසින් ඔසවාගෙන අලුත් ගේ දිහාවට රැගෙන එන ලදී.

කිරි ආතාගේ මුහුණේ ඉතිරි වී තිබූ රැළි රටාවලට බෙහෙවින් සමාන වූ කුඹුරේ ලියැදි රටා මුළුමනින් ම වාගේ විනාශ වී ගොස් තිබිණ. දොළ දැන් ගලා යන්නේ ද පුරුදු පාරේ නො වේ; පතල් වැඩ කරන මිනිසුන්ට වුවමනා කරන පාරක ය.

යාබද ලියැද්දේ වූ පතලයේ ඉල්ලම් පාර කුඹුරෙන් ඔබ්බට විහිද තිබුණෙන් එතැන හැරූ නිසා ඒ නිසල භූමියේ මිහිදන් ව උන් උතුම් මිනිසුන්ගේ ඇටකටු ටික යළි පොළොවෙන් මතු විය. පතල් සේවකයන් ඒවා පොහොර උරයක ලා, අසල කැලයට දමා තිබූ අතර,

ඒ දුටු තිලකරත්න ඒ මාණික්‍ය බඳු වූ වස්තූන් ගෙන ගොස් වත්ත කෙළවර උස් තැනක වූ ගුණාදරී ආච්චිඅම්මාගේ සොහොන් කොත අසලින් වළක් කපා මිහිදන් කළේ ය. කාටවත් ම එහි වගක් නැත. ඒ පැරැණියන් පිළිබඳ ඔහුට මහා කනගාටුවක් දැනිණි.

* * *

සන්ධ්‍යාවේ පැවැත්වෙන 'සිරිනයන මැණික් මහා සංගීත රාත්‍රිය' බැලීමට යෑම සඳහා පළාතේ මිනිස්සු කලින් සිට ම සූදානම් වූ හ. සවස් වරුවේ පතල් කටයුතු ද නතර කරන ලදි. දහවල සිට ම ගේ අසල මහා පිරිසක් පොරකමින් සිටියහ. ඒ හේතුවෙන් ම නන්දෝරිස් විසින් දුරකථන ඇමතුමක් දී පොලිස් රාලහාමිලා දෙදෙනෙක් ද ගෙන්වන ලදි. ඒ සෙනග එසේ පැමිණියේ කොළඹින් පැමිණි ගායක ගායිකාවන් දැකගැනීමට ය. සිරිනයන ගෙදර වාදන කණ්ඩායමට සහ ගායික ගායිකාවන්ට කෑම සූදානම් වේ. කෝකිවරු පැමිණ ලහි ලහියේ කෑම උයති. කොළඹ පිරිස් පැමිණි බස් රිය සහ තවත් වාහන මිදුලේ පිරී තිබේ. ඒ වාහනවල වීදුරු තුළින් තම ප්‍රතිබිම්බය දැක රැවටුණු පුංචි කුරුල්ලන් කිහිප දෙනෙකු දිගින් දිගට ම ඒ වීදුරුවලට කොටන අයුරු තිලකරත්න දුටුවේ ය. උන්ගේ පුංචි හොට බිඳී තුවාල වනු ඇතැ යි ඔහුට සිතුණේ ය.

සාලයේ සාජ්ජයකි. ජෝතිපාල ඇතුළු ජනප්‍රිය ගායක ගායිකාවන් පිරිසක් ගමට පැමිණීම හේතුවෙන් රොක් වූ පිරිස් ජනෙල්වල පවා එල්ලී බලා සිටිති. ඒ සිහින රූ දැක-බලාගෙන සමරු පොත්වල අත්සන් කරගැනීමේ බලාපොරොත්තුවෙන් යුවතියෝ රැසක් දොර සීමාවේ රැඳී සිටියහ. සාලයේ පිරිස් කෑගසති; සිනා සෙති. කුස්සියෙන් පිරුණ කටගැස්ම දීසි සාලයට යයි. සාලයෙන් හිස් වූ දීසි කුස්සියට එයි. තිලකරත්න ද සාලයේ තැනක වාඩි වී ඒ දෙස බලා සිටියේ ය. ඒ නා නා විධ කැවිලි වර්ග දකින කල තිලකරත්නට සෙනෙහෙලතා මතක් විය. තාත්තාට සහ අයියාට පිරිස අතර මහත් ගෞරවයක් ලැබී තිබේ. කහවත්තේ මැණික් මුදලාලිලා කිහිප දෙනෙක් ද පැමිණ සිටිති. ඔවුන් බොන්නේ හොඳ ම වර්ගයේ බීමකි.



ඒ සමඟ ම ගී ගැයීමක් ද සාලයෙන් ඇරඹිණි. තිලකරත්න සෙමෙන් උඩුමහලට ගමන් කරන්නට විය. අක්කා සිටියා නම් බෙහෙවින් සන්තෝෂ වනවා ඇත. ඇ විශාල සින්දු පොතක සින්දු එකතු කළ බැව් තිලකරත්නට මතක ය. ඔහුට අක්කා පිළිබඳ අප්‍රමාණ දුකක් සිතුණේ ය. ගෙදරට රේඩියෝ ඇසීමට පැමිණි මුදියන්සේගේ පුතා වූ ගුණතිලක සමඟ ඇති කරගෙන තිබූ ආදර හාදකම නතර කරන්න යැ යි තාත්තලා කීව ද ඇය ඇසුවේ ම නැත. පසු ව ඔවුහු හොර රහසේ පැන ගොස් විවාහ වූ හ. ඇයට මරණයකට වත් යළි ගෙදර එන්නට එපා යැ යි තහංචි දමා ඇය මැරුණා යැ යි සිතා දානයක් ද උයා පන්සලට ගෙනිහින් දුන්නේ ය.

උඩුමහලට ආ තිලකරත්න උඩුමහලේ බිමට අලුත දැමූ කුඹුක් ලී මත නතර වුණේ ය. ඒවා සිනිඳුවට මැද පොලිෂ් කර තිබේ. පහළ මාලයේ ගී හඬ උස් ව ඇසේ. කුඹුක් ලීවලට කන තබා බලන්නට තිලකරත්නට සිතුණේ ය. හේ බිමට පහත් වී ඒවාට කන තැබුවේ ය. පහත මාලයේ ගී රාවය යටපත් කරගෙන ඔහුට ඇසෙන්නට වූයේ ඒ සිහින් සුළං සද්ද ය. ඒ අතර ම කිරි ආතාගේ සුළං ගී රාව පවා බොහෝ දුරින් ඇසෙන්නට පටන් ගත්තේ ය.

* * *

ගම්සභා පිට්ටනියේ පැවැත්වෙන සංගීත සන්දර්ශනය බැලීමට මහා ජන ගඟක් පැමිණ සිටියහ. කොළඹින් ආ ජනප්‍රිය ගායක ගායිකාවන් ගී ගයද්දී ඔවුහු නැටූ හ. වේදිකාව ඉදිරියේ 'සිරිනයන මැණික් මහා සංගීත රාත්‍රිය' යනුවෙන් දැවැන්ත පුවරුවකි. පසෙකින් මල්වෙඩි අහසට නැඟී පුපුරා සීසීකඩ විසිරී යයි. මේ ආශ්චර්යවත් නව අත්දැකීමෙන් පළාතේ මිනිස්සු පුදුම වී හිඳිති. තිලකරත්න සෙනග අතරේ ඇවිද්දේ ය. නව රජයේ මන්ත්‍රීවරුන් සමඟ නන්දෝරිස්, සිරිනයන සහ අම්මලා ඉදිරි පෙළ තැබූ පුටුවල ඉඳගෙන සිටිති. 'මැණික්වලට ඉහළ ම විශ්වාසවන්ත ම මිලක් ලබා දෙන්නේ සිරිනයන මැණික්' බව නිවේදකයා කන්අඩි පැළෙන හඬින් නිතර නිතර පවසයි.

රට කජු වෙළෙන්දෝ, සරුවත් වෙළෙන්දෝ, බැලුම් බෝල වෙළෙන්දෝ, නළා වෙළෙන්දෝ සෙනග අතර පිරී හිඳිති. වේග රිද්ම ගායකයන් ගී ගයද්දී සෙනග පිස්සුවෙන් මෙන් නටති. ඔවුන්ගේ බෙල් බොටම් කලිසම්වල යට පෙදෙස දූවිලි මඩෙන් පිරී ඇත. තවත් තැනක නටන පුද්ගලයෙකු දැක තිලකරත්නගේ සිතේ උපන්නේ පුදුමයකි. ඒ මැණික් හොරකමට තාත්තලාගෙන් දඬුවම් විඳි තරුණයා ය! කකුල කැඩුණු ඔහු කිහිලිකරු වාරුවෙන් නටයි.

මෙයට පෙර පළාතේ මිනිසුන් එක් වී නැරඹූ කලල්ඇල්ලේ ගුණවර්ධනලාගේ කවි මඩුවලට වඩා මේ අත්දැකීම බෙහෙවින් ම වෙනස් ය. මිනිසුන් ඒ වෙනසින් කුල්මත් වී හිඳිනු පෙනේ. පිට්ටනිය යාබද අඳුරු අහුමුලුවල තාවකාලික පෙම් පලහිලව් ය.

මේ මහා වෙනස දකිමින් තිලකරත්න සෙනග අතර ගමන් කරද්දී දුටු දෙයකින් වහා නතර වුණේ ය. ඒ රටකජු විකුණන සිය අක්කා ය. ළමයි තිදෙනෙක් නිදි කිරමින් ඒ අසල සිටිති. රටකජු ලැල්ලේ ලාම්පුවක් පත්තු වෙයි. ඔහු අක්කාට නොපෙනෙන්නට සෙනග අතරින් ඒ දෙස බලා සිටියේ ය. අක්කා ඇදී ගොස් ය. ළමයි ද ඉතා කෙට්ටු ය. පුංචි ම එකෙක් ඇයගේ තනයේ එල්ලී කිරි බොමින් හිඳී. මොහොතකින් එතැනට ආ ගුණතිලක අක්කා ළඟ තිබූ ඉටි කවරයෙන් බලෙන් වාගේ මුදල් නෝට්ටුවක් ගෙන සෙනග අතරට යයි. ඈ අසරණ ව ඒ දෙස බලා හිඳිනු පෙනේ. අයියා ඉන්නේ බීමතින් බව තිලකරත්නට හැඟී ගියේ ය. ඔහු අක්කා සමඟ කතා කළේ නැත.

තිලකරත්නට මහා හිස් බවක් දැනිණි. ඔහු පිට්ටනිය කෙළවර වූ මාර ගසක් මුලට ගොස් ඉඳගත්තේ ය.

* * *

හතර වටින් එළිය වැටී තිබේ. සන්දර්ශනය නිමා වී ඇත. පිට්ටනියේ තැන්-තැන්වල හිස් කජුගොටු, කඩදාසි, සිලි කවර පිරී ඇත. බීමත් පුද්ගලයෙක් නින්දෙන් අවදි වී වැනිවැනී පිට්ටනිය හරහා ගමන් ගනී. යාබද ගස් යට කාන්තා යට ඇඳුම් ය. හිස් අරක්කු බෝතල් ද තැන් තැන්වල තිබේ. දුගී ගැහැනු සහ ළමයි පිරිසක් බිම වැටී ඇති වටිනා දේවල් සොයති. ඒ ළමයි බිම වැටුණු රටකජු ඇට වැනි දේ හමු වීමෙන් අප්‍රමාණ ප්‍රීතියට පත් වනු පෙනෙයි.



තිලකරත්න සෙමෙන් සෙමෙන් කල්පනා කරමින් නගරය දෙසට ගමන් කළේ ය. නගරයේ තැන්-තැන්වල රැස් වූ සුළු මැණික් වෙළෙන්දන්ගේ කතා-බහ පෙර දා රාත්‍රී තමන් අත්විඳි ඒ අපූරු අත්දැකීම පිළිබඳ ව ය. තිලකරත්න අසල වූ ටැප්-එකකින් මුහුණ සෝදාගෙන වතුර ටිකක් බිව්වේ ය. රක්වාන ගඟේ පතල් හේතුවෙන් වතුර ද බොර පැහැයක් ගෙන තිබේ. ඔහු අසල වේරහැර හන්දියේ වූ ලයනල්ගේ කඩෙන්, වැඩි කහට තේකක් බොන්නට වූ අතර, එහි වූ කහට රසය ඉස්සර කිරි ආතා කෝප්පයේ ඉතිරි කර තමාට බොන්නට දුන් කහට රසය සිහි කළේ ය.

කඩේ උන් පුද්ගලයෙක් 'දවස' පත්තරය කියවනු පෙනේ. එහි මුල් පිටුවේ ලොකු අකුරෙන් 'හාල් සලාක පොත් අහිමි වීම 29 දා සිට යි' යනුවෙන් සටහන් වී ඇති බව පෙනේ. තිලකරත්නට යළි සිහි වූයේ සෙනෙහෙලතා ය. ඇය බඩු ගෙන ඒමට සමූපකාරයට ගිය කිහිප විටක ම තිලකරත්නට හමු වී තිබුණේ ය. ගමේ අනෙක් කෙල්ලන් මෙන් ඇය ලජ්ජාවට මුළු ගැන්වී සිටියේ නැත. සමූපකාරයෙන් ගත් සහල් කවරය හිස මත තබාගෙන ටවුම හරහා කඩිසරව ගමන් කළා ය.

නගර කෙළවර තැනක රතු කමිස ඇඳගත් තරුණයන් දෙතුන් දෙනෙකු පාරේ යන අයට අතෙහි වූ කැට දිගු කරනු පෙනේ. තිලකරත්න සාක්කුවට අත දමා බැලුවේ ය. රුපියල් පහේ නෝට්ටුවක් එහි විය. ඔහු එය අතට ගෙන කල්පනා කළේ ය. එය හතරට නමා තරුණයෙකු අත වූ කැටයකට ඔබන කල තරුණයා පුදුම වී ඒ නෝට්ටුව දෙස බැලුවේ ය. යෑමට හැරුණු තිලකරත්න තරුණයාගේ කටහඬින් නතර විය.

"කැමති නම් මෙන්න මේකේ නමයි, ලිපිනයයි ලියනව ද?"

ඔහු කුඩා පොතක් සහ පෑනක් තිලකරත්නට දිගු කළේ ය. තිලකරත්න එය අතට ගත්තේ ය.

## 22

තවත් එකමත් එක දිනයක අන් දිනවල මෙන් ම හිරු බැස යමින් තිබුණේ ය. සුළඟ ද වැඩි කලබලයකින් තොර ව ඒ අවට සැරි සරමින් තිබිණි. එදින සිදු වූ ඉතා මත් ම වැදගත් ම දේ වන්නේ ලිපිනයක් ලියූ පුංචි කොළ කැබැල්ලක් සහ ඉතා අල්ප වූ අඩුම-කුඩුම සහිත උර දෙකක් අතින් ගත් දෙදෙනෙකු ඒ මහා කඳු පන්තීන් මතින් අලුත කැපුණු මාර්ගය ඔස්සේ ගමන් කිරීම ය.

මෙයට දින තුනකට පෙර උදේ තිලකරත්න අමුණු වළේ දියනාමින් සිටිය දී ඔහු හමු වීමට ආ තරුණයා බොහෝ වේලා ඔහුත් සමඟ විස්තර කතා කළේ ය.

''සහෝදරය කැමති නම් අපේ පුංචි ගොවිපළක් තියනව කොළොන්නෙ. ඒක බලාගෙන ඉන්න පුළුවන් දෙන්නට ම.''

උපාලි පොල්ගම්පොළ නම් වූ ඒ තරුණයා එසේ කියද්දී තිලකරත්න ඊට කැමැති වුණේ ය. ඔහු ආපසු ගියේ තමාගේ ලිපිනය ලියූ පුංචි කොළ කැබැල්ලක් තිලකරත්නගේ අත තබමිනි. ඒ අනුව තිලකරත්න සහ සෙනෙහෙලතා පල්ලෙබැද්දේ සිට කොළොන්න පාරේ කුඹුරුගමුව දක්වා සෙනග අදින ලොරියක නැගවිත්, එතැන් සිට පයින් ගමන් කරන්නට වූ හ. තිලකරත්න අත වූ සිමෙන්ති කවරයේ අල්ප වූ අඩුම කුඩුම අතර තිබුණු ඒ වටිනා වස්තුව-බොල් පිස දා ඉතිරි කරගත් වී අහුර-තරුණයා කී ගොවිපළේ සිටුවීම ඔහුගේ බලාපොරොත්තුව යි.

යුවතිය ඇයගේ රෙදි සහිත උරය තුරුලු කරගෙන ගමන් කරයි. අවිනිශ්චිත බවක් ඇයගේ මුහුණේ නැත. නව බිමක රෝපණය වීමට පෙරුම් පුරන දියෙහි ලූ වී අහුරක් මෙන් ඈ සතුටෙන් පසු වේ.

''මේ දවස් ටිකේ ම රෑ කවුදෝ ගේ ළඟ සද්ද කරනව ඇහුණා. පතල් වැඩ කරන කොල්ලො තමයි ඔය. මං කැත්ත ළඟ තියාගෙන නිදි වාගෙ එළිවෙන කං හිටියා. උදේ බලන කොට මිදුලෙ, දොර ළඟ හෙම බීඩි කොට තිබුණා. තිලකරත්න නොහිටිය නම් මට කවද හරි වෙන්නෙ උංගෙ අතිං අතට යන්න තමයි, අර රාණි අක්කට වාගේ..''



ඇය එසේ කියාගෙන යන්නේ පසුතැවීමකින් නො වේ; ජීවිතය පිළිබඳ අප්‍රමාණ සන්තෝෂයකින් ය. තමා නිසා මේ යුවතිය ආරක්ෂා වනවා යි දැනුණු කල තම සිත සියුම් ආඩම්බරයකින් වෙළී යනු තිලකරත්නට දැනෙයි.

මඟ දෙපස විහිදි කුඹුරු යායවල ද තැන-තැන පතල් කැපෙන අයුරු පෙනේ. ඒ පතල් වාඩිවලින් නැඟෙන දුම් කැරලි ඉහළ නැඟී අහසේ දී ලිහී විසිරී යයි.

අහස් ඉමේ ගෑවෙන කඳු පන්තීන් අතර දුර ම ඒවා ආතලාගේ නිලෙන් ද ළඟ ම ඒවා තාත්තලාගේ අයියලාගේ කොළෙන් ද ඈත දුර බැස යන හිරුට අයත් පෙදෙස පොල්ගම්පොළ සහෝදරයන්ගේ රතෙන් ද යුතු ව දිස් වනු පෙනේ.

බුළුතොට, ඉත්තෑ, නෑදොළ, ගොන්ගල කඳු පිසින අලුත් ම සුළං ඒ සැම තැන ම විසිරී තිබේ. තමා සමඟ කඩිසර ව ගමන් ගන්නා යුවතියගේ පරණ චීත්ත ගවුමේ වූ දිය පුස් තිත් මෙන් ම දිරූ තැන් ද දකින කල නාඳුනන ආකල්ප රැසක් විසින් තමා ගැටගසනු ලබන බැව් ඔහුට වැටහේ... දුක්බර සෙනෙහසකින් සිත පිරී යයි.

''වරෙං වරෙං සුළන්නේ

සුළං සුළං වරෙන්නේ

අපිත් එක්ක යන්න වරෙන්නේ...''

තිලකරත්නට නිකමට මෙන් කියවුණේ ය. සෙනෙහෙලතා සිනා සුණා ය.

**නිමි.**

# මාණික් කාවත

මහින්ද ප්‍රසාද් මස්ඉඹුල





"උඹලගේ පඳුරු ගැන්නිල්ල අපට නතර කොරන්න බැරි වග උඹල දන්නවා... විසේසෙන් කෙල්ලේ උඹ බවලතියක්. ආසාවල් ඇති වෙනවා තමයි. ඒ උණාට සිහි කල්පනාවට ගනිං, ගොයම කපන්න කලියෙන් වී පාගන්නෑ. ඉස්සෙල්ලා ම ගොයම හොඳට පැහෙනකල් ඉන්න ඕනි. ඊට පස්සෙං පහු යි පැහුණු ගොයම කපාගන්නේ. ඊට පස්සෙ යි කැපූ ගොයම පාගලා අස්වනු එක්කාසු කොරගන්නේ. ඊට කලියෙං කුඹුරට පැනලා දඟලුවා ම මොකෑ වෙන්නෙ? ආයෙ කැපිල්ලට ගොයමක් ඉතුරු වෙන්නෙ නෑ... මේකා ඉලංදාරියා කොයියම්ම දේ උණත් මේකාට අමුණු වලේ එබිලා අමුඩ ලේන්සුව මිරිකලා ඒකෙන් ඉහ පිහදාගෙන ගෙදර යන්න ඇහැකි. හැබැයි උක්කුං කෙල්ලේ, උඹට ඒක එහෙම කොරන්න බෑ..."

ISBN: 978-955-0980-23-9




මිල රු.350




www.santhawaprakashana.com
facebook - santhawa prakashana